# ව්‍යාපාර හා ගිණුම්කරණ අධ්‍යයනය

## 10 ශ්‍රේණිය

අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව



# ශ්‍රී ලංකා ජාතික ගීය

ශ්‍රී ලංකා මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා
සුන්දර සිරිබරිනී, සුරැඳි අති සෝබමාන ලංකා
ධාන්‍ය ධනය නෙක මල් පලතුරු පිරි ජය භූමිය රම්‍යා
අපහට සැප සිරි සෙත සදනා ජීවනයේ මාතා
පිළිගනු මැන අප භක්ති පූජා
නමෝ නමෝ මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා
ඔබ වේ අප විද්‍යා - ඔබ ම ය අප සත්‍යා
ඔබ වේ අප ශක්ති - අප හද තුළ භක්ති
ඔබ අප ආලෝකේ - අපගේ අනුප්‍රාණේ
ඔබ අප ජීවන වේ - අප මුක්තිය ඔබ වේ
නව ජීවන දෙමිනේ නිතින අප පුබුදු කරන් මාතා
ඥාන වීර්ය වඩවමින රැගෙන යනු මැන ජය භූමි කරා
එක මවකගෙ දරු කැල බැවිනා
යමු යමු වී නොපමා
ප්‍රේම වඩා සැම භේද දුරැර ද නමෝ නමෝ මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා

අපි වෙමු එක මවකගෙ දරුවෝ
එක නිවසෙහි වෙසෙනා
එක පාටැති එක රුධිරය වේ
අප කය තුළ දුවනා

එබැවිනි අපි වෙමු සොයුරු සොයුරියෝ
එක ලෙස එහි වැඩෙනා
ජීවත් වන අප මෙම නිවසේ
සොඳින සිටිය යුතු වේ

සැමට ම මෙත් කරුණා ගුණෙනී
වෙළී සමගි දමිනී
රන් මිණි මුතු නො ව එය ම ය සැපතා
කිසි කල නොම දිරනා

ආනන්ද සමරකෝන්

# පෙරවදන

දියුණුවේ හිණිපෙත කරා ගමන් කරනා වත්මන් ලොවට, නිතැතින්ම අවැසි වනුයේ වඩාත් නව්‍ය වූ අධ්‍යාපන ක්‍රමයකි. එමඟින් නිර්මාණය කළ යුත්තේ මනුගුණදම් සපිරුණු හා කුසලතාවලින් යුක්ත දරු පරපුරකි. එකී උත්තුංග මෙහෙවරට ජව බලය සපයමින්, විශ්වීය අභියෝග සඳහා දිරියෙන් මුහුණ දිය හැකි සිසු පරපුරක් නිර්මාණය කිරීම සඳහා සහාය වීම අපගේ පරම වගකීම වන්නේ ය. ඉගෙනුම් ආධාරක සම්පාදන කාර්යය වෙනුවෙන් සක්‍රීය ලෙස මැදිහත් වෙමින් අප දෙපාර්තමේන්තුව ඒ වෙනුවෙන් දායකත්වය ලබා දෙන්නේ ජාතියේ දරුදැරියන්ගේ නැණ පහන් දල්වාලීමේ උතුම් අදිටනෙනි.

පෙළපොත විටෙක දැනුම් කෝෂ්ඨාගාරයකි. එය තවත් විටෙක අප වින්දනාත්මක ලොවකට ද කැඳවාගෙන යයි. එසේම මේ පෙළපොත් අපගේ තර්ක බුද්ධිය වඩවාලන්නේ අනේකවිධ කුසලතා පුබුදු කරවාගන්නට ද සුවිසල් එළි දහරක් වෙමිනි. විදුබිමෙන් සමුගත් දිනක වුව අපරිමිත ආදරයෙන් ස්මරණය කළ හැකි මතක, පෙළපොත් පිටු අතර දැවටී ඔබ සමඟින් අත්වැල් බැඳ එනු නොඅනුමාන ය. මේ පෙළපොත සමඟම තව තවත් දැනුම් අවකාශ පිරි ඉසව් වෙත නිති පියමනිමින් පරිපූර්ණත්වය අත් කරගැනුමට ඔබ සැම නිරතුරුව ඇප කැප විය යුතු ය.

නිදහස් අධ්‍යාපනයේ මහානර්ඝ ත්‍යාගයක් සේ මේ පුස්තකය ඔබ දෝතට පිරිනැමේ. පෙළපොත් වෙනුවෙන් රජය වැය කර ඇති සුවිසල් ධනස්කන්ධයට අර්ථසම්පන්න අගයක් ලබා දිය හැක්කේ ඔබට පමණි. මෙම පාඨ්‍ය ග්‍රන්ථය මනාව පරිශීලනය කරමින් නැණ ගුණ පිරි පුරවැසියන් වී අනාගත ලොව ඒකාලෝක කරන්නට දැයේ සියලු දූ දරුවන් වෙත දිරිය සවිය ලැබේවායි හදවතින් සුබ පතමි.

පෙළපොත් සම්පාදන කාර්යය වෙනුවෙන් අප්‍රමාණ වූ සම්පත්දායකත්වයක් සැපයූ ලේඛක, සංස්කාරක හා ඇගයුම් මණ්ඩල සාමාජික පිරිවරටත් අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුවේ කාර්ය මණ්ඩලයේ සැමටත් මාගේ හදපිරි ප්‍රණාමය පුද කරමි.

**පී. එන්. අයිලප්පෙරුම**
අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් ජනරාල්
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව
ඉසුරුපාය
බත්තරමුල්ල
2020.06.26

| | |
|---|---|
| **නියාමනය හා අධීක්ෂණය** | පී. එන්. අයිලප්පෙරුම<br>අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් ජනරාල්<br>අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව. |
| **මෙහෙයවීම** | ඩබ්ලිව්. ඒ. නිර්මලා පියසීලි<br>අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් (සංවර්ධන)<br>අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව. |
| **සම්බන්ධීකරණය** | යූ. ඒ. නාලිනී සෙනෙවිරත්න<br>සහකාර කොමසාරිස්<br>අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව. |
| | එල්. කේ. එස්. ඩී. පීරිස්<br>සහකාර කොමසාරිස්<br>අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව. (2020) |

**ලේඛක මණ්ඩලය**

| | |
|---|---|
| ආර්. පී. ගුණපාල | ගුරු උපදේශක<br>කලාප අධ්‍යාපන කාර්යාලය, තංගල්ල. |
| ඩබ්. ඒ. දයාරත්න | ගුරු උපදේශක<br>කලාප අධ්‍යාපන කාර්යාලය, තංගල්ල. |
| ඒ. නිලන්ත | ගුරු වෘත්තිය<br>ශාන්ත ජෝසප් විද්‍යාලය, කොළඹ 10. |
| ජෙසිකා විජයවික්‍රම | අධ්‍යාපන අධ්‍යක්ෂිකා (විශ්‍රාමික)<br>කලාප අධ්‍යාපන කාර්යාලය, හලාවත. |
| කේ. එල්. යූ. ඩී. පෙරේරා | කථිකාචාර්ය<br>ශ්‍රී ජයවර්ධනපුර විශ්වවිද්‍යාලය. |
| එම්. වයි. එම්. අරූස් | ගුරු වෘත්තිය<br>ජෙයලානි ජාතික පාසල, බලංගොඩ. |
| එච්. එම්. ටී. ජී. සී. සඳරුවන් | කථිකාචාර්ය<br>ශ්‍රී ජයවර්ධනපුර විශ්වවිද්‍යාලය. |
| එම්. එච්. එම්. බුහාරි | ගුරු උපදේශක<br>කලාප අධ්‍යාපන කාර්යාලය. |

| | |
|---|---|
| එස්. බාලසුබ්‍රමනියම් | කළමනාකරු<br>ගුරු මධ්‍යස්ථානය, හාලිඇල. |
| ජ්. නන්දකුමාර් | ගුරු වෘත්තිය<br>රාමනාදන් බාලිකා විද්‍යාලය. |

**සංස්කාරක මණ්ඩලය**

| | |
|---|---|
| බී. වයි. ජී. රත්නසේකර | ජ්‍යෙෂ්ඨ කථිකාචාර්ය<br>ශ්‍රී ජයවර්ධනපුර විශ්වවිද්‍යාලය. |
| සුදත් මංජුල අමරසේන | ජ්‍යෙෂ්ඨ කථිකාචාර්ය<br>ශ්‍රී ජයවර්ධනපුර විශ්වවිද්‍යාලය. |
| යූ. ඒ. නාලිනී සෙනෙවිරත්න | සහකාර කොමසාරිස්<br>අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව. |
| පී. එච්. කුසුමාවතී | ජ්‍යෙෂ්ඨ කථිකාචාර්ය<br>ජාතික අධ්‍යාපන ආයතනය. |

**අවසාන සංස්කරණය සහ ඇගයීම**

| | |
|---|---|
| ආචාර්ය ඒ. ආර්. අජ්වර්ඩ් | ජ්‍යෙෂ්ඨ කථිකාචාර්ය<br>ශ්‍රී ජයවර්ධනපුර විශ්වවිද්‍යාලය. |

**සෝදුපත් කියවීම**

| | |
|---|---|
| ජී. ජී. එස්. සංජීව | ගුරු වෘත්තිය<br>ඩී. එස්. සේනානායක විද්‍යාලය. |

**භාෂා සංස්කරණය**

| | |
|---|---|
| කේ. ජී. කේ. ෆෙඩ්රික්ස් | ජ්‍යෙෂ්ඨ කථිකාචාර්ය<br>කොළඹ විශ්වවිද්‍යාලය. |

**පරිගණක සහාය**

| | |
|---|---|
| ඒ. වී. අයේෂා දිල්රුක්ෂි | අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව. |

# පටුන

# 1 ව්‍යාපාර පසුබිම




මෙම පරිච්ඡේදය මගින් පහත දැක්වෙන කරුණු පිළිබඳ සාකච්ඡා කෙරේ.

1.1 ව්‍යාපාර පිළිබඳ මූලික පදනම

- ව්‍යාපාර සංකල්පය
- ව්‍යාපාර අරමුණු හා පරමාර්ථ
- පාරිභෝගික අවශ්‍යතා හා වුවමනා
- නිෂ්පාදන ව්‍යාපාර
- නිෂ්පාදන සාධක

1.2 ව්‍යාපාර කෙරෙහි ඇල්මැති පාර්ශ්ව

- ඇල්මැති පාර්ශ්ව
- ඇල්මැති පාර්ශ්වවල අරමුණු

## 1.1 ව්‍යාපාර පිළිබඳ මූලික පදනම

මිනිසාගේ පැවැත්ම සමාජයීය වශයෙන් දියුණු වන විට ඔහුගේ අවශ්‍යතා හා වුවමනා කෙමෙන් පුළුල් විය. එවිට ඔවුන්ට අවශ්‍ය සියලු ම දෑ තනි ව නිෂ්පාදනය කර ගැනීම අපහසු කාර්යයක් බවට පත් විය. මෙම ගැටලුවට විසඳුමක් ලෙස විවිධ පුද්ගලයෝ තමන්ගේ දක්ෂතාව සහ තමන් සතු සම්පත් උපයෝගී කරගෙන තමන්ට වඩාත් හොඳින් නිපදවිය හැකි භාණ්ඩ පමණක් විශාල ප්‍රමාණයෙන් නිෂ්පාදනය කළහ. එම නිසා භාණ්ඩ අතිරික්තයක් බිහි විය. පසු ව මෙම භාණ්ඩ අතිරික්තය අනෙකුත් පුද්ගලයන් සමග හුවමාරු කර ගනිමින් ඔවුන්ට අවශ්‍ය අනෙකුත් භාණ්ඩ ලබා ගත්හ. මෙය භාණ්ඩ හුවමාරු ක්‍රමය හෙවත් බාටර් ක්‍රමය (Bartar system)ලෙස හැඳින්වෙයි.

වර්තමානයේ දී ද කිසිවෙක් තමාට අවශ්‍ය සියලු ම දෑ නිෂ්පාදනය කර නොගනී. ගොවියා සහල් නිපදවයි, වඩුවා ලී බඩු සාදයි, ගුරුවරයා උගන්වයි. මොවුහු වරෙක නිෂ්පාදකයෝ මෙන් ම තවත් වරෙක පාරිභෝගිකයෝ ද වෙති. එවැනි නිෂ්පාදකයෝ ද, පාරිභෝගිකයෝ ද තම භාණ්ඩ හා සේවා විකිණීමේ හා ලබා ගැනීමේ අවශ්‍යතා ව්‍යාපාර තුළින් ඉටු කර ගනිති. එම නිසා ව්‍යාපාර සඳහා වර්තමාන සමාජයේ සුවිශේෂී වැදගත්කමක් හිමි වී ඇත.

## ව්‍යාපාර සංකල්පය

උපතේ සිට මරණය දක්වා මිනිසාට නොයෙකුත් භාණ්ඩ හා සේවා අවශ්‍ය වේ. මෙම අවශ්‍යතා හා වුවමනා සපුරාලනු ලබන්නේ ව්‍යාපාර විසිනි. ව්‍යාපාරිකයෝ අවශ්‍යතා හා වුවමනාවලට සරිලන විවිධ භාණ්ඩ හා සේවා නිෂ්පාදනය කර බෙදා හරිති. වර්තමානයේ ව්‍යාපාර විසින් භාණ්ඩ හා සේවා නිෂ්පාදනය කර බෙදා හරින ආකාරයත්, මිනිසා විසින් සිය අවශ්‍යතා හා වුවමනා සපුරා ගන්නා ආකාරයත් විවිධ හා සංකීර්ණ වී ඇත.

ව්‍යාපාරයක් යනු මිනිස් අවශ්‍යතා සපුරාලීමට අවශ්‍ය විවිධ වූ භාණ්ඩ හා සේවා නිෂ්පාදනය කිරීම හෝ සැපයීම ආශ්‍රිත ආර්ථික කටයුත්තකි. බොහෝ ව්‍යාපාර කටයුතු කරන්නේ ලාභ ඉපැයීමේ අපේක්ෂාවෙන් වුව ද ඇතැම් ව්‍යාපාර ලාභ ඉපැයීමේ අපේක්ෂාවෙන් තොර ව ද කටයුතු කරයි. විශේෂයෙන් රාජ්‍ය අංශයේ බොහෝ ව්‍යාපාර කටයුතු කරන්නේ සමාජ සුභසාධන අපේක්ෂාවෙන් මිස ලාභ ඉපැයීමේ අරමුණින් ම නොවේ. පෞද්ගලික අංශයේ බොහෝ ව්‍යාපාර ලාභ අපේක්ෂාවෙන් කටයුතු කළ ද ඇතැම් පෞද්ගලික අංශයේ ව්‍යාපාර ද සමාජ සුභසාධන අරමුණින් කටයුතු කරනු දැකිය හැකි ය.

අතීතයේ අත්හුරු ක්‍රමයට පවත්වාගෙන ගෙන ගිය නිෂ්පාදන කටයුතු අද බොහොමයක් සිදු වන්නේ නව තාක්ෂණය උපයෝගී කරගෙන ය. බොහෝ ව්‍යාපාර ගනුදෙනු සිදු කරනුයේ විද්‍යුත් මාධ්‍ය හරහා ය. එම නිසා වර්තමානයේ දී භාණ්ඩ ඇණවුම් කිරීම, මුදල් ගෙවීම, ප්‍රචාරණය ආදී ඕනෑ ම ව්‍යාපාරික කටයුත්තක් විද්‍යුත් මාධ්‍ය හරහා ඉක්මනින් හා පහසුවෙන් ඉටුකර ගැනීමට හැකි වී තිබේ. මේ අනුව තොරතුරු හා සන්නිවේදන තාක්ෂණයේ වේගවත් වර්ධනය තුළින් ඇති වූ විද්‍යුත් මාධ්‍ය මගින් අද මුළු ලෝකය ම විශ්ව ගම්මානයක් බවට පත් වී ඇත. සෑම රටක ම ජීවත් වන පුද්ගලයන් තමන්ගේ අවශ්‍යතා හා වුවමනා ඉටුකර ගැනීමේ දී විවිධ රටවල නිපදවන භාණ්ඩ හා සේවා මිල දී ගැනීම අද බහුල ව සිදුවේ. ඔබේ දෛනික ජීවිතය කොතරම් දුරට ගෝලීය වෙළෙඳපළ හා සම්බන්ධ වී ඇති දැයි පහත දැක්වෙන ක්‍රියාකාරකම තුළින් අවබෝධ කරගත හැකි ය.

**ක්‍රියාකාරකම 01**

ඔබ දිනකට පරිභෝජනය කරන විවිධ භාණ්ඩ කිහිපයක් නම් කොට එම භාණ්ඩවල නිෂ්පාදිත රට ඒ ඒ භාණ්ඩ ඉදිරියෙන් සඳහන් කරන්න.

## ව්‍යාපාර අරමුණු

පාරිභෝගිකයෙකු ලෙස ඔබේ අරමුණ වනුයේ තත්ත්වයෙන් උසස් නිෂ්පාදිතයක් සාධාරණ මිලකට ලබා ගැනීම වේ. පාරිභෝගිකයාට මෙන් ම ව්‍යාපාරවලට සම්බන්ධ විවිධ පාර්ශ්වවලට ද ඔවුනොවුන්ට සුවිශේෂී වූ විවිධ අරමුණු පවතී. සෑම ව්‍යාපාරයක් ම කටයුතු කරන්නේ යම් සුවිශේෂී අරමුණක් හෝ අරමුණු කිහිපයක් ඉටු කරගැනීමේ අපේක්ෂාවෙනි. එයට හේතුව වනුයේ ව්‍යාපාරයක අයිතිකරුවන් මෙන් ම ඊට සම්බන්ධ කළමනාකරුවන්, සේවකයන්, ගනුදෙනුකරුවන්, රජය, ප්‍රජාව ආදී පාර්ශ්ව විවිධ ප්‍රතිලාභ ව්‍යාපාරයකින් බලාපොරොත්තු වීම ය.



රූපය 1.1

**ලාභ අපේක්ෂිත ව්‍යාපාරවල පොදුවේ දැකිය හැකි ව්‍යාපාර අරමුණු කිහිපයක් පහත දැක්වේ.**

01. ලාභ ඉපැයීම

ව්‍යාපාරයකට ලාභ ඉපයීම වැදගත් වනුයේ එහි අයිතිකරුවන් යෙදවූ මුදලට සරිලන ප්‍රතිලාභයක් ලබා දීම අවශ්‍ය වන නිසා ය.

02. පාරිභෝගික තෘප්තිය ඉහළ නැංවීම

ව්‍යාපාරයක රඳා පැවැත්ම තීරණය වනුයේ ව්‍යාපාරයක් විසින් පාරිභෝගික අවශ්‍යතා හා වුවමනා කොතරම් සාර්ථක ව සපුරාලන්නේ ද යන කරුණ මත ය.

මෙම අරමුණු ඉටු කර ගැනීමේ දී ව්‍යාපාරයකට විවිධ ඉලක්කයන් එසේත් නැත්නම් උප අරමුණු අවශ්‍ය වේ. එවැනි ඉලක්කයන් කිහිපයක් අප මෙහි දී සාකච්ඡා කරමු.

(i) භාණ්ඩ හා සේවාවල ගුණත්වය ඉහළ නැංවීම

ව්‍යාපාරයක් පාරිභෝගික අවශ්‍යතා හා වුවමනා නිසි පරිදි සපුරාලීමට මෙන් ම සාධාරණ මිලකට ගුණාත්මක භාණ්ඩ හා සේවා ලබා දීමට කටයුතු කරයි.

(ii) රැකියා උත්පාදනය

කම්කරුවාගේ සිට ඉහළ කළමනාකරුවන් දක්වා විවිධ රැකියා අවස්ථා ව්‍යාපාර විසින් බිහි කෙරෙයි. පුද්ගලයන් සතු විවිධ වූ දක්ෂතා තුළින් ප්‍රයෝජන ගැනීමට මෙම රැකියා අවස්ථා වැදගත් වේ.

(iii) සේවක සුභසාධනය

තම සේවකයන් තෘප්තිමත් කිරීම සඳහා වැටුපට අමතර ව ඔවුන් වෙනුවෙන් විවිධ සුභසාධන කටයුතු කිරීම ද බොහෝ ව්‍යාපාරවල අරමුණකි. ආහාර පාන, නවාතැන් පහසුකම්, ප්‍රවාහන පහසුකම් හා වෛද්‍ය පහසුකම් ආදිය ව්‍යාපාරයක් විසින් සේවක සුභසාධනය වෙනුවෙන් ලබාදෙන විවිධ පහසුකම් අතර වේ.

## පාරිභෝගික අවශ්‍යතා හා වුවමනා

### අවශ්‍යතා

ජීවත් වීම සඳහා මිනිසා විසින් අනිවාර්යෙන් ම සපුරා ගතයුතු දෑ මිනිස් අවශ්‍යතා ලෙස හඳුන්වයි. ආහාර, ඇඳුම් සහ නිවාස මූලික මිනිස් අවශ්‍යතා ලෙස පිළිගන්නා අතර සමාජය සංකීර්ණවත් ම අධ්‍යාපනය, සෞඛ්‍යය, ආරක්ෂාව, ප්‍රවාහනය, සන්නිවේදනය, විනෝදය වැනි දෑ ද මිනිස් අවශ්‍යතා ලෙස පිළිගෙන තිබේ. මෙවැනි මිනිස් අවශ්‍යතාවල පහත සඳහන් ලක්ෂණ දැකිය හැකි වේ.



රූපය 1.2

### අවශ්‍යතාවල ලක්ෂණ

- අත්‍යවශ්‍ය වීම - ජීවත් වීම සඳහා අවශ්‍යතා සපුරා ගැනීම අත්‍යවශ්‍ය වේ.
- පොදු වීම - සෑම පුද්ගලයෙකුගේ ම අවශ්‍යතා සමාන වේ. ඒවා කාටත් පොදු ය.
- නිර්මාණය කළ නොහැකි වීම - අවශ්‍යතා නිසගයෙන් බිහි වේ. එබැවින් ව්‍යාපාරිකයන්ට නිර්මාණය කළ නොහැකි ය.
- සීමිත වීම - අවශ්‍යතා සංඛ්‍යාත්මක ව ඉතා අඩු ප්‍රමාණයක් පවතී.

### වුවමනා

මිනිස් අවශ්‍යතා සපුරාගන්නා විවිධ ආකාර වුවමනා ලෙස හැඳින්වේ. එකම අවශ්‍යතාව සපුරාගත හැකි විවිධ ආකාර තිබේ.

**නිදසුන් :-**

| අවශ්‍යතාව | | වුවමනා |
|---|---|---|
| ආහාර | - | ඉඳි ආප්ප, අයිස් ක්‍රීම්, කේක් |
| ඇඳුම් | - | සාරිය, නිල ඇඳුම්, පාවහන් |

මිනිස් අවශ්‍යතා හා වුවමනා සපුරාලීම සඳහා විවිධ භාණ්ඩ හා සේවා ව්‍යාපාරිකයන් විසින් නිෂ්පාදනය කර පාරිභෝගිකයන් වෙත ඉදිරිපත් කෙරෙයි. මෙම වුවමනාවල පහත සඳහන් ලක්ෂණ දැකිය හැකි ය.

## වුවමනාවල ලක්ෂණ

- අත්‍යවශ්‍ය නොවීම

  ජීවත් වීම සඳහා යම් වුවමනාවක් සපුරා ගැනීම අනිවාර්ය නොවේ. ඒ හා සමාන වෙනත් වුවමනාවකින් ද එම අවශ්‍යතාව සපුරා ගත හැකි ය.
- විවිධ වීම

  අවශ්‍යතා සෑම පුද්ගලයෙකුට ම පොදු වුව ද ඒවා සපුරා ගන්නා ආකාර ඔවුන්ගේ ආර්ථික හා සමාජයීය තත්ත්ව අනුව වෙනස් වේ.
- නිර්මාණය කළ හැකි වීම

  වුවමනා ව්‍යාපාරිකයන්ට නිර්මාණය කළ හැකි ය.
- සංකීර්ණ වීම

  වුවමනා අසීමිත නිසාත් විවිධ වන නිසාත් වුවමනා සපුරා ගන්නා ආකාරය සංකීර්ණ වේ.
- අසීමිත වීම

  එක් අවශ්‍යතාවක් සපුරා ගැනීම සඳහා විවිධ ආකාරයේ වුවමනා භාවිත කළ හැකි වීම

### ක්‍රියාකරකම 02

01. ඔබ පහත දැක්වෙන අවශ්‍යතා සපුරා ගන්නා විවිධ ආකාර සටහන් කරන්න.

| අවශ්‍යතාව | වුවමනා |
|---|---|
| ආහාර | |
| ඇඳුම් පැළඳුම් | |
| වාසස්ථාන | |
| අධ්‍යාපනය | |
| සෞඛ්‍යය | |
| ආරක්ෂාව | |
| ප්‍රවාහනය | |
| සන්නිවේදනය | |
| විනෝදය | |

**ක්‍රියාකාරකම 03**

අවශ්‍යතා හා වුවමනා අතර වෙනස්කම් 04ක් ලියන්න.

**ක්‍රියාකාරකම 04**

මිනිස් අවශ්‍යතා ඉටුකර ගැනීම සඳහා යොදු ගන්නා විවිධ භාණ්ඩ හා සේවා වර්තමාන ව්‍යාපාරිකයන් විසින් නිර්මාණශීලී ව වෙළෙඳපළට ඉදිරිපත් කෙරෙයි. ඒ අනුව අතීතයේ දී හා වර්තමානයේ දී මිනිස් අවශ්‍යතා ඉටුකර ගැනීමේ දී විවිධ භාණ්ඩ හා සේවා යොදු ගැනීම පිළිබඳ ව සැසඳීමක් කරන්න.

## නිෂ්පාදන ව්‍යාපාර

නිෂ්පාදනය කරනු ලබන නිෂ්පාදිතවල ස්වභාවය අනුව ව්‍යාපාර පහත සඳහන් ලෙස වර්ග කර දැක්විය හැකි ය.

- භාණ්ඩ නිෂ්පාදන ව්‍යාපාර
- සේවා සැපයීමේ ව්‍යාපාර

### භාණ්ඩ නිෂ්පාදන ව්‍යාපාර

මිනිස් අවශ්‍යතා හා වුවමනා සපුරාලීම සඳහා යොදගන්නා ස්පර්ශ කළ හැකි සහ භෞතික පැවැත්මක් ඇති දෑ භාණ්ඩ ලෙස හඳුන්වනු ලබන අතර එම භාණ්ඩ නිෂ්පාදනය කරන ආයතන භාණ්ඩ නිෂ්පාදන ව්‍යාපාර වේ. එකම අවශ්‍යතාව සපුරා ගැනීම සඳහා වුව ද යොදු ගත හැකි විවිධ භාණ්ඩ නිෂ්පාදන ව්‍යාපාර වෙළෙඳපළට ඉදිරිපත් කරයි. පාරිභෝගිකයන්ගේ රුචිකත්වය, ආදායම් මට්ටම, සමාජ තත්ත්වය ආදී කරුණු සලකා බලා ව්‍යාපාර විවිධ භාණ්ඩ වෙළෙඳපළට ඉදිරිපත් කරමින් මිනිසාගේ ජීවන රටාව පහසු කරවා ගැනීමට දයක වේ. ව්‍යාපාර විසින් නිපදවෙන විවිධ භාණ්ඩවලට නිදසුන් කිහිපයක් පහත දැක්වේ.



රූපය 1.3

**නිදසුන් :-**

සකස් කළ ආහාර පාන, මෝටර් රථ, විදුලි උඳුන්, ජංගම දුරකථන, රෙදි සෝදන යන්ත්‍ර, ගෘහ භාණ්ඩ

### ක්‍රියාකාරකම 05

ඔබේ නිවසේ එදිනෙදා පරිභෝජනයට ගන්නා භාණ්ඩ රාශියක් ඇත. මේවායින් ඔබ ප්‍රදේශයේ නිපදවන භාණ්ඩ මොනවා ද යන්න නම් කරන්න.

### ක්‍රියාකාරකම 06

එකම අවශ්‍යතාව සඳහා විවිධ සන්නාම නාමවලින් යුත් භාණ්ඩ වෙළෙඳපළට ඉදිරිපත් කරනු දැකිය හැකි ය. පහත එක් එක් භාණ්ඩ වර්ගය සඳහා ඔබ නිවසේ පරිභෝජනය කරනුයේ කුමන සන්නාම නාමයකින් හැඳින්වෙන භාණ්ඩ දැයි දක්වා ඒවා තෝරා ගැනීමට හේතු වූ කරුණු ඉදිරියෙන් සඳහන් කරන්න. එම පිළිතුරු ඔබේ මිතුරාගේ පිළිතුරු සමග සසඳන්න.

| භාණ්ඩ වර්ගය | සන්නාම නාමය | තෝරා ගැනීමට හේතු |
|---|---|---|
| සබන් | | |
| දත් බෙහෙත් | | |
| චොක්ලට් | | |
| අභ්‍යාස පොත් | | |
| පෑන් | | |

## සේවා සැපයීමේ ව්‍යාපාර

ව්‍යාපාරයක් විසින් පාරිභෝගික අවශ්‍යතා හා වුවමනා සපුරාලීම සඳහා පාරිභෝගිකයන් වෙත ලබා දෙන ක්‍රියාවක් හෝ ක්‍රියාවලියක් සේවා ලෙස හැඳින්විය හැකි ය. මෙම කාර්ය ඉටුකරනු ලබන ආයතන සේවා නිෂ්පාදන ව්‍යාපාර නම් වේ.

**නිදසුන් :-**

තොග වෙළෙඳ ආයතන
සිල්ලර වෙළෙඳ ආයතන
රක්ෂණ ආයතන
බැංකු ආයතන
රූපලාවණ්‍ය ආයතන
අධ්‍යාපන ආයතන




රූපය 1.4

**ක්‍රියාකාරකම 07**

ඔබේ නිවසේ කටයුතු පහසුකර ගැනීම සඳහා විවිධ වූ සේවා ලබාගත යුතු වේ. ඔබ ප්‍රදේශයේ පවතින සේවා නිෂ්පාදන ව්‍යාපාර විසින් සැපයෙන සේවා මොනවා ද යන්න සඳහන් කරන්න.

## නිෂ්පාදන සාධක

භාණ්ඩ හා සේවා නිෂ්පාදනය කිරීම සඳහා ව්‍යාපාරවලට විවිධ සම්පත් අවශ්‍ය වේ. මෙසේ අවශ්‍ය වන සම්පත් නිෂ්පාදන සාධක ලෙස හැඳින්වෙයි. නිෂ්පාදන සාධක මූලික වශයෙන් **භූමිය, ශ්‍රමය, ප්‍රාග්ධනය හා ව්‍යවසාය ලෙස වර්ග කර දැක්විය හැකි ය.**

### භූමිය

ස්වභාව ධර්මයෙන් ලැබී ඇති සියලු සම්පත් භූමිය යනුවෙන් හැඳින්වේ. මෙයට භූමිය මතුපිට මෙන් ම අභ්‍යන්තරයේ පවත්නා සම්පත් ද අයත් වේ.

**නිදසුන් ඃ-**

ඛනිජ සම්පත්, වන සම්පත්, පස

### ශ්‍රමය

ව්‍යාපාරය සඳහා යෙදවෙන කායික හා මානසික දායකත්වය ශ්‍රමය ලෙස සරල ව හැඳින්විය හැකි ය.

**නිදසුන් ඃ-**

කය වෙහෙසා වැඩ කරන පුද්ගලයෝ - පතල් සේවකයෝ<br>සනීපාරක්ෂක කම්කරුවෝ

මනස වෙහෙසා වැඩ කරන පුද්ගලයෝ - ගණකාධිකාරීවරු<br>කළමනාකරුවෝ

### ප්‍රාග්ධනය

නිෂ්පාදනයේ දී ආධාර කරගන්නා මිනිසා විසින් සකස් කරන ලද දෑ ප්‍රාග්ධනය ලෙස හැඳින්විය හැකි ය.

**නිදසුන් ඃ-**

යන්ත්‍රසූත්‍ර, ගොඩනැගිලි, රථ වාහන, මුදල්

### ව්‍යවසාය

නිෂ්පාදනය සඳහා අවශ්‍ය භූමිය, ශ්‍රමය, ප්‍රාග්ධනය වැනි නිෂ්පාදන සාධක සංවිධාන කරමින් යම් නිෂ්පාදන ක්‍රියාවලියක් ආරම්භ කර පවත්වා ගෙන යාමේ කාර්යය ව්‍යවසාය ලෙස හැඳින්වෙයි. ව්‍යවසායකයා ව්‍යාපාර අවදානම් දරමින් නව්‍යතා සම්පාදනය කරමින් ව්‍යාපාර කටයුතු පිළිබඳ තීරණ ගනියි.

**ක්‍රියාකාරකම 08**

01. ඔබ ප්‍රදේශයේ පවත්නා ව්‍යාපාරයක් තෝරා ගෙන එම ව්‍යාපාරය භාවිත කරන විවිධ සම්පත් ලැයිස්තුගත කරන්න.

02. ඔබ විසින් හඳුනාගත් සම්පත් භූමිය, ශ්‍රමය, ප්‍රාග්ධනය හා ව්‍යවසාය යන සාධක යටතේ වර්ග කරන්න.

03. එම ව්‍යාපාර ඉටුකරන ව්‍යවසායකත්ව කාර්යයන් සඳහන් කරන්න.

## 1.2 ඇල්මැති පාර්ශ්ව

ව්‍යාපාර කටයුතු පිළිබඳ ව උනන්දුවක් දක්වන විවිධ පාර්ශ්ව ඇල්මැති පාර්ශ්ව ලෙස හැඳින්වේ. මෙම පාර්ශ්ව විවිධ අරමුණු ඉටු කරගැනීම සඳහා ව්‍යාපාර කටයුතු පිළිබඳ ව උනන්දු වේ.




රූපය 1.5 ව්‍යාපාරයක ඇල්මැති පාර්ශ්ව

**ඉහත සටහනේ දැක්වෙන ඇල්මැති පාර්ශ්ව පිළිබඳ ව අධ්‍යයනය කරමු.**

| | |
|---|---|
| **අයිතිකරුවෝ** | ව්‍යාපාරයකට සම්පත් සපයන පුද්ගලයෝ එහි අයිතිකරුවෝ වෙති. එක් පුද්ගලයෙකු හෝ පුද්ගලයන් කණ්ඩායමක් ව්‍යාපාරයක අයිතිකරුවන් විය හැකි ය. |
| **කළමනාකරුවෝ** | ව්‍යාපාර කටයුතු මෙහෙයවන්නේත්, ව්‍යාපාරය පිළිබඳ අයිතිකරුවන්ගේ තීරණ ක්‍රියාත්මක කරන්නේත් කළමනාකරුවන් ය. ඇතැම්විට අයිතිකරු ම කළමනාකරු විය හැකි ය. මහා පරිමාණ ව්‍යාපාරවල බොහෝ විට මූල්‍ය කළමනාකරු, අලෙවි කළමනාකරු ආදී වශයෙන් කළමනාකරුවන් කිහිප දෙනෙකු සිටිය හැකි ය. |
| **ගනුදෙනුකරුවෝ** | ව්‍යාපාරයෙන් භාණ්ඩ හා සේවා මිල දී ගන්නා පුද්ගලයා ගනුදෙනුකරු වේ. ඔවුහු මෙම භාණ්ඩ නැවත විකිණීමේ පරමාර්ථයෙන් හෝ සිය පරිභෝජනය සඳහා වූ පරමාර්ථයෙන් මිල දී ගත හැකි ය. |
| **සැපයුම්කරුවෝ** | ව්‍යාපාරයකට අවශ්‍ය විවිධ දෑ සපයන්නෝ සැපයුම්කරුවෝ වෙති. අමුද්‍රව්‍ය, ප්‍රවාහන ආදී සේවා ඔවුහු සපයති. |
| **තරගකරුවෝ** | යම් ව්‍යාපාරයක් විසින් නිෂ්පාදනය කරන නිෂ්පාදිතවලට සමාන භාණ්ඩ හා සේවා නිෂ්පාදනය හෝ අලෙවි කිරීම සිදුකරන්නෝ තරගකරුවෝ වෙති. |
| **මූල්‍ය ආයතන** | ව්‍යාපාර සඳහා අවශ්‍ය ණය, උපදේශන සේවා ආදිය සපයන බැංකු හා අනෙකුත් ණය දෙන ආයතන මූල්‍ය ආයතනවලට අයත් වේ. |
| **සේවකයෝ** | ව්‍යාපාර කාර්ය ඉටු කරන පුද්ගලයෝ සේවකයයෝ වෙති. |
| **රජය** | රටක ආර්ථික දියුණුව සඳහා අවශ්‍ය ප්‍රතිපත්ති සම්පාදනය කරන්නේ රජය යි. |
| **ප්‍රජාව** | ව්‍යාපාරයෙන් පිටත ජීවත්වන ජනතාව ප්‍රජාව ලෙස සැලකේ.<br><br>**නිදසුන් :-**<br>ජනමාධ්‍යවේදීහු, පරිසරවේදීහු |
| **අනාගත ආයෝජකයෝ** | අනාගතයේදී ව්‍යාපාරවල ආයෝජනය කිරීමට අපේක්ෂිත පුද්ගලයන් හා ආයතන වේ. |

මෙම සෑම පාර්ශ්වයක් ම ව්‍යාපාරය තුළින් විවිධ අරමුණු ඉටු කර ගැනීමට අපේක්ෂා කරයි. ඔවුන්ගේ අරමුණු සඳහා නිදසුන් වගු අංක 1.1 මඟින් දැක්වේ.

වගු අංක 1.1 ඇල්මැති පාර්ශ්ව සහ ඔවුන්ගේ අරමුණු සඳහා නිදසුන්

| ඇල්මැති පාර්ශ්ව | අරමුණු සඳහා නිදසුන් |
|---|---|
| අයිතිකරුවෝ | ආයෝජනයේ සුරක්ෂිතතාව<br>ප්‍රමාණවත් ලාභයක් ලැබීම<br>ව්‍යාපාරයේ අනාගත වර්ධනය |
| කළමනාකරුවෝ | ව්‍යාපාර අරමුණු ඉටු කර ගැනීමට අවශ්‍ය කළමනාකරණ තීරණ ගැනීම හා එම තීරණ ක්‍රියාත්මක කිරීම<br>රැකියා වර්ධනය හා රැකියා තෘප්තිය |
| සේවකයෝ | සාධාරණ වැටුප් ලබා ගැනීම<br>රැකියා සුරක්ෂිත බව |
| ගනුදෙනුකරුවෝ | නිෂ්පාදිත සාධාරණ මිලට ලබා ගැනීම<br>ගුණාත්මක නිෂ්පාදිත ලබා ගැනීම |
| සැපයුම්කරුවෝ | අඛණ්ඩ ව ඇණවුම් ලබා ගැනීම<br>නිසි පරිදි මුදල් ලබා ගැනීම |
| මූල්‍ය ආයතන | දෙන ලද ණය අයකර ගැනීම<br>තව දුරටත් ණය සැපයීම |
| රජය | ලැබිය යුතු බදු ආදායම් නිසිලෙස ලබා ගැනීම<br>රැකියා අවස්ථා උත්පාදනය කිරීම<br>ජාතික නිෂ්පාදිතය වර්ධනය කර ගැනීම |
| තරගකරුවෝ | තම නිෂ්පාදිතවල මිල තීරණය කිරීම<br>තරගයට මුහුණ දීම |
| ප්‍රජාව | පරිසරයට හිතකර ව ව්‍යාපාර කටයුතු පවත්වා ගෙන යන්නේ ද යි විමසා බැලීම<br>සමාජ සුභසාධනයට දායක වන්නේ ද යි විමසා බැලීම |
| අනාගත ආයෝජකයෝ | ආයෝජන පිළිබඳ තීරණ ගැනීම |

ව්‍යාපාරයක් සිය කටයුතු පවත්වාගෙන යා යුත්තේ ඇල්මැති පාර්ශ්වවල විවිධ වූ අරමුණු ඉටුවන ආකාරයට ය. එහි දී ව්‍යාපාර ද ඇල්මැති පාර්ශ්ව වෙතින් ව්‍යාපාරය සඳහා විවිධ දායකත්වයන් අපේක්ෂා කරයි. ව්‍යාපාරයක් විසින් ඉහත කී එක් එක් පාර්ශ්වයන්ගෙන් බලාපොරොත්තු වන දායකත්ව සඳහා නිදසුන් කිහිපයක් වගු අංක 1.2 මගින් දැක්වේ.

වගු අංක 1.2 ඇල්මැති පාර්ශ්ව මගින් ව්‍යාපාර අපේක්ෂිත දායකත්වය

| ඇල්මැති පාර්ශවය | දායකත්වය සඳහා නිදසුන් |
|---|---|
| අයිතිකරුවෝ | ප්‍රමාණවත් ප්‍රාග්ධන දායකත්වයක් ලබා දීම<br>ව්‍යාපාර කටයුතු පිළිබඳ උනන්දුව හා කැප වීම<br>ව්‍යාපාර කටයුතු සුපරීක්ෂණය |
| කළමනාකරුවෝ | ව්‍යාපාර සැලසුම් නිසි ලෙස ක්‍රියාත්මක කිරීම<br>නිවැරදි තීරණ ගැනීම |
| සේවකයෝ | පවරන ලද කාර්ය නිසි ලෙස ඉටු කිරීම<br>ශ්‍රම ඵලදායිතාව වැඩි කිරීම |
| සැපයුම්කරුවෝ | ගුණාත්මක අමුද්‍රව්‍ය දිගින් දිගටම සැපයීම<br>කලට වේලාවට අමුද්‍රව්‍ය සැපයීම |
| රජය | ව්‍යාපාර සඳහා හිතකර විවිධ දිරි ගැන්වීම් ලබා දීම |

මෙසේ ව්‍යාපාරයක් සහ එහි ඇල්මැති පාර්ශ්ව අතර පවත්නා අන්‍යෝන්‍ය සම්බන්ධතාව මත ව්‍යාපාරයේ පැවැත්ම මෙන් ම අනාගත අභිවෘද්ධිය ද තීරණය වේ.

### ක්‍රියාකාරකම 09

ඔබගේ පාසලට සම්බන්ධ ඇල්මැති පාර්ශ්ව නම් කරන්න. ඔවුන් පාසලෙන් ඉටුකර ගැනීමට බලාපොරොත්තු වන අරමුණු හා පාසල ඔවුන්ගෙන් අපේක්ෂිත දායකත්වය වගුගත කරන්න.

### ක්‍රියාකාරකම 10

ඔබ ප්‍රදේශයේ ව්‍යාපාර කටයුතු කරන පහත දැක්වෙන ආයතනවල ඇල්මැති පාර්ශ්ව හඳුනාගෙන සටහන් කරන්න.

වාණිජ බැංකුවක්
කර්මාන්තශාලාවක්

# 2 ව්‍යාපාර පරිසරය




මෙම පරිච්ඡේදය මගින් පහත දක්වෙන කරුණු පිළිබඳ සාකච්ඡා කෙරේ.

2.1 ව්‍යාපාර පරිසරය

2.2 තාක්ෂණික හා ආර්ථික පරිසරය

තාක්ෂණික පරිසර බලපෑම්

ආර්ථික පරිසර බලපෑම්

2.3 ගෝලීය පරිසරය හා ව්‍යාපාර කටයුතු

2.4 ව්‍යාපාරයක පරිසරය අධ්‍යයනය කිරීමේ වැදගත්කම

## 2.1 ව්‍යාපාර පරිසරය

ඕනෑ ම ව්‍යාපාරයකට ඒ හා සම්බන්ධ වටපිටාවක් ඇත. ව්‍යාපාරය තුළ හා එය ක්‍රියාත්මක වන වටපිටාවේ ඇති සාධක ව්‍යාපාරයේ පැවැත්මට සෘජු ව හෝ වක්‍ර ව බලපෑම් ඇති කරයි. ඒ අනුව ව්‍යාපාර කටයුතු පවත්වාගෙන යාමේ දී ඊට බලපෑම් ඇතිකරන විවිධ සාධක ක්‍රියාත්මක වන වටපිටාව ව්‍යාපාර පරිසරය ලෙස සරල ව හැඳින්විය හැකි ය. මෙම පරිසර බලවේග ශීඝ්‍රයෙන් වෙනස් වන්නා සේ ම පරිසර බලවේගවලට අනුගත ව කටයුතු කළ යුතු නිසා ව්‍යාපාර ද නිරන්තරයෙන් ම වෙනස්වීම්වලට භාජනය වේ.

ව්‍යාපාරයක් සාර්ථක වීමට නම් ව්‍යාපාර පරිසරය පිළිබඳ ව නිරන්තරයෙන් අවධානය යොමු කර සිටීම වැදගත් වේ. පරිසර බලවේගවල සිදුවන විවිධ වෙනස්කම් සහ පරිසරයෙන් පැන නගින විවිධ ප්‍රවණතා හඳුනා ගැනීමෙන් නව ව්‍යාපාර අවස්ථා උදාකර ගත හැකි වේ. එබැවින් සාර්ථක ව්‍යාපාර නිරතුරු ව ම ව්‍යාපාර පරිසරය අධ්‍යයනය කරමින් හා එයට අනුගත වෙමින් තම ව්‍යාපාර කටයුතු පවත්වා ගෙන යයි.

## ව්‍යාපාර පරිසරය වර්ග කිරීම

ව්‍යාපාර පරිසරය ප්‍රධාන වශයෙන් පහත දැක්වෙන පරිදි වර්ග කළ හැකි ය.

- අභ්‍යන්තර පරිසරය
- බාහිර පරිසරය

ව්‍යාපාරයක අභ්‍යන්තර හා බාහිර පරිසරය තුළ විවිධ පාර්ශ්ව හා බලවේග පවතින අතර මෙහි දී පහත දැක්වෙන පාර්ශ්ව හා බලවේග පිළිබඳ ව පමණක් අවධානය යොමු කරනු ලැබේ.




සටහන 2.1 - ව්‍යාපාර පරිසර වර්ග

## අභ්‍යන්තර පරිසරය

ව්‍යාපාරයේ ක්‍රියාකාරීත්වයට බලපාන ව්‍යාපාරය තුළ ක්‍රියාත්මක වන විවිධ පාර්ශ්ව සහ ව්‍යාපාරය තුළ පවතින අනෙකුත් සාධක අභ්‍යන්තර පරිසරය ලෙස හැඳින්විය හැකි ය. ව්‍යාපාරයක අභ්‍යන්තර පරිසරයට අයත්වන පාර්ශ්ව හා එම පාර්ශ්වයන්ගෙන් ව්‍යාපාරයට වන බලපෑම පහත දැක්වේ.

| | |
|---|---|
| අයිතිකරුවෝ | ව්‍යාපාරයට අවශ්‍ය ප්‍රාග්ධනය යොදවන පුද්ගලයෝ අයිතිකරුවෝ වෙති. ඔවුන්ගේ මූල්‍ය ශක්තිය, ව්‍යාපාරික දැනුම හා පළපුරුද්ද ආදිය ව්‍යාපාරයක සාර්ථකත්වයට හේතු වේ. |
| කළමනාකරුවෝ | ව්‍යාපාරයක අයිතිකරුවන්ගේ අරමුණු ඉටු කර ගැනීම සඳහා ව්‍යාපාරය සතු සම්පත් මෙහෙයවීමට අවශ්‍ය තීරණ ගන්නා පුද්ගලයෝ කළමනාකරුවෝ වෙති. ව්‍යාපාරයක ගනුදෙනුකරුවන් හා සේවකයන් අතර මනා සම්බන්ධතාවක් ගොඩ නගන්නේ කළමනාකරුවන් විසිනි. ඇතැම් ව්‍යාපාරවල අයිතිකරුවෝ ම කළමනාකරුවෝ වෙති. |
| සේවකයෝ | තම දක්ෂතාව හා හැකියාව ප්‍රයෝජනයට ගනිමින් පවරන ලද කාර්ය නිසි ආකාරයෙන් ඉටු කරන පුද්ගලයෝ සේවකයෝ වෙති. ඔවුන්ගේ කැප වීම හා යහපත් ආකල්ප ව්‍යාපාරයක සාර්ථකත්වයට හේතු වේ. |

## බාහිර පරිසරය

ව්‍යාපාරයේ ක්‍රියාකාරීත්වයට බලපාන ව්‍යාපාරයෙන් පරිබාහිර ව ක්‍රියාත්මක වන පාර්ශ්ව සහ බලවේග බාහිර පරිසරය ලෙස හැඳින්විය හැකි ය. පහත දැක්වෙන්නේ බාහිර පරිසර සාධක ව්‍යාපාරයට බලපාන ආකාරය යි.

ගනුදෙනුකරුවෝ

ව්‍යාපාරයක භාණ්ඩ හා සේවා මිලදී ගන්නෝ ගනුදෙනුකරුවෝ වෙති. ව්‍යාපාරයක පැවැත්ම රඳා පවතින්නේ ගනුදෙනුකරුවන් මත ය. ඒ නිසා ඔවුන්ගේ විවිධ අවශ්‍යතා සහ වුවමනා හඳුනා ගනිමින් ඒවා නිසි පරිදි ඉටු කිරීමට ව්‍යාපාර ක්‍රියා කළ යුතු වේ. ගනුදෙනුකරුවන්ගේ මිල දී ගැනීමේ රටාවන්වල සිදුවන වෙනස්කම් ව්‍යාපාරයක කටයුතු කෙරෙහි ආසන්නත ම බලපෑමක් ඇති කළ හැකි ය.

තරගකරුවෝ

යම් කිසි ව්‍යාපාරයක භාණ්ඩ හෝ සේවාවලට සමාන භාණ්ඩ හෝ සේවා නිෂ්පාදනය කරන ආයතන තරගකරුවන් ලෙස සැලකේ. තරගකරුවන් තම ව්‍යාපාර කටයුතු මෙහෙයවන ආකාරය, තරගකරුවන්ගේ නිෂ්පාදිතවල මිල හා ගුණාත්මක බව මෙන් ම අලෙවි උපක්‍රම ආදී කරුණු ව්‍යාපාරවලට ආසන්නත ම බලපෑම් ඇති කරයි.

### සැපයුම්කරුවෝ

ව්‍යාපාරයක් පවත්වාගෙන යාමේ දී අවශ්‍ය වන අමුද්‍රව්‍ය හා ප්‍රවාහන පහසුකම් ආදී වෙනත් සේවා සපයන පාර්ශ්ව සැපයුම්කරුවන් ලෙස සැලකෙති. ඔවුන් විසින් සපයන අමුද්‍රව්‍ය හා අනෙකුත් සේවා අඛණ්ඩ ව කලට වේලාවට ලබා දීම හා ඒවායේ ගුණාත්මක බව ව්‍යාපාරයක කටයුතු අඛණ්ඩ ව පවත්වා ගෙන යාමට ඉතා වැදගත් වේ.

### දේශපාලන පරිසරය

යම් රටක රජය විසින් ආර්ථික කටයුතු මෙහෙයවීමේ දී අනුගමනය කරන ප්‍රතිපත්ති ව්‍යාපාර සඳහා බලපෑම් ඇති කරයි. මෙම ප්‍රතිපත්ති පිළිබඳ සැලකිලිමත් වෙමින් ව්‍යාපාරිකයන් තම ව්‍යාපාර කටයුතු මෙහෙයවිය යුතු ය. රජයේ ප්‍රතිපත්තිවලට නිදසුන් කිහිපයක් පහත දැක්වේ.

**නිදසුන් :-**

යටිතල පහසුකම් සංවර්ධන ප්‍රතිපත්ති
අයවැය ප්‍රතිපත්ති

### නෛතික පරිසරය

පාරිභෝගිකයා ආරක්ෂා කිරීම සඳහාත් දේශීය නිෂ්පාදකයන් හා ව්‍යාපාරික ප්‍රජාව ආරක්ෂා කිරීම සඳහාත් පරිසරය ආරක්ෂා කිරීම සඳහාත් සම්මත අණපනත් හා නීතිරීති නෛතික පරිසරයට අයත් වේ. රජය පනවන මෙම අණපනත් හා නීතිරීති ව්‍යාපාරවලට විවිධ බලපෑම් ඇති කරයි. එසේ ම මෙම නීති රීති ක්‍රියාත්මක කිරීම සඳහා ආයතන, මණ්ඩල, කොමිෂන් සභා හා පුද්ගලයෝ ද රජය විසින් පත් කරනු ලබති. මෙවැනි අණපනත්වලට නිදසුන් කිහිපයක් පහත දැක්වේ.

**නිදසුන් :-**

2007 අංක 07 දරන සමාගම් පනත
2003 අංක 09 දරන පාරිභෝගික කටයුතු පිළිබඳ අධිකාරී පනත
1954 අංක 14 දරන සාප්පු හා කාර්යාල සේවක පනත

මෙවැනි නීතිරීති ක්‍රියාත්මක කිරීම සඳහා පනවා ඇති තනතුරු සහ ආයතන කිහිපයකි.

**නිදසුන් :-**

- සමාගම් රෙජිස්ට්‍රාර්වරයා
- කම්කරු විනිශ්චය සභා
- මහජන සෞඛ්‍ය පරීක්ෂක
- පාරිභෝගික කටයුතු පිළිබඳ අධිකාරිය
- මධ්‍යම පරිසර අධිකාරිය

මෙවැනි නීතිරීති හා ආයතන නිසා ව්‍යාපාරිකයන්ට සිය අභිමතය පරිදි ව්‍යාපාරික කටයුතු කිරීමේ හැකියාව සීමා වේ. සෑම ව්‍යාපාරිකයෙකු ම රජය විසින් සම්මත කර ඇති තම ව්‍යාපාරවලට අදාළ වන අණපනත් හා නීතිරීති අනුගමනය කළ යුතු වේ.

## 2.2 තාක්ෂණික පරිසරය හා ආර්ථික පරිසරය

### තාක්ෂණික පරිසරය

නව සොයාගැනීම් හා නව නිර්මාණ ආදිය නිසා තාක්‍ෂණික පරිසරය ශීඝ්‍රයෙන් වර්ධනය වෙමින් පවතී. ව්‍යාපාර කටයුතු මෙන් ම පුද්ගල ජීවන රටාව ද තාක්‍ෂණික පරිසර සාධක නිසා වෙනස්කම්වලට භාජන වී ඇත. පරිගණක තාක්ෂණයේ දියුණුව, අන්තර්ජාලය සොයා ගැනීමෙන් ඇති වූ සන්නිවේදන තාක්ෂණයේ දියුණුව, නැනෝ තාක්ෂණය හා ඩිජිටල් තාක්ෂණය සොයා ගැනීමෙන් සිදු වූ නිෂ්පාදන ක්‍රමවල දියුණුව මෙන් ම ප්‍රවාහන තාක්ෂණයේ දියුණුව නිසා ව්‍යාපාර පරිසරයේ ඉමහත් වෙනස්කම් සිදු වෙමින් පවතී.



රූපය 2.1

**තාක්ෂණික වෙනස්වීම් නිසා ව්‍යාපාරවල සිදු වූ වෙනස්කම්වලට නිදසුන් කිහිපයක් පහත දැක්වේ.**

**නිදසුන් :-**

අතීතයේ දී ඉතා සරල අත් යන්ත්‍ර කිහිපයක් යොදාගෙන රෙදි නිෂ්පාදනය කළ ද වර්තමානයේ අති නවීන යන්ත්‍ර සූත්‍ර, පරිගණක තාක්ෂණය ආදිය යොදාගෙන කෙටි කාලයකින්, ගුණාත්මක ව, අඩු පිරිවැයකින් රෙදි නිෂ්පාදනය කිරීම

අතීතයේ දී භාවිත කළ සාමාන්‍ය තැපැල වෙනුවට දුරකථන, විද්‍යුත් තැපැල (E mail) ව්‍යාපාර විසින් භාවිත කිරීම

අතීතයේ දී ව්‍යාපාරිකයන් සිය වෙළෙඳ දැන්වීම් හෝ වෙනත් දැන්වීම් සමග තම තැපැල් ලිපිනය ඉදිරිපත් කළ ද වර්තමානයේ දුරකථන අංකය, විද්‍යුත් තැපැල් ලිපිනය ආදිය ඉදිරිපත් කරමින් වැඩි විස්තර සඳහා ඔවුන්ගේ වෙබ් අඩවියට පිවිසෙන ලෙස දැනුම්දීම.

අතීතයේ දී පොත්පත්වල තැබූ ගිණුම් සටහන් වර්තමානයේ දී පරිගණක හා තොරතුරු පද්ධති (Information Systems) භාවිත කරමින් පවත්වා ගෙන යෑම

අතීතයේ දී මිනිස් ශ්‍රමය පමණක් භාවිත කරමින් සිදුකෙරුණු නිෂ්පාදන ක්‍රියාවලි වර්තමානයේ දී පරිගණකගත කළ යන්ත්‍ර සූත්‍ර මගින් සිදුකර ගැනීම

තාක්ෂණික පරිසරයේ සිදුවන ශීඝ්‍ර වෙනස්වීම් මගින් ව්‍යාපාර නිපදවන ඇතැම් භාණ්ඩ හා සේවා ඉතා ඉක්මනින් යල් පැනීමට භාජන වීම නිසා තාක්ෂණික පරිසරයේ සිදුවන වෙනස්වීම්වලට අනුව ව්‍යාපාර තම භාණ්ඩ හා සේවා නවීකරණය කිරීම අත්‍යාවශ්‍ය ව තිබේ.

## ආර්ථික පරිසරය

ආර්ථික පරිසරය යනු ව්‍යාපාර කෙරෙහි බලපාන ආර්ථික සාධක ඇතුළත් පරිසරය යි. රටක ආර්ථික ප්‍රතිපත්ති තීරණය කිරීමේ දී ප්‍රධාන වශයෙන් රජය මැදිහත් වේ.

**ආර්ථික සාධක කිහිපයක් සැකෙවින් විමසා බලමු.**

| | |
|---|---|
| පොලී අනුපාතය | බැංකු තැන්පතු සඳහා ලබාදෙන හා බැංකු ණය සඳහා අයකරන පොලී අනුපාතය යි. |
| උද්ධමනය | භාණ්ඩ හා සේවා අලෙවියේ දී තීරණය වන පොදු මිල ගණන් අඛණ්ඩ ව ඉහළ යාම උද්ධමනය යි. |
| ආදායම් ව්‍යාප්තිය | රටක ජාතික ආදායම එරට ජනතාව අතර බෙදී ගොස් ඇති ආකාරය යි. |
| රැකියා නියුක්තිය | රටක රැකියා අපේක්ෂා කරන සියලු දෙනාට ම ගැළපෙන රැකියාවක් ලැබේ නම් එය පූර්ණ රැකියා නියුක්තියක් ලෙස දැක්වේ. |
| ජාත්‍යන්තර සබඳතා | රටක් තවත් රටක් සමග පවත්වන සම්බන්ධතා ජාත්‍යන්තර සබඳතා ලෙස හැඳින්වෙයි. වෙළෙඳ කලාප සහ වෙළෙඳ ගිවිසුම් මගින් මෙවැනි සම්බන්ධතා ඇති වේ. |
| විදේශ විනිමය අනුපාතය | යම් රටක මුදල් ඒකකයක් තවත් රටක මුදල් ඒකක සමග හුවමාරු වන අනුපාතය යි. |
| ඉතුරුම් | පුද්ගලයන් තම ආදායමෙන් පරිභෝජනය සඳහා වැය නොකොට තබා ගන්නා කොටස යි. රටක ඉතුරුම් වර්ධනය වන විට ආයෝජනය සඳහා යෙදවිය හැකි මුදල් ප්‍රමාණය ඉහළ යයි. |

## 2.3 ගෝලීය පරිසරය හා ව්‍යාපාර කටයුතු

ගෝලීයකරණය යනු ලෝකයේ රටවල් අතර ආර්ථික, සමාජයීය හා සංස්කෘතික වශයෙන් ඇති අන්‍යෝන්‍ය බැඳීමයි. ගෝලීයකරණය නිසා දේශසීමා හා වෙනත් සම්බාධකවලින් තොර ව ලෝකයේ රටවල් අතර ව්‍යාපාර කටයුතු නිදහසේ කිරීමට හැකියාව ලැබී ඇත. තොරතුරු හා සන්නිවේදන තාක්ෂණයේ දියුණු වීම හේතුවෙන් අද මුළු ලෝකය ම එක ම විශ්ව ගම්මානයක් බවට පත් වී ඇත. දේශ සීමා හරහා මිනිසුන් අතර පැවති දුරස්ථ භාවය නැති වී ගොස් ඇති අතර භාණ්ඩ හා සේවා, ශ්‍රමය, ප්‍රාග්ධනය ආදිය බාධාවකින් තොර ව රටවල් අතර හුවමාරු වීම සිදු වේ. එබැවින් ගෝලීය පරිසරයේ ඇති විවිධ සාධකවල වෙනස්වීම් දේශීය ව්‍යාපාරවලට ද හිතකර හා අහිතකර ලෙස බලපායි.

**දේශීය ව්‍යාපාර සඳහා ගෝලීය පරිසරයෙන් සිදුවන හිතකර බලපෑම්**

- නවීන තාක්ෂණය ලබාගත හැකි වීම
- ගුණාත්මක විදේශීය අමුද්‍රව්‍ය ලබාගත හැකි වීම
- කාර්යක්ෂම යන්ත්‍ර සූත්‍ර ලබාගත හැකි වීම
- විදේශීය ප්‍රාග්ධනය රට තුළට ගලා ඒම
- දේශීය භාණ්ඩ හා සේවා සඳහා විදේශ වෙළෙඳපළ ලබා ගත හැකි වීම

**දේශීය ව්‍යාපාර සඳහා ගෝලීය පරිසරයෙන් සිදුවන අහිතකර බලපෑම්**

- දැඩි තරගකාරිත්වයකට මුහුණ දීමට සිදු වීම
- දේශීය පුහුණු ශ්‍රමය විදේශීය රටවලට ඇදී යාම
- දේශීය ව්‍යාපාරවල පැවැත්ම අස්ථාවර වීම
- දේශීය සංස්කෘතියේ අයහපත් වෙනස්කම් ඇති වීම



***ක්‍රියාකාරකම 01***

ශ්‍රී ලංකා රුපියල පහත දැක්වෙන විදේශ මුදල් වර්ග සමග හුවමාරු වන අනුපාත පිළිබඳ ව තොරතුරු රැස්කර වගු ගත කරන්න.

| විදේශ මුදල් වර්ගය | හුවමාරු අනුපාතය |
|---|---|
| ඇමෙරිකානු ඩොලරය | ................................................................ |
| බ්‍රිතාන්‍ය පවුම | ................................................................ |
| ජපන් යෙන් | ................................................................ |
| ඉන්දියානු රුපියල් | ................................................................ |
| යූරෝ | ................................................................ |

**ක්‍රියාකාරකම 02**

රජය විසින් විවිධ ව්‍යාපාර සඳහා ලබා දෙන දිරිගැන්වීම් පිළිබඳ පුවත් පත් හා ප්‍රවෘත්ති මාධ්‍ය මගින් තොරතුරු රැස් කර පන්තියේ බිත්ති පුවත් පතේ පළ කිරීමට සුදුසු ලිපියක් සකස් කරන්න.

## 2.4 ව්‍යාපාරයක පරිසරය අධ්‍යයනය කිරීමේ වැදගත්කම

ඉහතින් සඳහන් කළ සෑම අභ්‍යන්තර හා බාහිර පරිසර සාධකයක් ම යහපත් හෝ අයහපත් බලපෑම් ව්‍යාපාරවලට ඇති කරයි. එම තත්ත්වයන් හඳුනා ගැනීම සඳහා ව්‍යාපාරිකයන් විසින් පරිසර අධ්‍යයනයක නිරත විය යුතු ය. ව්‍යාපාරයක අභ්‍යන්තර පරිසරය අධ්‍යයනය කිරීම තුළින් ව්‍යාපාරයේ ශක්ති හා දුර්වලතා හඳුනාගත හැකි ය. එම ශක්තීන් ව්‍යාපාරයේ වර්ධනය සඳහා යොදගත හැකි අතර දුර්වලතා අවම කර ගැනීමට කටයුතු කළයුතු වේ.

**ව්‍යාපාරයක ශක්තීන් හා දුර්වලතා සඳහා නිදසුන් කිහිපයක් පහත දක්වේ.**

ශක්තීන්

- ප්‍රමාණවත් ප්‍රාග්ධනයක් තිබීම
- කළමනාකරුවන්ගේ අත්දැකීම්
- සේවකයන්ගේ විශේෂිත දැනුම හා කැපවීම
- සුවිශේෂී නිෂ්පාදන ක්‍රම
- පිළිගත් සන්නම් නාමයක් තිබීම

දුර්වලතා

- අයිතිකරුවන්ගේ මූල්‍ය ශක්තිය ප්‍රමාණවත් නොවීම
- පුහුණු සේවකයන්ගේ හිඟය
- තාක්ෂණ දැනුම යාවත්කාලීන නොවීම
- සේවකයන්ගේ අයහපත් ආකල්ප
- ව්‍යාපාරයේ භූගෝලීය පිහිටීම නුසුදුසු වීම

ව්‍යාපාරයක බාහිර පරිසරය අධ්‍යයනය කිරීම තුළින් එම ව්‍යාපාරයට ඇති අවස්ථා හා තර්ජන හඳුනාගත හැකි ය. එම අවස්ථාවලින් ප්‍රයෝජන ගැනීමටත් තර්ජන සඳහා සාර්ථක ව මුහුණ දීමටත් ව්‍යාපාරිකයාට හැකි වේ.

ව්‍යාපාරයකට ඇති අවස්ථා හා තර්ජන සඳහා නිදසුන් කිහිපයක් පහත දක්වේ.

අවස්ථා

- පාරිභෝගිකයන්ගේ ජීවන රටාව වෙනස් වීම
- රජය විසින් අඩු පොලී ණය ක්‍රම හඳුන්වා දීම
- ව්‍යාපාර සඳහා බදු සහන ලබා දීම
- නව නගර නිර්මාණය
- අධිවේගී මාර්ග ඉදි කිරීම

තර්ජන

- ජාත්‍යන්තර වෙළෙඳ සම්බාධක පැනවීම
- තරගකරුවන් බිහි වීම
- ස්වභාවික ආපද
- නව තාක්ෂණ ක්‍රම සඳහා අනුගත වීම දුෂ්කර වීම

දක්ෂ ව්‍යාපාරිකයෝ නිරන්තරයෙන් ම තම ව්‍යාපාරයේ අභ්‍යන්තර පරිසරය හා බාහිර පරිසරය පිළිබඳ අවධානයෙන් පසුවෙති. ව්‍යාපාර පරිසරයේ සිදු වන වෙනස්කම් නිසා ඇති වන ශක්ති හා අවස්ථා ව්‍යාපාරයේ වර්ධනය සඳහා යොදා ගන්නා අතර දුර්වලතා හා තර්ජනවලට මුහුණ දෙමින් හෝ මැඩ පවත්වමින් ව්‍යාපාරයේ අනාගතය සුරක්ෂිත කිරීම සඳහා සුදුසු පියවර ගනියි.



**ක්‍රියාකරකම 03**

ඔබ ප්‍රදේශයේ තිබෙන ව්‍යාපාරයක් සැලකිල්ලට ගෙන එහි ශක්තීන්, දුර්වලතා, අවස්ථා සහ තර්ජන පිළිබඳ විමසීමක් කර වගුගත කරන්න.

.................................... ව්‍යාපාරය

| ශක්තීන් | දුර්වලතා | අවස්ථා | තර්ජන |
|---|---|---|---|
| .................................... | .................................... | .................................... | .................................... |
| .................................... | .................................... | .................................... | .................................... |
| .................................... | .................................... | .................................... | .................................... |
| .................................... | .................................... | .................................... | .................................... |

### ක්‍රියාකාරකම 04

ව්‍යාපාර සඳහා බලපාන දේශීය හා ගෝලීය වෙනස්කම් පහක් බැගින් සඳහන් කරන්න.

### ක්‍රියාකාරකම 05

"ව්‍යාපාර පරිසරය අධ්‍යයනය කිරීමේ වැදගත්කම" යන මාතෘකාව යටතේ පාසලේ වාණිජ විද්‍යා සඟරාවට ලිපියක් සකස් කරන්න.

# 3 ව්‍යාපාර සංවිධාන




මෙම පරිච්ඡේදය මගින් පහත දැක්වෙන කරුණු පිළිබඳ සාකච්ඡා කෙරේ.

3.1 ව්‍යාපාර සංවිධාන වර්ග පිළිබඳ මූලික තොරතුරු
- ව්‍යාපාර සංවිධාන වර්ග කිරීම
- ව්‍යාපාර සංවිධාන වර්ග හා මූලික ලක්ෂණ

3.2 යෝග්‍ය ව්‍යාපාර සංවිධාන ක්‍රමයක් තෝරා ගැනීම
- පරමාර්ථ අනුව
- පරිමාණය අනුව
- කළමනාකරණය සිදු කරන ආකාරය අනුව

3.3 ඒක පුද්ගල ව්‍යාපාරයක් ලියාපදිංචි කිරීම
- ලියාපදිංචිය සඳහා අනුගමනය කළ යුතු පියවර
- ලියාපදිංචි කිරීමේ ලියවිලි
- ලියාපදිංචි කිරීමෙන් ලබාගත හැකි ප්‍රයෝජන

## 3.1 ව්‍යාපාර සංවිධාන වර්ග පිළිබඳ මූලික තොරතුරු

රටක ජනගහනය වර්ධනය වීමත් සමග භාණ්ඩ හා සේවා නිෂ්පාදනය හා බෙදා හැරීමේ කටයුතු ද පුළුල් වී ඇත. මේ නිසා මිනිසාගේ අවශ්‍යතා හා වුවමනා සපුරාලීමට විවිධ වර්ගයේ ව්‍යාපාර සංවිධාන බිහි වී ඇත. මෙසේ අවශ්‍යතා හා වුවමනා සපුරාලීම සඳහා අවශ්‍ය භාණ්ඩ හා සේවා සැපයීමට පුද්ගලයෙකු හෝ පුද්ගල කණ්ඩායමක් හෝ ඒකරාශී වීම ව්‍යාපාර සංවිධානයක් ලෙස හැඳින්වේ.

විවිධ පාර්ශ්ව ව්‍යාපාර සඳහා අරමුදල් යොදවයි. එසේ අරමුදල් යොදවමින් අවදානම් බාර ගන්නා පුද්ගලයෝ ව්‍යාපාර හිමිකරුවෝ නැතිනම් අයිතිකරුවෝ වෙති. හිමිකාරිත්වය පදනම් කරගෙන පෞද්ගලික අංශයේත් රාජ්‍ය අංශයේත් ව්‍යාපාර සංවිධාන වර්ග කිහිපයක් හඳුනා ගත හැකි ය. එසේ ම ව්‍යාපාරිකයෝ විවිධ වූ අරමුණු සපුරා ගැනීම සඳහා ව්‍යාපාර පත්වාගෙන යති. ඒ අනුව ඇතැම් ව්‍යාපාර ලාභ ලැබීමේ අරමුණින් පවත්වා ගෙන යන අතර සමාජ සුභසාධන අරමුණු පදනම් කරගත් ව්‍යාපාර ද දක්නට ඇත. ව්‍යාපාරිකයාට සපයා ගත හැකි සම්පත් ප්‍රමාණය අනුව ඔහුට සුළු පරිමාණ හෝ මහා පරිමාණ ව්‍යාපාර ආරම්භ කළ හැකි ය. මෙම ව්‍යාපාර සංවිධාන වර්ග අතරින් තමාට සුදුසු ව්‍යාපාරයක් තෝරා ගැනීමට ව්‍යාපාරිකයා දක්ෂ විය යුතු ය.

### ව්‍යාපාර සංවිධාන වර්ග කිරීම

ව්‍යාපාර විවිධ ආකාරයට සංවිධාන වී ඇත. මෙම විවිධ ස්වරූපවල ව්‍යාපාර සංවිධාන වර්ග විවිධ නිර්ණායක මත පහත දැක්වෙන පරිදි වර්ග කළ හැකි ය.

- හිමිකාරිත්වය අනුව
- අරමුණ අනුව
- පරිමාණය අනුව

### හිමිකාරිත්වය මත ව්‍යාපාර සංවිධාන වර්ග කිරීම

ව්‍යාපාරවලට අවශ්‍ය අරමුදල් යොදවමින් එහි අවදානම දරන පුද්ගලයෝ හිමිකරුවන් ලෙස හැඳින්වෙති. ව්‍යාපාරයක් උපයන ලාභ භුක්ති විඳින්නේත් පාඩු විඳ දරාගන්නේත් ව්‍යාපාරයේ අයිතිකරුවෝ ය. ඒ අනුව හිමිකාරිත්වය මත ව්‍යාපාර සංවිධාන ප්‍රධාන වර්ග දෙකකට බෙදා දැක්විය හැකි ය.

- පෞද්ගලික අංශයේ ව්‍යාපාර සංවිධාන
- රාජ්‍ය අංශයේ ව්‍යාපාර සංවිධාන

හිමිකාරිත්වය යටතේ ව්‍යාපාර සංවිධාන වර්ග වී ඇති ආකාරය පහත දැක්වේ.




රූපය 3.1 - හිමිකාරිත්වය අනුව ව්‍යාපාර සංවිධාන වර්ග කිරීම.

### පෞද්ගලික අංශයේ ව්‍යාපාර සංවිධාන

ව්‍යාපාරයක හිමිකාරිත්වය පුද්ගලයෙකු හෝ පුද්ගල කණ්ඩායමක් සතුවන ව්‍යාපාර පෞද්ගලික අංශයේ ව්‍යාපාර ලෙස හැඳින්වෙයි. පෞද්ගලික අංශයේ ව්‍යාපාර ඒක පුද්ගල ව්‍යාපාර, හවුල් ව්‍යාපාර, සංස්ථාපිත සමාගම්, සමූපකාර සමිති හා සමිති සංවිධාන ආදී ලෙස තවදුරටත් වර්ග කළ හැකි වේ.

### රාජ්‍ය අංශයේ ව්‍යාපාර සංවිධාන

රජය විසින් ප්‍රාග්ධනය සපයා ඇති සහ හිමිකාරිත්වය රජය සතු වූ ව්‍යාපාර රාජ්‍ය අංශයේ ව්‍යාපාර සංවිධාන වේ. මේ යටතේ රජයේ දෙපාර්තමේන්තු, රාජ්‍ය සංස්ථා, රාජ්‍ය සමාගම්, පළාත් සභා හා පළාත් පාලන ආයතනවලට අයත් ව්‍යාපාර හඳුනාගත හැකි ය.

## අරමුණු අනුව ව්‍යාපාර සංවිධාන වර්ග කිරීම

විවිධ අරමුණු සපුරා ගැනීම සඳහා විවිධ සංවිධාන පවත්වාගෙන යනු ලැබේ. ව්‍යාපාරයක හිමිකරුවෝ ද මෙසේ යම් අරමුණක් ඉටු කර ගැනීම සඳහා ව්‍යාපාර පවත්වා ගෙන යති. පවත්වා ගෙන යන අරමුණු අනුව ව්‍යාපාර පහත දැක්වෙන ආකාරයට වර්ග කළ හැකි ය.

- ලාභ අරමුණු කර ගත් ව්‍යාපාර සංවිධාන
- ලාභ අරමුණු කර නොගත් ව්‍යාපාර සංවිධාන

පහත දැක්වෙන රූප සටහනෙන් එය පැහැදිලි වේ.




රූපය 3.2 - අරමුණු අනුව ව්‍යාපාර සංවිධාන වර්ග කිරීම

### ලාභ අරමුණු කරගත් ව්‍යාපාර

ලාභ ඉපැයීම ප්‍රධාන අරමුණ කරගත් ව්‍යාපාර ලාභ අරමුණු කරගත් ව්‍යාපාර ලෙස හැඳින්වේ. මෙවැනි ව්‍යාපාර සංවිධාන වර්ග පෞද්ගලික අංශයේ මෙන් ම රාජ්‍ය අංශය තුළ ද ක්‍රියාත්මක වේ.

### ලාභ අරමුණු කර නොගත් ව්‍යාපාර

මෙවැනි ව්‍යාපාරවල ප්‍රධාන අරමුණ වන්නේ සාමාජිකයන්ගේ සහ සමාජයීය සුභසාධනය යි. ලාභ අරමුණු කර නොගත් ව්‍යාපාර පෞද්ගලික අංශයේ මෙන් ම රාජ්‍ය අංශයේ ද ක්‍රියාත්මක වේ.

## පරිමාණය අනුව ව්‍යාපාර සංවිධාන වර්ග කිරීම

ව්‍යාපාර සංවිධානයක පරිමාණය විවිධ නිර්ණායක මත තීරණය කරනු ලැබේ. එසේ සලකනු ලබන ප්‍රමාණාත්මක නිර්ණායක කිහිපයක් පහත දැක්වේ.

- ව්‍යාපාරයේ ප්‍රාග්ධන ප්‍රමාණය
- සේවක සංඛ්‍යාව
- භාවිත කරන බලශක්ති ප්‍රමාණය
- ව්‍යාපාරයට ඇති වෙළෙඳපළ කොටස

ව්‍යාපාර සංවිධාන පරිමාණය අනුව ප්‍රධාන කොටස් දෙකකට බෙදා දැක්විය හැකි ය.

- සුළු හා මධ්‍ය පරිමාණ ව්‍යාපාර
- මහා පරිමාණ ව්‍යාපාර




රූපය 3.3 - පරිමාණය අනුව ව්‍යාපාර සංවිධාන වර්ග කිරීම.

### සුළු හා මධ්‍ය පරිමාණ ව්‍යාපාර සංවිධාන

විවිධ ආයතන සුළු හා මධ්‍ය පරිමාණයේ ව්‍යාපාර වර්ගීකරණය සඳහා විවිධ නිර්ණායක හඳුනා ගෙන ඇත. ඒ අනුව මහා පරිමාණ ව්‍යාපාරවලට සාපේක්ෂ ව සලකා බැලීමේ දී කුඩා ප්‍රාග්ධනයක් ආයෝජනය කර ඇති, අඩු සේවක සංඛ්‍යාවක් සිටින, වෙළෙඳපළ කොටස කුඩා වූ ව්‍යාපාර සුළු හා මධ්‍ය පරිමාණ ව්‍යාපාර ලෙස හැඳින්විය හැකි ය.



රූපය 3.4

**නිදසුන් :-**

ජන හා සංඛ්‍යා ලේඛන දෙපාර්තමේන්තුව හඳුන්වාදෙන පරිදි සේවක සංඛ්‍යාව 25ට අඩු ව්‍යාපාර

### මහා පරිමාණ ව්‍යාපාර සංවිධාන

වැඩි ප්‍රාග්ධනයක් ආයෝජනය කර ඇති, විශාල සේවක සංඛ්‍යාවක් සේවය කරන විශාල වෙළෙඳපල කොටසක් හිමි වූ, අදාළ කර්මාන්තය තුළ විශාල බලපෑමක් කළ හැකි ව්‍යාපාර මහා පරිමාණ ව්‍යාපාර ලෙස සරල ව හැඳින්විය හැකි ය.

**නිදසුන් :-**
විශාල සේවකයන් ප්‍රමාණයක් සේවය කරන කර්මාන්ත ශාලාවක්



රූපය 3.5

**මීළඟට ඉහත දැක් වූ ව්‍යාපාර සංවිධාන වර්ග පිළිබඳ පුළුල් ව සලකා බලමු.**

## ඒක පුද්ගල ව්‍යාපාර

හිමිකාරිත්වය එක් පුද්ගලයෙකු සතු ව්‍යාපාර තනි පුද්ගල ව්‍යාපාර ලෙස හැඳින්විය හැකි ය. ලොව සෑම රටක ම වාගේ බහුල ව පවතින ව්‍යාපාර සංවිධාන වර්ගය ද මෙය වේ.

පහසුවෙන් ආරම්භ කළ හැකි වීමත් කුඩා ප්‍රාග්ධනයක් අවශ්‍ය වීමත් ස්වාධීන ව තීරණ ගතහැකි වීමත් නිසා මෙම ව්‍යාපාර සංවිධාන වර්ගය බහුල ව දක්නට ලැබේ. හිමිකරුගේ දක්ෂතාව හා කැපවීම මත මෙවැනි ව්‍යාපාරයක කටයුතුවල සාර්ථක බව රඳා පවතී.



රූපය 3.6

### ඒක පුද්ගල ව්‍යාපාරවල ලක්ෂණ

ඒක පුද්ගල ව්‍යාපාරවල පහත දැක්වෙන ලක්ෂණ දක්නට ඇත.

- **ප්‍රාග්ධනය අයිතිකරු වන තනි පුද්ගලයෙකු විසින් යෙදවීම**
  ව්‍යාපාරයට අවශ්‍ය ප්‍රාග්ධනය අයිතිකරුවන් විසින් තනි ව සපයා ගත යුතු වේ. අයිතිකරුගේ ඉතිරිකිරීම් හෝ ණය මුදල් ප්‍රාග්ධනය ලෙස යෙදවිය හැකි ය.

- **ලාභ හෝ අලාභ තනි ව භුක්ති විඳීම**

  ඒක පුද්ගල ව්‍යාපාරය උපයන සියලු ම ලාභ අයිතිකරු සතු වේ. එසේ ම අලාභයක් ඇති වුවහොත් එය ද අයිතිකරුට තනි ව විඳ දරා ගැනීමට සිදු වේ.

- **අයිතිකරුගේ වගකීම අසීමිත වීම**

  ඒක පුද්ගල ව්‍යාපාරයක අයිතිකරුගේ වගකීම අසීමිත වේ. මේ අනුව වගකීම යෙදූ ප්‍රාග්ධනයට පමණක් සීමා නොවේ. ඔහු සතු වෙනත් දේපළ පවා ව්‍යාපාරයේ වගකීම් පියවීම සඳහා කැප කිරීමට සිදුවිය හැකි අතර එසේ කැප කළ යුතු ප්‍රමාණයට නිශ්චිත සීමාවක් නැත.

- **නීතිමය පුද්ගලභාවයක් නොමැති වීම**

  ඒක පුද්ගල ව්‍යාපාරයකට ව්‍යාපාරයේ නමින් නීතිමය කටයුතුවල යෙදිය නොහැකි ය. එසේ කළ හැක්කේ ව්‍යාපාරිකයාගේ පෞද්ගලික නමින් පමණි. නිදසුන් ලෙස ගිවිසුම්වලට එළඹීම, වාහන මිලදී ගැනීම, බැංකු ණය ලබා ගැනීම, නඩු පැවරීම ව්‍යාපාර නාමයෙන් නොව තමාගේ පෞද්ගලික නමින් කළ යුතු ය.

- **අඛණ්ඩ පැවැත්මක් නොමැති වීම**

  ඒක පුද්ගල ව්‍යාපාරයක අයිතිකරු මිය යාම හෝ උමතු වීම වැනි හේතු නිසා එම ව්‍යාපාරය අවසන් විය හැකි ය.

- **ලියාපදිංචිය අනිවාර්ය නොවීම**

  සාමාන්‍යයෙන් ඒක පුද්ගල ව්‍යාපාර ලියාපදිංචිය අනිවාර්ය නොවේ. එහෙත් ව්‍යාපාරය අයිතිකරුගේ සම්පූර්ණ නමින් හැර වෙනත් නමකින් පවත්වා ගෙන යන්නේ නම් අදාළ පළාත් සභාවේ ව්‍යාපාර නාම ප්‍රඥප්තිය යටතේ ව්‍යාපාර නාම රෙජිස්ට්‍රාර් කාර්යාලයේ ව්‍යාපාර නාමය ලියාපදිංචි කළ යුතු ය.

ඉහත සඳහන් කළ ලක්ෂණවලට අමතර ව තනි ව තීරණ ගතහැකි වීම, පාලනය අයිතිකරු විසින් සිදු කිරීම සහ ඕනෑ ම විටක දී අයිතිකරුගේ කැමැත්ත පරිදි ව්‍යාපාරය අවසන් කළ හැකි වීම යනා දී ලක්ෂණ ද ඒක පුද්ගල ව්‍යාපාරයක දක්නට හැකි වේ.

### ඒක පුද්ගල ව්‍යාපාර සංවිධාන ක්‍රමයේ වාසි

අනෙකුත් ව්‍යාපාර සංවිධාන වර්ගවලට සාපේක්ෂ ව ඒක පුද්ගල ව්‍යාපාර සංවිධාන ක්‍රමයේ පවත්නා ප්‍රධාන වාසි පහත දැක්වෙන ආකාරයට පැහැදිලි කළ හැකි ය.

- **පහසුවෙන් ආරම්භ කළ හැකි වීම**

  අනෙකුත් ව්‍යාපාරවලට සාපේක්ෂ ව බලපාන නීතිරීති අවම වීම, ආරම්භ කිරීමේ පිරිවැය අඩු වීම යනාදී කරුණු නිසා ඒක පුද්ගල ව්‍යාපාර පහසුවෙන් ආරම්භ කළ හැකි ය.

- **සියලු ම ලාභ අයිතිකරු සතු වීම**

  උපයනු ලබන සියලු ම ලාභ අයිතිකරු විසින් තනි ව භුක්ති විඳිනු ලැබේ.

- **ව්‍යාපාරික තොරතුරුවල රහස්‍යභාවය ආරක්ෂා වීම**
  ඒක පුද්ගල ව්‍යාපාරයක සියලු ම කළමනාකරණ හා පරිපාලන කටයුතු බොහෝ විට අයිතිකරු විසින් ම සිදු කරන බැවින් ව්‍යාපාරික තොරතුරු බාහිර පාර්ශ්වවලට ගලා යාම අවම වේ.

- **තම දක්ෂතා උපරිම ව යෙදිය හැකි වීම**
  සියලු ප්‍රතිලාභ තමාට හිමිවන බැවින් දක්ෂතා හා කැපවීම උපරිම ව යෙදවීම තුළින් ව්‍යාපාරය දියුණු කර ගැනීමට අවස්ථාව උදා වේ.

- **තීරණ ගැනීමේ ස්වාධීන බව**
  ව්‍යාපාරය පිළිබඳ සියලු තීරණ අයිතිකරු විසින් ගනු ලබන බැවින් අවශ්‍ය ක්ෂණික තීරණ ගැනීමට හැකි ය.

## ඒක පුද්ගල ව්‍යාපාර සංවිධානවල අවාසි

අනෙකුත් ව්‍යාපාර සංවිධාන වර්ගවලට සාපේක්ෂ ව ඒක පුද්ගල ව්‍යාපාර සංවිධාන ක්‍රමයේ පවත්නා ප්‍රධාන අවාසි පහත දැක්වෙන ආකාරයට පැහැදිලි කළ හැකි ය.

- **අයිතිකරුගේ වගකීම අසීමිත වීම**
  ව්‍යාපාරය ලබාගන්නා සියලු ම ණය සඳහා අයිතිකරු පෞද්ගලික ව වගකිව යුතු වේ. ව්‍යාපාරය සතු සම්පත්වල වටිනාකමට වඩා ණය ප්‍රමාණය වැඩි වුවහොත් එය පියවීමට අයිතිකරුගේ අනෙකුත් පෞද්ගලික දේපළ පවා කැප කළ යුතු ය.

- **ප්‍රාග්ධනය රැස්කරගැනීමේ දුෂ්කරතා පැවතීම**
  තනි පුද්ගලයෙකු සතු මූල්‍ය ශක්තිය සීමා වේ. එමෙන් ම ඒක පුද්ගල ව්‍යාපාරවල පවතින ඉහළ අවදානමත් අයිතිකරුගේ අසීමිත වගකීමත් නිසා බැංකු වැනි බාහිර පාර්ශ්වයන්ගෙන් ද ප්‍රාග්ධනය රැස්කරගැනීම අපහසු වේ.

- **අඛණ්ඩ පැවැත්මක් නොමැති වීම**
  අයිතිකරු මිය යෑම, උමතු වීම වැනි හේතු නිසා ව්‍යාපාර කටයුතු අවසන් විය හැකි ය.

- **ව්‍යාපාරයට නෛතික පුද්ගලභාවයක් හිමි නොවීම**
  ඒක පුද්ගල ව්‍යාපාරයකට නීතිමය පුද්ගලභාවයක් නොමැත. මේ නිසා ව්‍යාපාරයේ සෑම නීතිමය කටයුත්තක් ම අයිතිකරුගේ පෞද්ගලික නමින් සිදු කළ යුතු ය.

- **අයිතිකරු තනි ව ගන්නා තීරණ ඇතැම් විට අසාර්ථක විය හැකි වීම**
  සාමූහික ව ගන්නා තීරණවලට සාපේක්ෂ ව තනි පුද්ගලයෙකු විසින් ඔහු සතු දැනුම හා පළපුරුද්ද අනුව ගන්නා තීරණ සමහරවිට අසාර්ථක විය හැකි ය.

## හවුල් ව්‍යාපාර

ලාභ ලැබීමේ අරමුණින් පොදුවේ පවත්වාගෙන යන පුද්ගලයන් අතර පවත්නා සම්බන්ධතාව හවුල් ව්‍යාපාරයක් ලෙස හැඳින්විය හැකි ය. 1890 හවුල් ව්‍යාපාර ආඥා පනත හවුල් ව්‍යාපාර සඳහා බලපායි. ගණකාධිකාරීවරුන්, නීතිඥයන්, බදු නිලධාරීන් සහ වෛද්‍යවරුන් වැනි වෘත්තීන්වල යෙදී සිටින අය ද හවුල් ව්‍යාපාර පවත්වාගෙන යනු දැකිය හැකි ය.

**නිදසුන :-**

වරලත් ගණකාධිකාරීවරුන් කිහිප දෙනෙකු විසින් විගණන ආයතනයක් පවත්වාගෙන යාම.




රූපය 3.7

### හවුල් ව්‍යාපාරවල ලක්ෂණ

අනෙකුත් ව්‍යාපාර සංවිධානවලට සාපේක්ෂ ව හවුල් ව්‍යාපාරවල දැකිය හැකි සුවිශේෂී ලක්ෂණ කිහිපයක් පහත දැක්වේ.

- **සාමාජික සංඛ්‍යාව**

  හවුල් ව්‍යාපාරයක් ඇරඹීම සඳහා අවම වශයෙන් සාමාජිකයන් දෙදෙනෙකු වත් සිටිය යුතු අතර උපරිමය සාමාජිකයන් 20ක් සිටිය යුතු බව 2007 අංක 07 දරන සමාගම් පනත අනුව තීරණය කර ඇත.

- **හවුල් ගිවිසුම**

  හවුල් ව්‍යාපාරයක් ඇති වන්නේ හවුල්කරුවන් අතර ඇති කරගන්නා එකඟතාවක් මත ය. එම එකඟතාව හවුල් ගිවිසුම ලෙස හැඳින්වේ. මෙය ලිඛිත ව, වාචික ව හෝ ව්‍යංගයෙන් ඇති විය හැකි ය. වංචා වැළැක්වීමේ ආඥාපනතට අනුව හවුල් ව්‍යාපාරයේ ආරම්භක ප්‍රාග්ධනය රු 1 000ක් හෝ ඊට වඩා වැඩි නම් හවුල් ව්‍යාපාරය ලිඛිත ගිවිසුමක් යටතේ පවත්වාගෙන යා යුතු වේ. මෙම ලිඛිත ගිවිසුම හවුල් ඔප්පුව නමින් හැඳින්වේ.

- **හවුල්කරුවන්ගේ වගකීම අසීමිත වීම**

  හවුල්කරුවන් ව්‍යාපාරයේ ණයතුරුස් සම්බන්ධ ව අසීමිත ව වගකිව යුතු ය. ව්‍යාපාරයේ ණය ගෙවීමට එහි වත්කම් ප්‍රමාණවත් නොවේ නම් හවුල්කරුවන් ඔවුන්ගේ පෞද්ගලික දේපළ පවා යොදවමින් හෝ ණය බේරුම් කළ යුතුය.

- **හවුල් ව්‍යාපාර ලියා පදිංචිය අනිවාර්ය නොවීම**

  හවුල් ව්‍යාපාරයක සියලු හවුල්කරුවන්ගේ සම්පූර්ණ නම්වලින් පවත්වාගෙන යන්නේ නම් ලියාපදිංචි කිරීම අවශ්‍ය නොවේ. එහෙත් හවුල්කරුවන්ගේ නම්වලින් හැර වෙනත් නමකින් ව්‍යාපාරය පවත්වාගෙන යන්නේ නම් අදාළ පළාත් සභාවේ ව්‍යාපාර නාම ප්‍රඥප්තිය යටතේ ව්‍යාපාර නාම රෙජිස්ට්‍රාර් කාර්යාලයේ ව්‍යාපාර නාමය ලියාපදිංචි කළ යුතු ය.

- **නෛතික පුද්ගලභාවයක් නොමැති වීම**

  හවුල් ව්‍යාපාරයක් නීතිය ඉදිරියේ පුද්ගලයෙකු ලෙස නොසැලකේ. මේ නිසා හවුල් ව්‍යාපාරයේ නමින් නීතිමය කටයුතුවලට එළැඹිය නොහැකි ය. නිදසුන් ලෙස ගිවිසුම්වලට එළැඹීම, වාහන මිල දී ගැනීම, බැංකු ණය ලබා ගැනීම, නඩු පැවරීම ව්‍යාපාර නාමයෙන් නොව තම තමන්ගේ පෞද්ගලික නමින් කළ යුතු ය.

- **අඛණ්ඩ පැවැත්මක් නොමැති වීම**

  හවුල්කරුවෙකු මිය යාම, උමතු වීම, වැනි හේතු නිසා ද ඔවුන් කරගෙන යන හවුල් ව්‍යාපාරයේ පැවැත්මට බාධා ඇති විය හැකි ය.

## හවුල් ව්‍යාපාර සංවිධාන ක්‍රමයේ වාසි

අනෙකුත් ව්‍යාපාර සංවිධාන වර්ගවලට සාපේක්ෂ ව හවුල් ව්‍යාපාර සංවිධාන ක්‍රමයේ පහත දැක්වෙන වාසි දැකිය හැකි ය.

- **පහසුවෙන් ආරම්භ කළහැකි වීම**

  ඒක පුද්ගල ව්‍යාපාරය මෙන් ම හවුල් ව්‍යාපාර ද ආරම්භ කිරීම පහසු ය. හවුල් ව්‍යාපාර ඇරඹීමේ දී මෙන් ම පවත්වාගෙන යාමේ දී බලපාන නීති රීති සාපේක්ෂ ලෙස අවම මට්ටමක පවතී.

- **වැඩි ප්‍රාග්ධනයක් රැස්කරගත හැකි වීම**

  දෙදෙනෙකු හෝ ඊට වැඩි සංඛ්‍යාවක් හවුල් ව්‍යාපාරයට සහභාගී වන බැවින් ඒක පුද්ගල ව්‍යාපාරවලට සාපේක්ෂ ව වැඩි ප්‍රාග්ධන ප්‍රමාණයක් රැස්කරගැනීමට අවස්ථාව පවතී.

- **හවුල්කරුවන් සතු විවිධ දක්ෂතා ප්‍රයෝජනයට ගතහැකි වීම**

  හවුල් ව්‍යාපාරය සඳහා විවිධ පුද්ගලයන් සහභාගී වන බැවින් ඒ ඒ හවුල්කරුවන් සතු විශේෂ දක්ෂතා යොදා ගැනීමට හැකි වේ. වෘත්තීය ව්‍යාපාර සඳහා හවුල් ව්‍යාපාර ක්‍රමය වඩාත් යෝග්‍ය වන්නේ මේ හේතුවෙනි.

- **වගකීම හවුල්කරුවන් අතර බෙදී යාම**
  ව්‍යාපාරික කටයුතු තුළින් පැන නගින වගකීම් එම හවුල්කරුවන් අතර බෙදී යයි.

- **සාමූහික තීරණ ගත හැකි වීම**
  හවුල් ව්‍යාපාරයක හවුල්කරුවන් සියලු දෙනාගේ ම අදහස් විමසමින් සාමූහික ව වඩාත් නිවැරදි තීරණවලට එළැඹිය හැකි වේ.

## හවුල් ව්‍යාපාර සංවිධාන ක්‍රමයේ අවාසි

- **අසීමිත වගකීම**
  හවුල්කරුවන් ව්‍යාපාරයේ ණයතුරුස් සම්බන්ධ ව අසීමිත ව වගකිව යුතු වේ. මේ නිසා හවුල්කරුවන් යොදවන මුදලට වඩා ව්‍යාපාරයේ ණයතුරුස් වැඩි නම් එම ණය පියවීම සඳහා හවුල්කරුවන්ගේ පෞද්ගලික දේපළ පවා කැප කළ යුතු වේ.

- **ලාභය හවුල්කරුවන් අතර බෙදී යාම**
  ඒක පුද්ගල ව්‍යාපාරයක උපයන ලාභ සියල්ල ම එහි අයිතිකරු සතු වුව ද හවුල් ව්‍යාපාරයක උපයන ලාභය හවුල්කරුවන් අතර බෙදී යයි.

- **හවුල්කරුවන් අතර මතභේද ඇතිවිය හැකි වීම**
  ව්‍යාපාරය පවත්වාගෙන යාමේ දී හවුල්කරුවන් විසින් ගනු ලබන තීරණවල විවිධ මතභේද පැන නැගිය හැකි ය. එවැනි මතභේද ව්‍යාපාරයක අසාර්ථකත්වයට හේතු වේ.

- **අඛණ්ඩ පැවැත්මක් නොමැති වීම**
  හවුල්කරුවකුගේ මිය යාම, උමතු වීම වැනි හේතු නිසා හවුල් ව්‍යාපාරය විසුරුවා හැරීමට ද සිදු විය හැකි ය.

- **නෛතික පුද්ගලභාවයක් නොමැති වීම**
  හවුල් ව්‍යාපාරය නීතිය ඉදිරියේ පුද්ගලයකු ලෙස පිළිනොගන්නා නිසා ව්‍යාපාරයේ නීතිමය කටයුතුවල දී හවුල්කරුවන් ඔවුන්ගේ පෞද්ගලික නම්වලින් ඒ සඳහා පෙනී සිටිය යුතු ය.

## සංස්ථාපිත සමාගම්

2007 අංක 07 දරන සමාගම් පනත යටතේ ලියාපදිංචි කළ යුතු, නෛතික පුද්ගලභාවයක් සහිත, කොටස් නිකුත් කරමින් ප්‍රාග්ධනය සපයාගත හැකි සහ කොටස් හිමියන්ගේ වගකීම සීමිත වන්නා වූ සමාගම් සංස්ථාපිත සමාගම් ලෙස හැඳින්විය හැකි ය. මෙම සමාගම්වල අයිතිකරුවන් වන්නේ කොටස් මිලදී ගත් කොටස්කරුවන් ය. ඔවුන් මිලදී ගත් කොටස් වෙනුවෙන් ගෙවූ හෝ ගෙවීමට බැඳී සිටින වටිනාකමට පමණක් ඔවුන්ගේ වගකීම සීමා වේ.

### සංස්ථාපිත සමාගම්වල ලක්ෂණ

සීමාසහිත සමාගම්වල පොදුවේ දැකිය හැකි ප්‍රධාන ලක්ෂණ කිහිපයක් පහත දැක්වේ.

- **සමාගම් පනත යටතේ සංස්ථාපනය කිරීම**

  සංස්ථාපිත සමාගමක් ආරම්භ කිරීම සඳහා 2007 අංක 07 දරන සමාගම් පනත යටතේ සංස්ථාපනය කළ යුතු ය. මෙහිදී පනතේ දක්වා ඇති විධිවිධානවලට අනුකූල ව අදාළ ලියවිලි සම්පූර්ණ කොට සමාගම් රෙජිස්ට්‍රාර්වරයා වෙත ඉදිරිපත් කළ යුතු වේ.

- **අඛණ්ඩ පැවැත්මක් තිබීම**

  සමාගමක් එහි අයිතිකරුවන්ගෙන් වෙන් වූ ස්වාධීන ඒකකයක් ලෙස සැලකෙන බැවින් කොටස්කරුවන්ගේ මියයාම, බුන්වත් වීම වැනි හේතු එහි ව්‍යාපාර කටයුතුවල අඛණ්ඩ පැවැත්මට බාධාවක් නොවනු ඇත.

- **සීමිත වගකීම සහිතව ලියාපදිංචි කළ හැකි වීම**

  එවැනි සමාගමක ණය හා වෙනත් බැඳීම් සම්බන්ධයෙන් කොටස්කරුවන්ගේ වගකීම සීමා සහිතය. එනම් කොටස්කරුවන්ගේ වගකීම මිලදීගත් කොටස්වල වටිනාකමට සීමා වේ. ඒක පුද්ගල ව්‍යාපාර හා හවුල් ව්‍යාපාරවල මෙන් ඔවුනට තමාගේ අනෙකුත් පෞද්ගලික දේපළ ඒ සඳහා කැප කිරීමට සිදු නොවේ.

- **කොටස් නිකුතුවෙන් ප්‍රාග්ධනය රැස්කරගත හැකි වීම**

  සංස්ථාපිත සමාගමකට කොටස් නිකුත් කිරීම තුළින් ප්‍රාග්ධනය රැස්කර ගැනීමේ හැකියාව ඇත.

### සංස්ථාපිත සමාගම්වල වාසි

අනෙකුත් ව්‍යාපාර සංවිධානවලට සාපේක්ෂ ව සංස්ථාපිත සමාගම්වල ප්‍රධාන වශයෙන් පහත දැක්වෙන වාසි දක්නට ඇත.

- **වැඩි ප්‍රාග්ධනයක් රැස්කරගත හැකි වීම**

  කොටස් නිකුත් කිරීමෙන් ප්‍රාග්ධනය රැස්කර ගැනීමට අවස්ථාව ලැබෙන නිසා විශාල ප්‍රාග්ධන ප්‍රමාණයක් රැස්කර ගැනීමට හැකියාව ඇත. ඉහළ පිළිගැනීම නිසා බාහිර පාර්ශ්වයන්ගෙන් ලබා ගන්නා ණය මගින් ද අරමුදල් රැස්කර ගැනීම පහසු වේ.

- **නෛතික පුද්ගලභාවයක් හිමි වීම**

  සමාගමක් නීතිය ඉදිරියේ දී නීතිමය පුද්ගලයෙකු ලෙස සැලකේ. මේ නිසා ගිවිසුම් ඇතිකර ගැනීම, නියෝජිතයන් පත්කර ගැනීම, වත්කම් අත්පත්කර ගැනීම මෙන් ම බදු ගෙවීම ආදී කරුණුවලදී සමාගම ට තම නමින් ක්‍රියා කළ හැකි ය.

- **අඛණ්ඩ පැවැත්මක් තිබීම**

  සමාගමක කොටස්කරුවන් මිය යාම, බුන්වත් වීම වැනි හේතු මත සමාගමේ පැවැත්මට බාධාවක් ඇති නොවේ. මේ නිසා සමාගමට අඛණ්ඩ ව ව්‍යාපාරික කටයුතු කරගෙන යාමට හැකි වේ.

- **වගකීම් සීමා සහිත වීම**

  සීමා සහිත සමාගමක කොටස්කරුවන්ගේ වගකීම ඔවුන් සමාගමේ ආයෝජනය කළ ප්‍රාග්ධනයට පමණක් සීමා වේ.

- **අධ්‍යක්ෂ මණ්ඩලයක් මගින් කළමනාකරණය කිරීම**

  සමාගමක කොටස්කරුවන්ගේ ඡන්දයෙන් තෝරා පත් කර ගන්නා අධ්‍යක්ෂ මණ්ඩලයක් මගින් සමාගමේ කටයුතු කළමනාකරණය කෙරේ.

**සීමා සහිත සමාගම්වල අවාසි**

අනෙකුත් ව්‍යාපාරවලට සාපේක්ෂ ව සමාගම්වල දැකිය හැකි අවාසි කිහිපයක් පහත දැක්වේ.

- **නීතිමය විධි විධාන අධික වීම**

  සමාගම් ආරම්භ කිරීම, පවත්වාගෙන යාම හා විසුරුවා හැරීම සම්බන්ධ ව බලපාන නීති රීති හා රෙගුලාසි අනෙකුත් ව්‍යාපාර සංවිධානවලට සාපේක්ෂ ව අධික බැවින් සමාගම්වල කටයුතු පවත්වාගෙන යාම සංකීර්ණ වේ.

- **ලාභය සහ අයිතිය බෙදී යාම**

  සමාගමක විශාල කොටස්කරුවන් ප්‍රමාණයක් සිටින අවස්ථාවක දී අයිතිය හා ලාභය බෙදීයාමක් සිදු වේ.

## සමූපකාර සමිති

සමූපකාර සමිතියක් යනු ප්‍රජාතන්ත්‍රවාදී ව පාලනය වන ස්වාධීන සංවිධානයකි. තව ද එය ස්වෙච්ඡාවෙන් එකට එකතු වී සාමූහික අයිතියක් භුක්ති විඳින පුද්ගල කණ්ඩායමක පොදු අවශ්‍යතා ඉටුකර ගැනීමට අරමුණු කර ගත් ව්‍යාපාරයකි. අවම වශයෙන් සාමාජිකයන් දස දෙනෙකුගේ සහභාගිත්වයෙන් සමූපකාර සමිතියක් ආරම්භ කළ හැකි අතර ප්‍රධාන වශයෙන් සාමාජික අරමුදලින් ප්‍රාග්ධනය සැපයීම සිදු කෙරේ. එමෙන් ම 1972 අංක 05 දරන සමූපකාර සමිති පනත යටතේ සමූපකාර සමිති ලියාපදිංචිය කළ යුතු වේ.

**නිදසුන් :-**

ශ්‍රී ලංකා විවිධ සේවා සමූපකාර සමිති
ශ්‍රී ලංකා පොල් නිපදවන්නන්ගේ සමූපකාර සමිතිය
සමූපකාර ණය දෙන සමිති (සණස)

## සමූපකාර සමිතිවල ලක්ෂණ

සමූපකාර සමිතිවල දැකිය හැකි සුවිශේෂී ලක්ෂණ කිහිපයක් පහත දැක්වේ.

- **ප්‍රජාතන්ත්‍රවාදී පාලනයක් පැවතීම**
  සෑම සාමාජිකයෙකුගේ ම ඡන්දයෙන් සමූපකාර සමිතියේ පාලන කටයුතු සඳහා අධ්‍යක්ෂ මණ්ඩලයක් තෝරා ගැනීම හා බහුතරයකගේ කැමැත්ත මත තීරණ ගැනීමේ හැකියාව වැනි ප්‍රජාතන්ත්‍රවාදී පාලනයේ ලක්ෂණ සමූපකාර සමිතියක තිබේ.

- **ස්වෙච්ඡා හා විවෘත සාමාජිකත්වය**
  ඕනෑ ම අයෙකුට තමාගේ කැමැත්තෙන් සාමාජිකත්වය ලබා ගැනීමේ හා සාමාජිකත්වයෙන් ඉවත් වීමේ හැකියාව ඇත.

- **සාමාජිකයන්ගේ සාමූහික අයිතිය**
  සමූපකාර සමිතියක අයිතිය සමාජිකයන් සතුවන අතර එහි සියලු වත්කම් ද සාමාජිකයන් සියලු දෙනාට ම හිමි වේ.

- **පොදු අවශ්‍යතා හා අරමුණුවලින් යුක්ත වීම**
  සමූපකාර සංවිධානවල ප්‍රධාන ම අරමුණ වන්නේ තම සාමාජිකයන්ගේ සුභසිද්ධිය මෙන් ම සමාජයේ සංවර්ධනයට කටයුතු කළ යුතු වීමයි.

## සමූපකාර සමිතිවල වාසි

අනෙකුත් ව්‍යාපාර සංවිධානවලට සාපේක්ෂ ව සමූපකාර සංවිධාන ක්‍රමයේ පවතින වාසි කිහිපයක් පහත දැක්වේ.

- **ප්‍රජාතන්ත්‍රවාදී පාලනයක් පැවතීම**
  සාමාජිකයන් වැඩි දෙනෙකුගේ කැමැත්ත මත පාලනය සඳහා අධ්‍යක්ෂ මණ්ඩලය තෝරා ගැනීමේ හා තීරණ ගැනීමේ අවකාශය ඇත.

- **සාමාජිකයන්ගේ ශුභසාධනය වෙනුවෙන් කටයුතු කිරීම**
  සමූපකාර සමිති පොදු අරමුණු මුල්කරගෙන පිහිටුවන නිසා සෑම විට ම එය සමාජ වගකීම මෙන් ම සැමට සාධාරණත්වය යන සංකල්ප අගය කරමින් කටයුතු කරයි.

- **සමූපකාර සමිති පවත්වා ගැනීම වෙනුවෙන් විවිධ වූ රාජ්‍ය අනුග්‍රහ හිමිවීම**

- **ආර්ථික ප්‍රතිලාභ බෙදී යාම**
  සමූපකාර සමිතියක ව්‍යාපාර කටයුතු තුළින් උපයා ගනු ලබන අතිරික්තය විවිධ අයුරින් සාමාජිකයන් අතර බෙදේ.

**සමූපකාර සමිතිවල අවාසි**

- **ප්‍රාග්ධනය සීමිත වීම**

  සාමාජියන්ගේ සාමාජික ගාස්තුවලින් පමණක් ප්‍රාග්ධය සපයාගන්නා බැවින් රැස්කරගත හැකි ප්‍රාග්ධන ප්‍රමාණය සීමිත වේ.

- **සමූපකාර ප්‍රතිපත්ති මත ම කටයුතු කළ යුතු වීම**

  මෙම ව්‍යාපාර සංවිධාන වර්ගය පදනම් වී ඇත්තේ සමූපකාර ප්‍රතිපත්ති මත ය. එම ප්‍රතිපත්ති තුළ සීමාවීමට සිදුවීම නිසා තරගකාරී ව්‍යාපාර ලෝකයට මුහුණ දීමට අවශ්‍ය පරිදි ව්‍යාපාර කටයුතු වෙනස් කළ නොහැකි වේ.

## සමිති

සමාජ සුභසාධනය අරමුණු කරගත් සංවිධානයක් ලෙස සමිති හැඳින්විය හැකි ය. විශේෂයෙන් ම සාමාජික සුභසාධනය, ප්‍රජා සේවා හෝ පුණ්‍ය කටයුත්තක් පදනම් කරගෙන මෙවැනි සංවිධාන පිහිටුවාගෙන ඇත.

**නිදසුන් ඃ-**

ක්‍රීඩා සමිති
ගොවි සමිති
අන්‍යෝන්‍යාධාර සමිති

## රාජ්‍ය සංස්ථා

සමාගම් පනත යටතේ හැර වෙනත් නීතියක් යටතේ සංස්ථාපනය කළ පූර්ණ අයිතිය රජය සතුවන හෝ අයිතියෙන් වැඩි ප්‍රමාණයක් රජය සතුවන ව්‍යාපාර රාජ්‍ය සංස්ථා ලෙස හැඳින්විය හැකි ය. රජය විසින් පත්කරන අධ්‍යක්ෂ මණ්ඩලයක් මගින් රාජ්‍ය සංස්ථා පාලනය වේ. මෙම ව්‍යාපාර විශේෂ හෝ පොදු පාර්ලිමේන්තු පනත් මගින් හෝ ආරම්භ කෙරෙයි. රාජ්‍ය නීතිගත සංස්ථාව, කොමිසම, අධිකාරිය, මණ්ඩලය සහ කාර්යාංශය යන නම්වලින් ද රාජ්‍ය සංස්ථා හඳුන්වනු ලැබේ.

**නිදසුන් ඃ-**

ශ්‍රී ලංකා රූපවාහිනී සංස්ථාව
ශ්‍රී ලංකා වරාය අධිකාරිය
පොල් සංවර්ධන අධිකාරිය
රාජ්‍ය ඖෂධ නීතිගත සංස්ථාව
විදේශ සේවා නියුක්ති කාර්යාංශය
කෘෂි රක්ෂණ මණ්ඩලය

### රාජ්‍ය සංස්ථාවල ලක්ෂණ

අනෙකුත් ව්‍යාපාර සංවිධානවලට සාපේක්ෂ ව රාජ්‍ය සංස්ථාවල දැකිය හැකි ලක්ෂණ කිහිපයක් පහත දැක්වේ.

- **අයිතිය හා පාලනය රජය සතු වීම**
  අයිතිය හා පාලනය පූර්ණ වශයෙන් රජයට හෝ වැඩි ප්‍රමාණයක් රජය සතු වේ. සුළු කොටස් ප්‍රමාණයක් පෞද්ගලික අංශය සතු වන අවස්ථා ද දක්නට ඇත.

- **නෛතික පුද්ගලභාවයක් තිබීම**
  රාජ්‍ය සංස්ථා නීතිමය කටයුතුවල දී වෙන ම පුද්ගලභාවයක් පවතී.

- **විශේෂ පනතක් හෝ පවත්නා පොදු පනතක් යටතේ ආරම්භ කළ හැකි වීම**

- **අඛණ්ඩ පැවැත්මක් තිබීම.**
  පාර්ලිමේන්තුවෙන් සම්මත වූ පනතක් අනුව රාජ්‍ය සංස්ථා පිහිටුවන නිසා පැවැත්ම ද අඛණ්ඩ වේ.

### රාජ්‍ය සංස්ථාවල වාසි

- **අත්‍යවශ්‍ය සේවා සම්පාදනය සඳහා උචිත වීම**
  මහජනතාවට අත්‍යවශ්‍ය වන බොහෝ සේවා පෞද්ගලික අංශය විසින් සැපයීමට ඉදිරිපත් නොවන අතර ඒවා සඳහා රාජ්‍ය සංස්ථා ක්‍රමය උචිත වේ.

  **නිදසුන් :-**
  ජාතික ජල සම්පාදන හා ජලාපවාහන මණ්ඩලය
  ලංකා විදුලිබල මණ්ඩලය

- **පෞද්ගලික අංශයේ ඒකාධිකාරී බලපෑම් අවම කිරීමට දායක වීම**
  පෞද්ගලික අංශයේ ඒකාධිකාරී බලය තුළින් ඇතිකරන අහිතකර බලපෑම් අවම කිරීම සඳහා රාජ්‍ය සංස්ථා යොදාගනිමින් තරගකාරී පරිසරයක් නිර්මාණය කළ හැකි වේ.

  **නිදසුන් :-**
  ශ්‍රී ලංකා ගමනාගමන මණ්ඩලය

- **ලාභය මහජනතාව සතුවීම**
  රාජ්‍ය සංස්ථාවක් උපයන ලාභයෙන් කොටසක් රජයේ ඒකාබද්ධ අරමුදලට බැර කිරීම සිදු වේ.

**රාජ්‍ය සංස්ථාවල අවාසි**

- තීරණ ගැනීමේ ස්වාධීනත්වය නැති වීම
- රජයේ මූල්‍ය රෙගුලාසිවලට යටත් වීම

## රාජ්‍ය දෙපාර්තමේන්තු

අමාත්‍යාංශයක් යටතේ ක්‍රියාත්මක වන මුළුමනින් ම රජයේ ඍජු පාලනයට අයත්වන ආයතන දෙපාර්තමේන්තු ලෙස හඳුන්වා දිය හැකි ය. බොහෝ විට මහ ජනතාව සඳහා විවිධ සේවා සැපයීමට දෙපාර්තමේන්තු ක්‍රියාත්මක වේ.

**නිදසුන් ඃ-**

ශ්‍රී ලංකා දුම්රිය දෙපාර්තමේන්තුව

ශ්‍රී ලංකා තැපැල් දෙපාර්තමේන්තුව

**රාජ්‍ය දෙපාර්තමේන්තුවල ලක්ෂණ**

අනෙකුත් ව්‍යාපාර සංවිධානවලට සාපේක්ෂ ව රජයේ දෙපාර්තමේන්තුවල දක්නට ලැබෙන ලක්ෂණ කිහිපයක් පහත දැක්වේ.

- **අයිතිය හා පාලනය රජය සතු වීම**
  දෙපාර්තමේන්තුවල අයිතිය සම්පූර්ණයෙන් ම රජය සතු වේ. පාර්ලිමේන්තුවේ හා අදාළ අමාත්‍යාංශයේ ඍජු පාලනයට යටත් වේ. දෙපාර්තමේන්තු ප්‍රධානීන් මගින් කළමනාකරණ හා පරිපාලන කටයුතු සිදු වේ.

- **නීතිමය කටයුතුවල දී දෙපාර්තමේන්තු ප්‍රධානියා සිය නිල නාමයෙන් පෙනී සිටිය යුතු වීම**

- **අඛණ්ඩ පැවැත්ම**
  රජයේ අභිමතය අනුව දෙපාර්තමේන්තුවල පැවැත්ම රඳා පවතී.

- **අරමුදල් රජය මගින් සැපයීම**
  රජයේ වාර්ෂික අය වැය ලේඛනය මගින් අවශ්‍ය අරමුදල් ප්‍රතිපාදනය කෙරේ.

**දෙපාර්තමේන්තුවල වාසි**

- ජනතාවට අත්‍යවශ්‍ය වන සේවා සැපයීම බොහෝවිට දෙපාර්තමේන්තුවලින් සිදු වේ.

- විශාල ප්‍රාග්ධනයක් අවශ්‍ය දිගුකාලීන සංවර්ධනය සඳහා හේතුවන කටයුතු සඳහා දෙපාර්තමේන්තු මැදිහත් වේ.

- රජයේ දෙපාර්තමේන්තුවල විශාල සේවක පිරිසක් සේවය කරන නිසා විශාල රැකියා අවස්ථා ප්‍රමාණයක් සලසයි.

- ජනතාවගේ සුභසිද්ධිය සඳහා ලාභ අපේක්ෂාවෙන් තොර ව සේවා සැපයීම දෙපාර්තමේන්තුවලින් සිදු වේ.

**දෙපාර්තමේන්තුවල අවාසි**

- රජයේ මූල්‍ය නීති සංග්‍රහය, ආයතන සංග්‍රහය හා විවිධ චක්‍රලේඛවලට අනුව දෙපාර්තමේන්තු කටයුතු කළ යුතු වීම හා තීරණ ගැනීමේ ස්වාධීනත්වය නැති වීම
- සේවයේ නියුතු අතිරික්ත සේවකයන් ප්‍රමාණය වැඩි නිසා ශ්‍රම පිරිවැය වැඩි වීම

## 3.2 යෝග්‍ය ව්‍යාපාර සංවිධාන ක්‍රමයක් තෝරා ගැනීම

මිනිස් අවශ්‍යතා හා වුවමනා සපුරාලීමට සංවිධාන කළ හැකි විවිධ වර්ගයේ ව්‍යාපාර සංවිධාන පිළිබඳ ඉහතින් සාකච්ඡා කර ඇත. ව්‍යාපාරිකයන් විසින් එවැනි ව්‍යාපාර සංවිධාන ක්‍රමයක් තෝරා ගැනීමේ දී සැලකිල්ලට ගනු ලබන සාධක කිහිපයක් පහත දැක්වේ.

- අරමුණ අනුව
- පරිමාණය අනුව
- කළමනාකරණ කටයුතු සිදු කරනුයේ කවුරුන්ද යන්න අනුව

### අරමුණ අනුව ව්‍යාපාර සංවිධාන වර්ගයක් තෝරා ගැනීම

ව්‍යාපාර සංවිධානයක් තෝරා ගැනීමේ දී ප්‍රධාන වශයෙන් අරමුණු දෙකක් පදනම් වේ.

- ලාභ ලැබීමේ අරමුණ
- සමාජ සුභසාධන අරමුණ

**ලාභ ලැබීමේ අරමුණ**

බොහෝ ව්‍යාපාරිකයෝ ලාභ ලැබීමේ අපේක්ෂාවෙන් ව්‍යාපාර කටයුතු කරගෙන යති. ලාභය උපරිම කිරීම මෙම ව්‍යාපාරිකයන්ගේ අරමුණ වේ.

ඉහත සඳහන් කළ ව්‍යාපාර සංවිධාන අතුරින් තනි පුද්ගල ව්‍යාපාර, හවුල් ව්‍යාපාර, සංස්ථාපිත සමාගම් හා රාජ්‍ය සමාගම් ආදිය ආරම්භ කරන්නේ ලාභ අරමුණු කර ගෙන ය.

### සමාජ සුභසාධන අරමුණ

මිනිස් අවශ්‍යතා හා වුවමනා ඉටුකරමින් සමාජ සුභසාධනය අරමුණු කරගත් ව්‍යාපාර සංවිධාන ද ක්‍රියාත්මක වේ. එවැනි සංවිධාන සාමාජිකයන්ගේ සුභසිද්ධිය සඳහා කටයුතු කිරීම, විපත් හා අසහනයට පත් වූ ජනතාවට සහන සැලසීම වැනි අරමුණු පාදක කරගනී. පෞද්ගලික හා රාජ්‍ය අංශයේ ද මෙවැනි ව්‍යාපාර ක්‍රියාත්මක වේ.

**නිදසුන් :-**

- ☆ ගොවි සමිති, ක්‍රීඩා සමිති, මරණාධාර සමිති වැනි සමිති ව්‍යාපාර
- ☆ සමූපකාර සමිති
- ☆ රාජ්‍ය දෙපාර්තමේන්තු

මේ අනුව ව්‍යාපාරිකයා තමා අපේක්ෂා කරන අරමුණ මත සුදුසු ව්‍යාපාර වර්ගය තෝරා ගත යුතු ය.

## පරිමාණය අනුව ව්‍යාපාර සංවිධාන වර්ගයක් තෝරා ගැනීම

ව්‍යාපාර වර්ගයක් තෝරා ගැනීමේ දී එහි පරිමාණය පිළිබඳ ව ද සලකා බැලිය යුතු ය. ව්‍යාපාරයක පරිමාණය තීරණය කිරීම සාධක කිහිපයක් මත රඳා පවතී. අයිතිකරුගේ මූල්‍ය ශක්තිය, කුසලතා හා පළපුරුද්ද සහ විවිධ සබඳතා ඒවා අතර ප්‍රධාන වේ. මීට අමතර ව ව්‍යාපාරය නිපදවන භාණ්ඩ හා සේවා ප්‍රමාණය, නිෂ්පාදනයට අදාළ වෙළෙඳපළ කොටස ආදී සාධක ද ව්‍යාපාරයේ පරිමාණය තීරණය කිරීමේදී සලකා බැලිය යුතු ය.

මේ අනුව ප්‍රධාන වශයෙන් පරිමාණය අනුව ව්‍යාපාර වර්ග දෙකක් හඳුනා ගත හැකි ය.

- සුළු පරිමාණ ව්‍යාපාර
- මහා පරිමාණ ව්‍යාපාර

### සුළු පරිමාණ ව්‍යාපාර

බොහෝවිට ව්‍යාපාරයක් මුලින් ම ආරම්භ කරනුයේ සුළු පරිමාණ ව්‍යාපාර වශයෙනි. බොහෝ සුළු පරිමාණ ව්‍යාපාර ඒක පුද්ගල ව්‍යාපාර වේ. සුළු ප්‍රාග්ධනයකින්, අවම නීතිමය බලපෑම් යටතේ ආරම්භ කළ හැකි වීම හා තමාගේ දක්ෂතා උපරිම කිරීමට හැකි වීම ආදිය තනි පුද්ගල ව්‍යාපාරයක් තෝරා ගැනීමට හේතු වේ.

### මහා පරිමාණ ව්‍යාපාර

මහා පරිමාණයේ ව්‍යාපාරයක් ආරම්භ කළ හැකි වන්නේ ව්‍යාපාරිකයා සතු ව විශාල සම්පත් ප්‍රමාණයක් පැවතීම, වෙනත් ව්‍යාපාරවල සේවය කිරීමෙන් ලද පළපුරුද්ද, ව්‍යාපාර සඳහා දිරි ගැන්වීම් ලබා දෙන ජාල සබඳතා පැවැතීම හා රජයෙන් සැපයෙන යටිතල පහසුකම් හා වෙනත් දිරිගැන්වීම් ලබා දීම වැනි සාධක මත ය.

## කළමනාකරණය සිදු කරනුයේ කවුරුන් ද යන්න අනුව ව්‍යාපාර සංවිධාන වර්ගයක් තෝරා ගැනීම

කළමනාකරණය යනු ව්‍යාපාරයක් සතු සම්පත් සැලසුම් කිරීම, සංවිධානය කිරීම, මග පෙන්වීම හා පාලනය කිරීම තුළින් ව්‍යාපාරයේ අරමුණු ඉටු කරගැනීම සඳහා කටයුතු කිරීමේ ක්‍රියාවලියකි.

ඒක පුද්ගල ව්‍යාපාරයක බොහෝවිට අයිතිකරු විසින් ම කළමනාකරණ කටයුතු සිදු කරනු ලැබේ. ඔහුට ව්‍යාපාරයේ සියලු ම කටයුතු සඳහා නිදහසේ තීරණ ගැනීමේ හැකියාව ඇත. එමෙන් ම ඔහු ව්‍යාපාරයේ අයිතිකරු, නායකයා සහ කළමනාකරු ද වේ.

මෙහිදී අයිතිකරු ලෙස අරමුදල් සම්පාදනය හා ආයෝජනය පිළිබඳ තීරණ ගැනීමේ නිදහස පවතී. එසේ ම නායකයෙකු ලෙස සම්පත් මෙහෙයවීම පිළිබඳ ස්වාධීන තීරණ ගත හැකි වේ.

ව්‍යාපාරයක කළමනාකරණ කටයුතු පුද්ගලයන් කිහිප දෙනෙකු මගින් සිදු කර ගැනීමට අපේක්ෂා කරන්නේ නම් හවුල් ව්‍යාපාර සංවිධානයක් හෝ සංස්ථාපිත සමාගමක් තෝරා ගැනීම උචිත වේ. මෙහිදී හවුල්කරුවන් සියලු දෙනාගේ ම කැමැත්ත මත ව්‍යාපාරය සම්බන්ධ තීරණ ගැනීමට හැකියාව ලැබේ.

## 3.3 ඒක පුද්ගල ව්‍යාපාරයක් ලියාපදිංචි කිරීම

ඒක පුද්ගල ව්‍යාපාරයක් අයිතිකරුගේ සම්පූර්ණ නමින් හැර වෙනත් නමකින් ව්‍යාපාර නාමය පවත්වාගෙන යන්නේ නම් එම ව්‍යාපාර නාමය ලියාපදිංචි කිරීම අනිවාර්ය වේ.

**නිදසුන :-**

ගයාල් පෙරේරාගේ ව්‍යාපාරය " ගයාල් " නමින් පවත්වාගෙන යන්නේ නම් ව්‍යාපාර නාමය ලියාපදිංචි කළයුතු වේ.

මෙහිදී සිදුවන්නේ ව්‍යාපාරයේ නාමය ලියාපදිංචි කිරීම පමණකි. එමගින් ව්‍යාපාරය සඳහා නෛතික පුද්ගලභාවයක් හිමි නොවේ.

### ඒක පුද්ගල ව්‍යාපාරයක් ලියාපදිංචි කිරීමේ නෛතික ක්‍රියා පටිපාටිය

ඒක පුද්ගල ව්‍යාපාරයක් අයිතිකරුගේ සම්පූර්ණ නමින් හැර වෙනත් නමකින් පවත්වාගෙන යන්නේ නම් අදාළ පළාත් සභා ව්‍යාපාර නාම ප්‍රඥප්තිය යටතේ ව්‍යාපාර නාමය ලියාපදිංචි කළ යුතු වේ. ඒ අනුව ව්‍යාපාර නම ලියාපදිංචි කිරීමේ බලධරයා වනුයේ අදාළ පළාත් සභාවේ ව්‍යාපාර නාම රෙජිස්ට්‍රාර්වරයා ය. ලියාපදිංචිය සඳහා අවශ්‍ය ඉල්ලුම් පත්‍රය ප්‍රාදේශීය ලේකම් කාර්යාලවලින් ලබාගත හැකි ය. ලියාපදිංචි කිරීමට අදාළ ගාස්තු නියම කිරීම ඒ ඒ පළාත් සභාවලට පැවරී ඇති බලතල අනුව සිදු කෙරේ. එමෙන් ම ඒක පුද්ගල ව්‍යාපාරයක් ආරම්භ කර දින 14 ක් ඇතුළත ව්‍යාපාර නාමය ලියාපදිංචිය සඳහා අයදුම්පත ඉදිරිපත් කළ යුතු වේ.

ඒක පුද්ගල ව්‍යාපාරයක් ලියාපදිංචිය සඳහා පහත දැක්වෙන ක්‍රියා පටිපාටිය අනුගමනය කළ යුතු ය.

01. ප්‍රාදේශීය ලේකම් කාර්යාලයෙන් අදාළ ඉල්ලුම් පත්‍රය ලබා ගැනීම.

මේ සඳහා පහත දැක්වෙන ඉල්ලුම් පත්‍ර දෙක ලබාගත යුතු ය.

i ඒක පුද්ගල ව්‍යාපාර නාමය ලියාපදිංචි කිරීම සඳහා වූ ඉල්ලුම් පත්‍රය.

ii ව්‍යාපාර නාම ලියාපදිංචි කිරීම සඳහා අවශ්‍ය වන ග්‍රාම නිලධාරී වාර්තාව ලබා ගැනීම සඳහා වූ ඉල්ලුම් පත්‍රය.

02. ග්‍රාම නිලධාරී සහතික කළ වාර්තාව සහ නිවැරදි ව සම්පූර්ණ කරන ලද ඉල්ලුම් පත්‍රය ලියාපදිංචියට අවශ්‍ය ගාස්තුව ද සමග ප්‍රාදේශීය ලේකම් වෙත බාර දීම

03. ප්‍රාදේශීය ලේකම් විසින් ඉහත ලේඛන සලකා බැලීමෙන් අනතුරු ව ව්‍යාපාර නාමය ලියාපදිංචි කිරීමේ සහතිකය නිකුත් කිරීම. මෙම සහතිකය ව්‍යාපාරික ස්ථානයේ ප්‍රදර්ශනය කළ යුතු වේ.

## ව්‍යාපාර නාමය ලියාපදිංචි කිරීමෙන් ලබාගත හැකි ප්‍රයෝජන

ඒක පුද්ගල ව්‍යාපාරයක නාමය ලියාපදිංචි කිරීම තුළින් පහත දැක්වෙන ප්‍රයෝජන අත්කර ගත හැකි ය.

- **අනන්‍යතාවක් ලැබීම**
  තම ව්‍යාපාරය වෙනත් ව්‍යාපාරවලින් වෙන්කොට හඳුනා ගැනීමේ වාසිය හිමි වීම

- **ව්‍යාපාර නාමයේ අයිතිය තහවුරු වීම**
  මෙහි දී  අයිතිකරුගේ නමට ලියාපදිංචි වන බැවින් ව්‍යාපාර නාමයේ අයිතිය තහවුරු වීම

- **රජයෙන් ලබා දෙන දිරිගැන්වීම් ලබාගැනීමට සුදුසුකමක් වීම**
  ව්‍යාපාර සඳහා රජය විසින් විවිධ පහසුකම් සපයයි. එම පහසුකම් ලබා ගැනීම සඳහා ලියාපදිංචි ව්‍යාපාරවලට වැඩි අවස්ථාවක් සැලසීම

- **ණය ලබා ගැනීමේ දී පහසුවක් ලැබීම**
  නාමය ලියාපදිංචි කළ ව්‍යාපාර පිළිබඳ විශ්වාසයක් ඇතිවන නිසා ණය සැපයුම්කරුවන් ණය සැපයීම සඳහා පෙළඹෙනු ඇත.

### ක්‍රියාකාරකම 01

ඔබගේ ප්‍රදේශයේ පවතින සම්පත් භාවිත කරමින් ආරම්භ කළ හැකි ඒක පුද්ගල ව්‍යාපාරයක් පිළිබඳ අවධානය යොමු කරන්න.

01. එම ව්‍යාපාරය සඳහා සුදුසු නමක් යෝජනා කරන්න.

02. එසේ ඒක පුද්ගල ව්‍යාපාරයක් ඇරඹීමෙන් ලැබිය හැකි ප්‍රතිලාභ පැහැදිලි කරන්න.

03. එවැනි ඒක පුද්ගල ව්‍යාපාරයක් ඇරඹීමෙන් අවාසිවලට මුහුණ පෑමට සිදුවිය හැකි ද? ඔබේ පිළිතුරට හේතු දක්වන්න.

04. එම ව්‍යාපාරයේ නාමය ලියාපදිංචි කළ යුතු ද? හේතුව දක්වන්න.

05. ව්‍යාපාර නාමය ලියාපදිංචිය අවශ්‍ය වේ නම් ඒ සඳහා අනුගමනය කළ යුතු ක්‍රියාපටිපාටිය පැහැදිලි කරන්න.

### ක්‍රියාකාරකම 02

පහත දැක්වෙන ශීර්ෂ යටතේ ඇති ව්‍යාපාර වර්ග අතර පවත්නා සමාන අසමානකම් දැක්වෙන වගුවක් සකස් කරන්න.

| ශීර්ෂය | තනි පුද්ගල ව්‍යාපාර | හවුල් ව්‍යාපාර | සීමාසහිත සමාගම් | සමූපකාර | රාජ්‍ය සංස්ථා | දෙපාර්තමේන්තු |
|---|---|---|---|---|---|---|
| අයිතිය | | | | | | |
| ප්‍රාග්ධනය සපයාගැනීම | | | | | | |
| වගකීම | | | | | | |
| කළමනාකරණය | | | | | | |
| නෛතික පුද්ගලභාවය | | | | | | |
| පැවැත්ම | | | | | | |

## ක්‍රියාකාරකම 03

පහත දැක්වෙන්නේ ව්‍යාපාර ආයතන කිහිපයක නම් ය.

- සීමාසහිත නන්දු සමාගම
- ජනහිත ස්ටෝර්ස්
- සිල්වා සහ පුත්‍රයෝ
- සමූපකාර තොග වෙළෙඳ සංස්ථාව
- ශ්‍රී ලංකා දුම්රිය දෙපාර්තමේන්තුව
- ශ්‍රී ලංකා ගුවන් විදුලි සංස්ථාව

01. ඉහත එක් එක් ව්‍යාපාර ආයතනය අයත් ව්‍යාපාර සංවිධාන වර්ගය නම් කරන්න.

02. එම ව්‍යාපාර ආයතන හිමිකාරිත්වය අනුව වර්ගකර දක්වන්න.

03. ව්‍යාපාර අරමුණු අනුව වර්ග කර, ඉහත දැක්වෙන ව්‍යාපාර එම වර්ගීකරණය යටතේ බෙදා දක්වන්න.

04. ඉහත ව්‍යාපාර ආයතනවලින් නීතිමය පුද්ගලභාවය සහිත ව්‍යාපාර ආයතන මොනවා ද?

05. මෙම ව්‍යාපාර ආයතන ප්‍රාග්ධන සම්පාදනය කර ගන්නා ආකාර වෙන වෙන ම දක්වන්න.

## ක්‍රියාකාරකම 04

පහන් සියලු දෙනාට ම සවන් දෙයි. සාමූහික තීරණ ගැනිමට මෙන් ම අවදානම් බෙදා ගැනිමට ද ඔහු කැමති ය. සාමූහික වැඩ පිළිබඳ ලොකු විශ්වාසයක් ඇති ඔහු මිතුරෙකුගේ වගකීමක් වුව ද බාර ගනී.

දිනුක තනි තීරණ ගැනීමට කැමති පුද්ගලයෙකි. ඔහුට ඕනෑ ම අවදානමක් තනිව විඳ දරා ගැනීමට ශක්තිය ඇත. ඔහු සෑම විට ම තම කටයුතු සාර්ථක කර ගැනීමට දැඩි කැපවීමෙන් ක්‍රියා කරයි.

පහන් හා දිනුක ව්‍යාපාර ඇරඹීමට අපේක්ෂාවෙන් සිටී.

01. ඉහත කරුණුවලට අනුව පහන් ඇරඹිය යුත්තේ කුමන ව්‍යාපාර සංවිධාන වර්ගය දැයි යෝජනා කරන්න. ඔබේ පිළිතුරට හේතු දක්වන්න.

02. දිනුක ඇරඹිය යුතු ව්‍යාපාර සංවිධාන වර්ගය කුමක් දැයි යෝජනා කරන්න. ඔබේ පිළිතුරට හේතු දක්වන්න.

03. පහන් සහ දිනුක එම ව්‍යාපාර සංවිධාන ආරම්භ කිරීමෙන් ඔවුනට අත් වන වාසි සහ අවාසි වෙන වෙන ම ලියන්න.

# 4 ගිණුම්කරණය හැඳින්වීම



මෙම පරිච්ඡේදය මගින් පහත දැක්වෙන කරුණු පිළිබඳ සාකච්ඡා කෙරේ.

4.1 ගිණුම්කරණය *

4.2 ගිණුම්කරණයේ අරමුණු සහ අවශ්‍යතාව

4.3 ව්‍යාපාර ගනුදෙනු

4.4 විවිධ ව්‍යාපාර ගනුදෙනු තුළින් බිහිවන වත්කම්, වගකීම්, හිමිකම්, ආදායම් සහ වියදම්

* මෙම ග්‍රන්ථය තුළ ගිණුම්කරණය යනුවෙන් සඳහන් කරන්නේ මූල්‍ය ගිණුම්කරණය පමණි.

## 4.1 ගිණුම්කරණය

ව්‍යාපාරයක් කෙරෙහි ඇල්මැති පාර්ශ්වවල තීරණ ගැනීමට ප්‍රයෝජනවත් වන තොරතුරු සැපයීමේ ක්‍රියාවලිය ගිණුම්කරණය ලෙස හැඳින්විය හැකි ය. බොහෝ ව්‍යාපාරික තීරණ සඳහා මූල්‍යමය තොරතුරු ඉතා වැදගත් වේ. එම මූල්‍යමය තොරතුරු සැපයීමට පවතින ගිණුම්කරණය මූල්‍ය ගිණුම්කරණය ලෙස හැඳින්වෙයි.

## 4.2 ගිණුම්කරණයේ අරමුණු හා අවශ්‍යතාව

ගිණුම්කරණය අවශ්‍යවන්නේ ව්‍යාපාර ඒකක කෙරෙහි ඇල්මැති පාර්ශ්වවලට තීරණ ගැනීමේ දී ප්‍රයෝජනවත් වන තොරතුරු සැපයීම සඳහා ය. එවැනි පාර්ශ්ව ගණනාවක් ඇත. හිමිකරුවන්, ණයහිමියන්, ගනුදෙනුකරුවන් සහ රජය වැනි පාර්ශ්ව ඒ අතර වැදගත් වේ. ඒ සෑම පාර්ශ්වයක් ම විවිධ ස්වරූපයේ තීරණ ගන්නා අතර ඔවුන්ට ඒ සඳහා විවිධ තොරතුරු අවශ්‍ය වේ. ගිණුම්කරණයේ ප්‍රධානතම අරමුණ වන්නේ එම පාර්ශ්වවලට අවශ්‍ය විවිධ තොරතුරු සැපයීමයි. එම ප්‍රධාන අරමුණ මත පදනම් ව තවත් අරමුණු ගණනාවක් හඳුනාගත හැකි අතර ඒවායින් කිහිපයක් පහත දැක්වේ.

- ව්‍යාපාරය ප්‍රමාණවත් ලාභයක් උපයා තිබේ ද යන්න දැන ගැනීම
- ව්‍යාපාරයේ මූල්‍ය තත්ත්වය සතුටුදායක ද යන්න දැන ගැනීම
- නීතිමය අවශ්‍යතා ඉටුකිරීම (සමහර ව්‍යාපාර සඳහා ගිණුම් වාර්තා ඉදිරිපත් කිරීම නීතියෙන් අනිවාර්ය කර ඇත)
- ගනුදෙනු අමතක වීම හා අතපසු වීම ආදිය තුළින් සිදුවිය හැකි අවාසි අවම කර ගැනීම හා මූල්‍ය කටයුතු ක්‍රමවත් කිරීම

මෙම අරමුණු ඉටුකර ගැනීම පිණිස ගිණුම්කරණය මගින් විවිධ ස්වරූපයේ වාර්තා ඇල්මැති පාර්ශ්ව වෙත සපයනු ලැබේ. මෙම වාර්තා **මූල්‍ය ප්‍රකාශ** ලෙස හැඳින්වේ. මෙම වාර්තාවලට පදනම වන්නේ ව්‍යාපාර ගනුදෙනු ය.

## 4.3 ව්‍යාපාරික ගනුදෙනු

ව්‍යාපාරයක් සිය කටයුතු කරගෙන යාමේ දී එම ව්‍යාපාරය සතු සම්පත් විවිධ පාර්ශ්ව සමග හුවමාරු කරගැනීම සිදු වේ. නිදසුනක් ලෙස ව්‍යාපාරය විසින් අත්පිට මුදලට භාණ්ඩ ලබාගත් විට ව්‍යාපාරය සහ භාණ්ඩ සැපයුම්කරුවන් යන පාර්ශ්ව දෙක අතර මුදල් සහ භාණ්ඩ හුවමාරු වේ. මෙසේ ව්‍යාපාරයක් සහ වෙනත් පාර්ශ්ව අතර සිදුවන සම්පත් හුවමාරු වීම ගනුදෙනුවක් ලෙස හඳුනාගත හැකි ය.

ව්‍යාපාරයක විවිධ ස්වරූපයේ ගනුදෙනු තිබිය හැකි ය. මේවා අතරින් ගිණුම්කරණයේ දී සැලකිල්ලට ගනු ලබන්නේ වටිනාකම මුදලින් මැනිය හැකි ගනුදෙනු පමණි.

**නිදසුන් :-**

රු. 100 000කට භාණ්ඩ තොගයක් විකිණීම
රු. 50 000ක් වූ මාසික වැටුප් ගෙවීම
රු. 300 000ක බැංකු ණයක් ලබා ගැනීම
රු. 5 000ක් විදුලි වියදම් සඳහා ගෙවීම

මෙම සම්පත් හුවමාරුවට අමතර ව ව්‍යාපාරය තුළ සිදු වූ ඇතැම් සිද්ධි ද ගිණුම්කරණයේ දී ගනුදෙනු ලෙස සැලකිල්ලට ගනු ලැබේ.

**නිදසුන් :-**

රු. 10 000ක භාණ්ඩ තොගයක් විනාශ වීම
රු. 3 000ක ලැබිය යුතු ණය මුදලක් බොල් ණය බවට පත්වීම

ගිණුම්කරණයේ දී සැලකිල්ලට ගනු ලබන මෙවැනි සිදුවීම් ද පුළුල් අර්ථයෙන් ව්‍යාපාර ගනුදෙනු ලෙස ම සලකනු ලැබේ.

ගනුදෙනු අත්පිට හෝ ණයට සිදුවිය හැකි ය. ගනුදෙනුවේ වටිනාකම ගනුදෙනුව සිදුවන අවස්ථාවේ දී ම බේරුම් කෙරෙන්නේ නම් එය අත්පිට සිදුවන ගනුදෙනුවක් ලෙස හැඳින්වෙන අතර එහි වටිනාකම පසුව බේරුම් කිරීමට එකඟ වන්නේ නම් එය ණයට සිදු වූ ගනුදෙනුවක් ලෙස හඳුන්වනු ලැබේ.

## 4.4 විවධ ගනුදෙනු තුළින් බිහිවන වත්කම්, වගකීම්, හිමිකම්, ආදායම් සහ වියදම්

ව්‍යාපාරික ගනුදෙනුවල ප්‍රතිඵල ලෙස පහත සඳහන් දෑ ජනිත වේ.

- **වත්කම්**
- **හිමිකම්**
- **වගකීම්**
- **ආදායම් සහ වියදම්**

## වත්කම්

ව්‍යාපාරයක සිදු වූ අතීත ගනුදෙනුවක ප්‍රතිඵලයක් ලෙස ජනිත වූ සම්පත් වත්කම් ලෙස කෙටියෙන් හැඳින්විය හැකි ය.

**නිදසුන් :-**

ව්‍යාපාරය විසින් මිලට ගත් යන්ත්‍ර

ව්‍යාපාරය විසින් මිලට ගත් මෝටර් රථ

කිසියම් අයිතමයක් වත්කමක් ලෙස ගිණුම් වාර්තාවල පෙන්නුම් කිරීමට නම් එහි පිරිවැය/වටිනාකම විශ්වාසදායී ලෙස මැනීමට හැකි විය යුතු ය. තව ද වත්කම් තුළින් ව්‍යාපාරයට අනාගත ආර්ථික ප්‍රතිලාභ ලැබිය යුතු ය.

**නිදසුන් :-**

ව්‍යාපාරය විසින් මිලදී ගත් යන්ත්‍රයකින් භාණ්ඩ නිෂ්පාදනය කර විකුණූ විට ඉදිරියේ දී ව්‍යාපාරයට මුදල් ගලා ඒම

මිලදී ගත් භාණ්ඩ තොගයක් අනාගතයේ දී විකිණීමෙන් ලාභ ලැබීම

යම් අයිතමයකින් අනාගත ආර්ථික ප්‍රතිලාභ නොලැබෙන්නේ නම් ඒවා වත්කම් ලෙස සැලකිය නොහැකි ය. එමෙන් ම යම්කිසි දෙයක් ව්‍යාපාරයේ වත්කම් ලෙස සැලකීමට නම් ඒවා ව්‍යාපාරය විසින් පාලනය කළ යුතු වේ. එනම් ඒවා ව්‍යාපාරයේ අභිමතය පරිදි භාවිත කිරීමටත් ඒ සම්බන්ධයෙන් තීරණ ගැනීමටත් ව්‍යාපාරයට හැකි විය යුතු ය. නිදසුනක් ලෙස ඉහත සඳහන් කරන ලද යන්ත්‍රය හෝ තොගය ව්‍යාපාරයේ අභිමතය පරිදි භාවිතයට ගැනීමට හැකියාවක් තිබිය යුතු ය. කුලියට ගත් ගොඩනැගිල්ලක් ව්‍යාපාරයේ වත්කමක් ලෙස සැලකිය නොහැකි ය. එසේ වත්කමක් ලෙස සැලකිය නොහැක්කේ එය ව්‍යාපාරය විසින් පාලනය නොකරන බැවිනි.

**මේ අනුව වත්කමක පහත සඳහන් ලක්ෂණ දැකිය හැකි ය.**

- අතීත ගනුදෙනුවක ප්‍රතිඵලයක් ලෙස ඇතිවීම
- ව්‍යාපාරයේ පාලනයට යටත් වීම
- අනාගතයේ දී ව්‍යාපාරයට ආර්ථික ප්‍රතිලාභ ගලා ඒම

මේ අනුව වත්කමක් යන්න පහත සඳහන් පරිදි නිර්වචනය කළ හැකි ය.

අතීත ගනුදෙනුවක ප්‍රතිඵලයක් ලෙස ඇතිවන, අනාගතයේ දී ව්‍යාපාරයට ආර්ථික ප්‍රතිලාභ ගලා එන්නා වූ, ව්‍යාපාරය විසින් පාලනය කෙරෙන සම්පත් වත්කම් වේ.

**නිදසුන් :-**

ඉඩම් හා ගොඩනැගිලි, යන්ත්‍රෝපකරණ, ලී බඩු හා උපකරණ, තොග, ණයගැතියන් ඇතුළු ලැබිය යුතු අගය, බැංකු ශේෂය, මුදල් ශේෂය

**ව්‍යාපාරයක පවතින වත්කම් ප්‍රධාන වශයෙන් වර්ග දෙකක ට බෙදිය හැකි ය.**

- ජංගම වත්කම්
- ජංගම නොවන වත්කම්

### ජංගම වත්කම්

සාමාන්‍ය ව්‍යාපාර කටයුතුවල දී මාස 12ක් වැනි කෙටි කාලයක් තුළ පාවිච්චි කිරීම, විකිණීම හෝ මුදල් බවට පත්වීම සිදුවන්නේ යැයි අපේක්ෂා කෙරෙන වත්කම් ජංගම වත්කම් වේ.

**නිදසුන් :-**

විකිණීමට තබාගෙන ඇති භාණ්ඩ
ලැබිය යුතු ණය

### ජංගම නොවන වත්කම්

ව්‍යාපාරයක ජංගම වත්කම් ලෙස සැලකිය නොහැකි අනෙකුත් වත්කම් සියල්ල ජංගම නොවන වත්කම් ලෙස සලකනු ලැබෙයි.

**නිදසුන් :-**

ඉඩම් හා ගොඩනැගිලි, යන්ත්‍රෝපකරණ, ලී බඩු හා උපකරණ
මෝටර් රථ

## වගකීම්

**අතීත ගනුදෙනුවක හෝ සිදුවීමක ප්‍රතිඵලයක් ලෙස ඇති වන ව්‍යාපාරය විසින් ගෙවිය යුතු අගය වගකීම් ලෙස හැඳින්විය හැකි ය.**

**නිදසුන් :-**

බැංකුවකින් ලබාගත් ණය මුදලක්

මෙම වගකීම් අනාගතයේ දී ආපසු ගෙවීම් සඳහා ව්‍යාපාරය බැඳී සිටී. ඒ නිසා ම මේවා වර්තමාන බැඳීම් ලෙස සැලකිය හැකි ය. එසේ ම මෙම වගකීම් බේරුම් කිරීමේ දී ව්‍යාපාරයට ආර්ථික ප්‍රතිලාභ ලබාදෙන සම්පත් හෙවත් වත්කම් ව්‍යාපාරයෙන් පිටතට ගලායාමක් සිදු වේ.

**නිදසුන් ඃ-**

බැංකු ණය ආපසු ගෙවන විට ව්‍යාපාරයේ මුදල් ව්‍යාපාරයෙන් පිටතට ගලා යයි.

එසේ ම කිසියම් අගයක් වගකීමක් ලෙස ගිණුම් වාර්තාවල පෙන්නුම් කිරීමට නම් ගෙවිය යුතු අගය විශ්වාසදායී ලෙස මැනීමට හැකි විය යුතු ය.

**මේ අනුව වගකීමක පහත සඳහන් ලක්ෂණ දැකිය හැකි ය.**

- අතීත ගනුදෙනුවක ප්‍රතිඵලයක් වීම
- බේරුම් කිරීමේ දී ව්‍යාපාරයේ සම්පත්වලින් කොටසක් පිටතට ගලා යාම
- වර්තමාන බැඳීමක් තිබීම

**නිදසුන් ඃ-**

බැංකු ණය, ණයහිමියෝ

**වගකීම් ද ප්‍රධාන වශයෙන් වර්ග දෙකකට බෙදිය හැකි ය.**

- ජංගම වගකීම්
- ජංගම නොවන වගකීම්

## ජංගම වගකීම්

සාමාන්‍යයෙන් මාස 12ක් වැනි කෙටි කාලයක් තුළ බේරුම් කළ යුතු වගකීම් ජංගම වගකීම් වේ. කෙටිකාලීන වගකීම් ලෙස හැඳින්වෙන්නේ ද මේවා ය.

**නිදසුන් ඃ-**

විකිණීම සඳහා භාණ්ඩ ණයට ගැනීමේදී බිහිවන ණයහිමියෝ
ගෙවිය යුතු විදුලිය වියදම්

## ජංගම නොවන වගකීම්

ජංගම වගකීම් ලෙස සැලකිය නොහැකි අනෙකුත් වගකීම් සියල්ල ජංගම නොවන වගකීම් වේ. දිගුකාලීන වගකීම් ලෙස හැඳින්වෙන්නේ ද මේවා ය.

**නිදසුන් ඃ-**

ඉදිරි වර්ෂයක් තුළ ගෙවීම අවශ්‍ය යැයි වර්ග නොකෙරෙන බැංකු ණය

## හිමිකම

ව්‍යාපාරයෙහි වගකීම් පවතින්නේ නම් ව්‍යාපාරයේ වත්කම්වලින් කොටසක් එම වගකීම් බේරුම් කිරීම සඳහා භාවිත කළ යුතු ය. එසේ වගකීම් බේරුම් කළ පසුව ඉතිරිවන වත්කම් ප්‍රමාණය හිමිකරුවන්ට අයත් වේ.

**ව්‍යාපාරයක හිමිකරුවන් වෙනුවෙන් පවතින වත්කම් ප්‍රමාණය හිමිකම ලෙස හැඳින්විය හැකි ය.**

**නිදසුන් ඃ-**

ව්‍යාපාරයක රු. 500 000ක වත්කම් ඇතැයි සිතමු. එසේ ම රු. 200 000ක බැංකු ණයක් ද ඇතැයි සිතමු. එවිට මුළු වත්කම් රු. 500 000න් රු. 200 000ක් බැංකු ණය බේරුම් කිරීම සඳහා භාවිත කළ යුතු හෙයින් අයිතිකරුවන්ට හිමිවන්නේ ඉතිරි රු. 300 000ක වත්කම් පමණි.

ඉහත නිදසුනට අනුව ව්‍යාපාරයේ හිමිකරුවන්ගේ අයිතිය වනුයේ,

| | | | | |
|---|---|---|---|---|
| හිමිකම | = | වත්කම් | - | වගකීම් |
| | = | රු. 500 000 | - | රු. 200 000 |
| | = | රු. 300 000 | | |

කේවල ස්වාමි ව්‍යාපාරයක නම් ප්‍රාග්ධනයෙන් නිරූපණය වන්නේ හිමිකමයි.

## ආදායම් සහ වියදම්

**ලාභය යනු ආදායම්වලින් වියදම් අඩු කළ පසු ලැබෙන අගයයි. ඒ අනුව,**

**ලාභය = ආදායම් - වියදම්**

ලාභය අයත් වන්නේ හිමිකරුට ය. එම නිසා ලාභය හිමිකමට එකතු වේ. ලාභය වෙන ම ගණනය කර හිමිකමට එකතු කළ හැකි ය. එසේ නැතහොත් ආදායම් හිමිකමට එකතු කර වියදම් අඩුකළ හැකි ය. වෙනත් ලෙසකට කිවහොත් ආදායම් නිසා හිමිකම වැඩි වී වියදම් නිසා හිමිකම අඩු වේ.

මේ අනුව ව්‍යාපාරයක ආදායම හිමිවන්නේ එහි හිමිකරුවන්ට ය. එබැවින් ආදායම් හිමිකමට එකතු වී හිමිකම වැඩි වේ. කෙසේ වුව ද හිමිකම වැඩි වන්නේ ආදායම් නිසා පමණක් ම නොවේ. අයිතිකරුවන් අලුතින් ප්‍රාග්ධනය ගෙන ආ විට එය ද හිමිකමට එකතු වේ. ඒ නිසා ප්‍රාග්ධනය යෙදීම ද හිමිකම වැඩි වීමට හේතුවක් වේ. හිමිකමෙහි සිදුවන එම වැඩිවීම ආදායම් ලෙස සලකනු නොලැබේ.

**ඒ අනුව අයිතිකරුවන් යොදන ප්‍රාග්ධනය නිසා හිමිකමෙහි සිදුවන වැඩිවීම් හැර හිමිකමෙහි සිදුවන අනෙකුත් වැඩිවීම් ආදායම් ලෙස හැඳින්වේ.**

**නිදසුන් ඃ-**

- ☆ විකුණුම්
- ☆ පොලී ලැබීම්
- ☆ කුලී ලැබීම
- ☆ කොමිස් ලැබීම්

ව්‍යාපාරයේ ආදයම් හිමිවන්නේ අයිතිකරුවන්ට නිසා වියදම් දරාගත යුත්තේ ද අයිතිකරුවන් ම ය. ඒ නිසා වියදම් හිමිකමෙන් අඩු කළ යුතු ය. මේ අනුව වියදම් හිමිකම අඩු වීමට හේතු වේ.

කෙසේ වුව ද හිමිකම අඩු වන්නේ වියදම් නිසා පමණක් නොවේ. ව්‍යාපාරයේ ඇති මුදල් හෝ භාණ්ඩ අයිතිකරුවන් විසින් පෞද්ගලික ප්‍රයෝජනය සඳහා ලබාගැනීම නිසා ද හිමිකම අඩු වේ. මෙය ගැනිලි ලෙස හඳුන්වනු ලැබේ.

**ඒ අනුව ගැනිලි නිසා සිදුවන හිමිකමෙහි අඩුවීම හැරුණු විට හිමිකමෙහි සිදුවන අඩුවීම් වියදම් ලෙස හැඳින්වේ.**

**නිදසුන් ඃ-**

- ☆ වැටුප් හා වේතන
- ☆ රක්ෂණ ගාස්තු
- ☆ විකුණූ භාණ්ඩ සඳහා දරා ඇති පිරිවැය
- ☆ ණය පොලී

ඉහත සඳහන් කළ ආදයම් සහ වියදම් අතර වෙනස ලාභය හෝ අලාභය ලෙස හඳුනා ගනු ලැබේ. ලාභයක් නම් එය හිමි වන්නේත් අලාභයක් නම් එය දරාගත යුතු වන්නේත් හිමිකරුවන් විසිනි. එබැවින් ලාභය හෝ අලාභය අවසාන වශයෙන් හිමිකමට ගළපනු ලැබේ. එවිට ඉතිරි වන්නේ වත්කම්, වගකීම් හා හිමිකම පමණි. මෙම වත්කම්, වගකීම් හා හිමිකම් අතර සම්බන්ධතාව පෙන්නුම් කිරීමට සමීකරණයක් යොදගත හැකි ය. එය ගිණුම්කරණ සමීකරණය ලෙස හැඳින්වේ. ඔබට ගිණුම්කරණ සමීකරණය පිළිබඳ ඉදිරි පාඩමෙන් අධ්‍යයනය කළ හැකි ය.

## ක්‍රියාකාරකම 01

ආපන ශාලාවක් පවත්වාගෙන යන යසිරු සම්පත්ගේ ව්‍යාපාරයේ පහත දක්වා ඇති අයිතම වත්කම්, වගකීම්, හිමිකම්, ආදායම් හා වියදම් යන ශීර්ෂ යටතේ වර්ග කරන්න.

විදුලි ගාස්තු

බැංකු ණය

ආයෝජන

බැංකු ණය පොලී

ප්‍රාග්ධනය

ලද කොමිස්

විකුණුම්

ගෙවූ කොමිස්

මෝටර් රථ

ආයෝජන පොලී ආදායම්

ප්‍රචාරණ ගාස්තු

මෝටර් රථ අලුත්වැඩියා වියදම්

ණයගැතියෝ

ණයහිමියෝ

## ක්‍රියාකාරකම 02

සජිනි පෙරේරා රෙදිපිළි අලෙවි කිරීමේ ව්‍යාපාරයක් පවත්වාගෙන යයි. ඇයගේ ව්‍යාපාරයේ පහත දැක්වෙන අයිතම දක්වා ඇති ශීර්ෂ යටතේ වර්ග කරන්න.

| අයිතම | වත්කම් | | වගකීම් | |
|---|---|---|---|---|
| | ජංගම වත්කම් | ජංගම නොවන වත්කම් | ජංගම වගකීම් | ජංගම නොවන වගකීම් |
| රෙදිපිළි තොගය | | | | |
| මුදල් අයකැමි විසින් භාවිත කරන මුදල් ගණන් කිරීමේ යන්ත්‍ර | | | | |
| ණය පදනම මත ගත් රෙදිපිළි සඳහා ගෙවිය යුතු මුදල | | | | |
| ව්‍යාපාරය පුළුල් කිරීම සඳහා ලබාගත් බැංකු ණය මුදල | | | | |
| රෙදිපිළි ව්‍යාපාරය පවත්වාගෙන යනු ලබන ව්‍යාපාරයට අයත් ගොඩනැගිල්ල | | | | |
| Point of sales යන්ත්‍ර | | | | |

# 5 ගිණුම්කරණ සමීකරණය




මෙම පරිච්ඡේදය මගින් පහත දැක්වෙන කරුණු පිළිබඳ සාකච්ඡා කෙරේ.

5.1 ගිණුම්කරණ සමීකරණය

5.2 ගිණුම්කරණ සමීකරණය ගොඩ නැගීම

5.3 ව්‍යාපාර ගනුදෙනු ගිණුම්කරණ සමීකරණයට බලපාන ආකාරය

5.4 හිමිකම වෙනස් වන අවස්ථා

## 5.1 ගිණුම්කරණ සමීකරණය

ව්‍යාපාරයක වත්කම් සහ එම වත්කම්වල හිමිකාරිත්වය ගිණුම් වාර්තාවල පෙන්නුම් කරනු ලැබේ. සියලු වත්කම් කවර හෝ පාර්ශ්වයකට හිමිවිය යුතු ය. එම නිසා වත්කම් ලෙස පෙන්නුම් කරන අගය සහ සමස්ත හිමිකාරිත්වය ලෙස පෙන්නුම් කරන අගය එකිනෙකට සමාන වේ. මෙම සමානතාව පෙන්නුම් කිරීමට සමීකරණයක් භාවිත කෙරන අතර එය ගිණුම්කරණ සමීකරණය ලෙස හඳුන්වනු ලැබේ.

## 5.2 ගිණුම්කරණ සමීකරණය ගොඩ නැගීම

යම් ව්‍යාපාරයකට අවශ්‍ය වන සම්පත් සියල්ල අයිතිකරු සපයා ඇති විටෙක ගිණුම්කරණ සමීකරණය පහත පරිදි දැක්විය හැකි ය.

**වත්කම් = හිමිකම**

**නිදසුන :-**

අමල් රු. 500 000ක් යොද ව්‍යාපාරයක් අරම්භ කළේ ය. මෙහි දී ව්‍යාපාරයට රු. 500 000ක වත්කමක් (මුදල්) ලැබෙන අතර එම සම්පූර්ණ ප්‍රමාණය ම හිමිවන්නේ ව්‍යාපාරයේ අයිතිකරු වන අමල්ට ය.

ඒ අනුව,

| වත්කම් | = | හිමිකම |
|---|---|---|
| රු. | | රු. |
| මුදල් 500 000 | = | ප්‍රාග්ධනය 500 000 |

ව්‍යාපාරයක් ප්‍රසාරණය වන විට අයිතිකරුවන් යොදවනු ලබන සම්පත් පමණක් ප්‍රමාණවත් නොවිය හැකි ය. එහි දී ව්‍යාපාරයකට බාහිර පාර්ශ්ව සතු සම්පත් ද දයක කර ගැනීමට සිදු වේ. එය සිදු කරන්නේ ණය ගැනීම මගිනි. එවිට වගකීම් ඇති වේ. එසේ වගකීම් පවතින විට ව්‍යාපාරයේ වත්කම්වලින් කොටසක් ණය සැපයූ අයට අයත් වේ. ඉතිරි කොටස අයත් වන්නේ අයිතිකරුවන්ට ය.

ඒ අනුව ගිණුම්කරණ සමීකරණය පහත සඳහන් පරිදි ගොඩනගා ගත හැකි ය.

**වත්කම් = හිමිකම + වගකීම**

**නිදසුන් :-**

ඉහත සඳහන් කරණු ලැබූ අමල්ගේ ව්‍යාපාරය රු. 300 000ක බැංකු ණයක් ලබාගත්තේ නම් ව්‍යාපාරයේ පැවති වත්කම් (මුදල්) රු. 300 000කින් වැඩි වන අතර ව්‍යාපාරය විසින් බාහිර පාර්ශ්වයකට ගෙවිය යුතු රු. 300 000ක වගකීමක් (බැංකු ණය) ඇති වේ.

මේ අනුව දෙවන ව්‍යාපාර ගනුදෙනුව ද ඇතුළත් ව ගිණුම්කරණ සමීකරණය වනුයේ,

| වත්කම් | = | හිමිකම | + | වගකීම |
|---|---|---|---|---|
| රු. | | රු. | | රු. |
| මුදල් 800 000 | = | ප්‍රාග්ධනය 500 000 | + | බැංකු ණය 300 000 |

## 5.3 ව්‍යාපාර ගනුදෙනු ගිණුම්කරණ සමීකරණයට බලපාන ආකාරය

ව්‍යාපාර ගනුදෙනු නිසා එම ව්‍යාපාරයෙහි වත්කම්, හිමිකම සහ වගකීම්වල වටිනාකම් වෙනස් වේ. එවිට ඒවා අතර සම්බන්ධතා ව දක්වන ගිණුම්කරණ සමීකරණය ද වෙනස් වේ. මෙම වෙනස් වීම පහත නිදසුන් මගින් අවබෝධ කරගත හැකි ය.

**ගනුදෙනු 1 :-** අයිතිකරු රු. 800 000ක ප්‍රාග්ධනය යෙදවීම
ගිණුම්කරණ සමීකරණය පහත සඳහන් පරිදි වේ.

| වත්කම් | = | හිමිකම | + | වගකීම් |
|---|---|---|---|---|
| රු. | | රු. | | රු. |
| මුදල් 800 000 | = | ප්‍රාග්ධනය 800 000 | + | ______ |

**ගනුදෙනු 2 :-** රු. 100 000ක් වටිනා ලී බඩු මිලදී ගැනීම
ඒ අනුව ගිණුම්කරණ සමීකරණය පහත සඳහන් පරිදි වෙනස් වේ.

| | වත්කම් | | | = | හිමිකම | + | වගකීම් |
|---|---|---|---|---|---|---|---|
| | | රු. | | | රු. | | රු. |
| | ලී බඩු | + | මුදල් | = | ප්‍රාග්ධනය | + | වගකීම් |
| ආරම්භක ශේෂය | ____ | + | 800 000 | = | 800 000 | + | ____ |
| ගනුදෙනුව නිසා වන වෙනස | 100 000 | | (100 000) | = | ____ | + | ____ |
| සමීකරණය | 100 000 | + | 700 000 | = | 800 000 | + | ____ |

**ගනුදෙනු 3 :-** රු. 300 000 ක බැංකු ණයයක් ලබා ගැනීම
ඒ අනුව ගිණුම්කරණ සමීකරණය පහත සඳහන් පරිදි වෙනස් වේ.

| | වත්කම් | | | = | හිමිකම | + | වගකීම් |
|---|---|---|---|---|---|---|---|
| | | රු. | | | රු. | | රු. |
| | ලී බඩු | + | මුදල් | = | ප්‍රාග්ධනය | + | බැංකු ණය |
| ආරම්භක ශේෂය | 100 000 | + | 700 000 | = | 800 000 | + | ____ |
| ගනුදෙනුව නිසා වන වෙනස | | | 300 000 | = | ____ | | 300 000 |
| සමීකරණය | 100 000 | + | 1 000 000 | = | 800 000 | + | 300 000 |

නිදසුන් ඃ-

නෙහාරා විසින් ආරම්භ කරනු ලැබූ පරිගණක යන්ත්‍ර අලුත්වැඩියා කිරීමේ ව්‍යාපාරයේ පළමු මාසයට අදාළ ව පහත ගනුදෙනු ඔබට සපයා ඇත.

1. රු. 500 000ක ප්‍රාග්ධනයක් යෙදවීම
2. රු. 200 000ක බැංකු ණයක් ලබා ගැනීම
3. රු. 100 000ක් ස්ථාවර තැන්පතු ගිණුමක ආයෝජනය කිරීම
4. පරිගණක අලුත්වැඩියාවෙන් රු. 60 000ක ආදායමක් ලැබීම
5. ව්‍යාපාරයේ මාසික කුලිය ලෙස රු. 10 000ක් ගෙවීම
6. තම පෞද්ගලික කටයුතු සඳහා නෙහාරා රු. 20 000ක් ව්‍යාපාරයෙන් ලබා ගැනීම
7. රු. 100 000ක් ගෙවා උපකරණ ලබා ගැනීම
8. රු. 5 000ක් වූ මාසික දුරකථන බිල ගෙවීම
9. නෙහාරා රු. 50 000ක අමතර ප්‍රාග්ධනයක් යෙදවීම
10. රු. 20 000ක් බැංකු ණය පියවීම

ඉහත සඳහන් ගනුදෙනු ගිණුම්කරණ සමීකරණයට බලපාන ආකාරය පහත දක්වා ඇත.

| අංකය | වත්කම් රු. | | | = හිමිකම් + වගකීම් රු. | |
|---|---|---|---|---|---|
| | උපකරණ | ස්ථාවර තැන්පතු | මුදල් | හිමිකම | බැංකු ණය |
| 1. | | | + 500 000 | + 500 000 | |
| 2. | | | + 200 000 | | + 200 000 |
| 3. | | + 100 000 | - 100 000 | | |
| 4. | | | + 60 000 | + 60 000 | |
| 5. | | | - 10 000 | - 10 000 | |
| 6. | | | - 20 000 | - 20 000 | |
| 7. | + 100 000 | | - 100 000 | | |
| 8. | | | - 5 000 | - 5 000 | |
| 9. | | | + 50 000 | + 50 000 | |
| 10. | | | - 20 000 | | - 20 000 |
| අවසාන ශේෂ | 100 000 | + 100 000 | + 555 000 = | 575 000 | + 180 000 |

**නිදසුන් ඃ-**

සඳමිණිගේ ව්‍යාපාරයේ 20XX.08.01 දිනට පහත සඳහන් ශේෂ දක්නට ලැබිණි.

| | |
|---|---|
| **වත්කම් ඃ-** | රු. |
| ලී බඩු උපකරණ | 300 000 |
| භාණ්ඩ තොගය | 200 000 |
| ණයගැතියෝ | 100 000 |
| මුදල් | 200 000 |
| **වගකීම් ඃ-** | |
| බැංකු ණය | 300 000 |
| ණයහිමියෝ | 100 000 |

20XX අගෝස්තු මාසයේ පළමු සතිය තුළ පහත ගනුදෙනු සිදු විය.

1. විකිණීම සඳහා රු. 100 000 වටිනා භාණ්ඩ තොගයක් මිලදී ගැනීම
2. රු. 100 000 කට මිලට ගත් භාණ්ඩ තොගයක් රු. 125 000 කට අත්පිට මුදලට විකිණීම
3. බැංකු ණයෙන් රු. 50 000ක් පියවීම
4. වැටුප් සඳහා රු. 10 000ක් ගෙවීම
5. ව්‍යාපාරයේ විකිණීමට ඇති භාණ්ඩවලින් රු. 20 000ක් පිරිවැය වූ භාණ්ඩ සඳමිණි තම පෞද්ගලික පරිභෝජනය සඳහා ගැනීම
6. රු. 50 000ක් වටිනා ලී බඩු කාර්යාලයේ ප්‍රයෝජනය සඳහා මිලදී ගැනීම
7. විකිණීම සඳහා රු. 200 000ක් වටිනා භාණ්ඩ ණය පදනම මත මිලදී ගැනීම
8. රු. 60 000කට මිලට ගත් භාණ්ඩ තොගයක් රු. 100 000කට ණයට විකිණීම
9. රු. 80 000ක් ණයගැතියන්ගෙන් ලැබීම
10. රු. 50 000ක් ණයහිමියන්ට ගෙවීම

20XX.08.01 දිනට අයිතිකරුගේ හිමිකම ගණනය කරන ආකාරයත් ඉහත දක්වා ඇති ගනුදෙනු ගිණුම්කරණ සමීකරණයට බලපාන ආකාරයත් පහත දැක්වේ.

**20xx.08.01 දිනට අයිතිකරුගේ හිමිකම ගණනය කරන ආකාරය**

හිමිකම = මුළු වත්කම් - වගකීම්
= (200 000 + 100 000 + 200 000 + 300 000) - (300 000 + 100 000)
= රු. 800 000 - රු. 400 000
= රු. 400 000

ගනුදෙනු ගිණුම්කරණ සමීකරණයට බලපාන ආකාරය

| | වත්කම් රු. | | | | = හිමිකම් + වගකීම් රු. | | |
|---|---|---|---|---|---|---|---|
| | ලී බඩු උපකරණ | + භාණ්ඩ තොගය | + ණය ගැතියෝ | + මුදල් | හිමිකම් | + බැංකු ණය | + ණය හිමියෝ |
| ආරම්භක ශේෂ | 300 000 | +200 000 | +100 000 | +200 000 | +400 000 | +300 000 | +100 000 |
| 1. | | +100 000 | | -100 000 | | | |
| 2. | | -100 000 | | +125 000 | +25 000 | | |
| 3. | | | | -50 000 | | -50 000 | |
| 4. | | | | -10 000 | -10 000 | | |
| 5. | | -20 000 | | | -20 000 | | |
| 6. | +50 000 | | | -50 000 | | | |
| 7. | | +200 000 | | | | | +200 000 |
| 8. | | -60 000 | +100 000 | | +40 000 | | |
| 9. | | | -80 000 | +80 000 | | | |
| 10. | | | | -50 000 | | | -50 000 |
| අවසාන ශේෂ | 350 000 | +320 000 | +120 000 | +145 000 = | 435 000 | +250 000 | +250 000 |

**නිදසුන් :-**

රුවන්තිගේ ව්‍යාපාරයේ 20xx ජූලි 01 දින පහත ශේෂ දක්නට ලැබුණි.

| | රු. |
|---|---|
| මෝටර් රථ | 500 000 |
| භාණ්ඩ තොග | 200 000 |
| මුදල් | 100 000 |
| බැංකු ණය | 200 000 |
| ණයහිමියෝ | 100 000 |
| ප්‍රාග්ධනය | 500 000 |

ජූලි මාසය තුළ සිදු වූ ගනුදෙනු පහත දක්වා ඇත.

1. අයිතිකරු විසින් අමතර ප්‍රාග්ධනය ලෙස රු. 200 000ක් යෙදවීම
2. රු. 2 000ක පොලී ඇතුළත් ව බැංකු ණය වාරිකය වූ රු. 20 000ක් ගෙවීම
3. රු. 100 000ක භාණ්ඩ තොගයක් ණය පදනම මත මිලදී ගැනීම
4. ණයහිමියන්ට රු. 50 000ක් ගෙවීම
5. රු. 200 000ක් වටිනා අයිතිකරුගේ පෞද්ගලික යතුරුපැදිය ව්‍යාපාරයට යෙදවීම
6. රු. 100 000ක් පිරිවැය වූ භාණ්ඩ තොගයක් රු. 150 000කට ණයට විකිණීම
7. රක්ෂණ ගාස්තු සඳහා රු. 10 000ක් ගෙවීම
8. ණයගැතියන්ගෙන් රු. 70 000ක් ලැබීම
9. රු. 5 000ක් වූ අයිතිකරුගේ නිවසේ විදුලි බිල ව්‍යාපාරයේ මුදලින් පියවීම
10. විකුණුම් කොමිස් ආදායම ලෙස රු. 10 000ක් ලැබීම

ඉහත ගනුදෙනු ගිණුම්කරණ සමීකරණයට බලපාන ආකාරය පහත දක්වා ඇත.

| | වත්කම් රු. | | | | = හිමිකම් + වගකීම් රු. | | |
|---|---|---|---|---|---|---|---|
| | මෝටර් රථ | + භාණ්ඩ තොගය | + ණය ගැතියෝ | + මුදල් | හිමිකම | + බැංකු ණය | + ණය හිමියෝ |
| ආරම්භක ශේෂ | 500 000 | +200 000 | | 100 000 | 500 000 | 200 000 | 100 000 |
| 1. | | | | +200 000 | +200 000 | | |
| 2. | | | | -20 000 | -2 000 | -18 000 | |
| 3. | | +100 000 | | | | | +100 000 |
| 4. | | | | -50 000 | | | -50 000 |
| 5. | +200 000 | | | | +200 000 | | |
| 6. | | -100 000 | +150 000 | | +50 000 | | |
| 7. | | | | -10 000 | -10 000 | | |
| 8. | | | -70 000 | +70 000 | | | |
| 9. | | | | -5 000 | -5 000 | | |
| 10. | | | | +10 000 | +10 000 | | |
| අවසාන ශේෂ | 700 000 | +200 000 | +80 000 | +295 000 = | 943 000 | +182 000 | +150 000 |

ව්‍යාපාරයක සිදුවී ඇති ගනුදෙනුවල බලපෑම ගිණුම්කරණ සමීකරණ ඇසුරෙන් ඉදිරිපත් කර ඇති විටෙක දී ඒ ඒ අවස්ථාවේ දී සිදු වී ඇති ගනුදෙනුව කුමක් ද යන්න හඳුනා ගැනීම ද වැදගත් වේ.

පහත දැක්වෙන නිදසුන අධ්‍යයනය කරන්න.

**නිදසුන් ඃ-**

ආලෝකගේ ව්‍යාපාරයේ ජනවාරි මාසය තුළදී සිදු වී ඇති ගනුදෙනුවලින් ගිණුම්කරණ සමීකරණයට වූ බලපෑම පහත පරිදි දක්වා ඇත.

| | වත්කම් රු. | | | | = හිමිකම් + වගකීම් රු. | | |
|---|---|---|---|---|---|---|---|
| | ඉඩම් හා ගොඩනැගිලි | + භාණ්ඩ තොගය | + ණය ගැතියෝ | + මුදල් | හිමිකම | + බැංකු ණය | + ණය හිමියෝ |
| ජනවාරි 01 ශේෂය | 1000 000 | 300 000 | 200 000 | 300 000 | 1200 000 | 500 000 | 100 000 |
| 01.03 | | +200 000 | | -100 000 | | | +100 000 |
| 01.07 | | | | -20 000 | -20 000 | | |
| 01.10 | | | | -60 000 | -10 000 | -50 000 | |
| 01.14 | | -200 000 | +300 000 | | +100 000 | | |
| 01.18 | | | | +300 000 | +300 000 | | |
| 01.21 | | | | -100 000 | | | -100 000 |
| 01.25 | | | -400 000 | +400 000 | | | |

මෙම ව්‍යාපාරයේ අයිතිකරු මාසය තුළ දී ගැනිලි සිදුකර නැත.

ඒ ඒ දිනයන්හි සිදු වී ඇතැයි උපකල්පනය කළ හැකි ගනුදෙනු වටිනාකම් සහිත ව පහත දැක්වෙන අයුරින් ඉදිරිපත් කළ හැකි ය.

ජන. 03 රු. 100 000ක් වටිනා භාණ්ඩ අත්පිට මුදලට ද රු. 100 000 ක් වටිනා භාණ්ඩ ණය පදනම මත ද ගැනීම

ජන. 07 රු. 20 000ක් වූ ව්‍යාපාරයේ වියදමක් මුදලින් ගෙවීම

ජන. 10 රු. 10 000ක පොලිය ද ඇතුළත් ව බැංකු ණය වාරිකය ලෙස රු. 60 000ක් ගෙවීම.

ජන. 14 රු. 200 000කට මිලදී ගත් භාණ්ඩ රු. 300 000කට ණයට විකිණීම

ජන. 18 රු. 300 000ක් අමතර ප්‍රාග්ධනය ලෙස යෙදවීම

ජන. 21 රු. 100 000ක් ණයහිමියන්ට ගෙවීම

ජන. 25 රු. 400 000ක් ණයගැතියන්ගෙන් ලැබීම

## හිමිකම වෙනස්වන අවස්ථා

ඉහත දක්වන ලද කරුණු අධ්‍යයනය කිරීමෙන් ඔබ ව්‍යාපාරය අයිතිකරුගේ හිමිකම අඩු වැඩි වීමට බලපාන ගනුදෙනු හඳුනා ගන්නට ඇත. ව්‍යාපාරයක හිමිකම වෙනස් වීමට පහත සඳහන් ගනුදෙනු බලපායි.

- අමතර ප්‍රාග්ධනය යෙදීම
- ගැනිලි
- ආදායම්
- වියදම්

ව්‍යාපාරය කරගෙන යන අතරතුර දී ව්‍යාපාරයේ අවශ්‍යතාව අනුව මුදල් හෝ වෙනත් වත්කම් අයිතිකරු විසින් යෙදවිය හැකි ය. මෙය හිමිකම වැඩි වීමට බලපායි.

ව්‍යාපාරයේ හිමිකරු විසින් තම පෞද්ගලික ප්‍රයෝජනය සඳහා ව්‍යාපාරයෙන් මුදල් හෝ වෙනත් වත්කම් ඉවත් කර ගත හැකි ය. මේවා ගැනිලි වශයෙන් හඳුන්වන අතර මේ මගින් අයිතිකරුගේ හිමිකම අඩු වේ.

ව්‍යාපාරයට ආදායම් ලැබීම හිමිකම වැඩි වීමට බලපාන අතර වියදම් හිමිකම අඩු වීමට බලපායි.

**නිදසුන් :-**

බිනුරිගේ ව්‍යාපාරයේ 20xx වර්ෂය සඳහා තොරතුරු කිහිපයක් පහත දක්වේ.

| | රු. |
|---|---|
| ප්‍රාග්ධනය (20xx.01.01 දිනට) | 358 500 |
| වර්ෂයේ වියදම් | 128 300 |
| වර්ෂයේ ආදායම් | 254 620 |
| ජූනි 30 දින අයිතිකරු යෙදවූ මුදල් | 75 000 |

20xx දෙසැම්බර් 31 දිනට අයිතිකරුගේ හිමිකම ගණනය කරන අකාරය පහත දක්වේ.

| | | | රු. |
|---|---|---|---|
| | ප්‍රාග්ධනය | 20xx.01.01 | 358 500 |
| + | ආදායම් | | 254 620 |
| | අතිරේක ප්‍රාග්ධනය යෙදවීම | | 75 000 |
| | | | 688 120 |
| − | වියදම් | | (128 300) |
| | 20xx1231 දිනට හිමිකම | | 559 820 |

## ක්‍රියාකාරකම 01

ජයන්තගේ ව්‍යාපාරයේ අප්‍රේල් මාසයේ සිදු වූ ගනුදෙනු ගිණුම්කරණ සමීකරණයට බලපා ඇති ආකාරය පහත දැක්වේ.

| | වත්කම් රු. | | | = | හිමිකම + වගකීම් රු. | |
|---|---|---|---|---|---|---|
| | මෝටර් රථ | + භාණ්ඩ තොගය | + ණය ගැතියෝ | + මුදල් | හිමිකම | + ණය හිමියෝ |
| 4.1 දිනට ශේෂය | 500 000 | +200 000 | | +200 000 | +700 000 | +200 000 |
| 04.03 | | | | +300 000 | +300 000 | |
| 04.05 | | +100 000 | | | | +100 000 |
| 04.08 | | | | -50 000 | | -50 000 |
| 04.10 | | | | -10 000 | -10 000 | |
| 04.11 | | -60 000 | +100 000 | | +40 000 | |
| 04.17 | +200 000 | | | | +200 000 | |
| 04.19 | | -20 000 | | | -20 000 | |
| 04.23 | | | -20 000 | +20 000 | | |
| 04.28 | | -5 000 | | | -5 000 | |
| 04.30 | | | | | +50 000 | -50 000 |
| අවසාන ශේෂ | 700 000 | 215 000 | 80 000 | 460 000 | 1255 000 | 200 000 |

මාසය තුළදී අයිතිකරු මුදල් ගැනිලි කිසිවක් සිදු කර නැත.

අවශ්‍ය වන්නේ :-

එක් එක් දිනයේ සිදුවී ඇති ගනුදෙනුව අගයන් සහිත ව දැක්වීම

### ක්‍රියාකාරකම 02

පහත දැක්වෙන්නේ තිසුරිගේ ව්‍යාපාරයේ ජනවාරි මාසයට අදාළ ගනුදෙනු ය.

ජනවාරි 01. රු. 300 000ක ප්‍රාග්ධනයක් යෙදවීම

04. රු. 50 000ක් පිරිවැය වූ භාණ්ඩ මිලට ගැනීම

09. මාසික කඩ කුලී ලෙස රු. 10 000ක් ගෙවීම

13. රු. 40 000ක භාණ්ඩ තොගයක් රු. 60 000කට විකිණීම

19. රු. 300 000 බැංකු ණයක් ලබා ගැනීම

21. තිසුරිගේ නිවසේ දුරකථන බිල රු. 10 000ක් ව්‍යාපාරයේ මුදලින් ගෙවීම

28. ණයගැතියන්ගෙන් රු. 30 000ක් ලැබීම

30. බැංකු ණය සඳහා වූ මාසික පොලිය ලෙස රු. 5 000ක් ගෙවීම

31. ව්‍යාපාරයේ විදුලි බිල සඳහා රු. 5 000ක් ගෙවීම

අවශ්‍ය වන්නේ :-

ඉහත එකිනෙක ගනුදෙනුවලින් ගිණුම්කරණ සමීකරණයට වන බලපෑම වටිනාකම් සහිත ව දැක්වීම

### ක්‍රියාකාරකම 03

ජීවන්තගේ ව්‍යාපාරයේ 20xx වර්ෂය සඳහා තොරතුරු කිහිපයක් පහත දැක්වේ.

| | රු. |
|---|---|
| ප්‍රාග්ධනය (20xx.01.01 දිනට) | 415 000 |
| වර්ෂයේ ආදායම් | 210 300 |
| වර්ෂයේ වියදම් | 122 000 |
| වර්ෂය තුළ අයිතිකරු යෙද වූ මුදල් | 50 000 |

අවශ්‍ය වන්නේ :-

20xx දෙසැම්බර් 31 දිනට අයිතිකරුගේ හිමිකම ගණනය කිරීම



## ක්‍රියාකාරකම 04

ව්‍යාපාරයක සිදු වූ ගනුදෙනු කිහිපයක බලපෑම ගිණුම්කරණ සමීකරණ අනුසාරයෙන් පහත පරිදි දක්වා ඇත.

| දිනය | වත්කම් | = | හිමිකම | + | වගකීම |
|---|---|---|---|---|---|
| ජූනි 1 | වැඩිවීම<br>අඩුවීම | | | | |
| ජූනි 2 | අඩුවීම | = | අඩුවීම | | |
| ජූනි 3 | වැඩිවීම | = | | | වැඩිවීම |
| ජූනි 4 | වැඩිවීම | = | වැඩිවීම | | |
| ජූනි 5 | අඩුවීම | = | | | අඩුවීම |

මෙම සමීකරණයට අනුව එක් එක් දින සිදුවුයේ යැයි අපේක්ෂා කළ හැකි ගනුදෙනු දෙක බැගින් වටිනාකම් සහිත ව දක්වන්න.

# 6 ගනුදෙනුවල ද්විත්ව බලපෑම



මෙම පරිච්ඡේදය මගින් පහත දැක්වෙන කරුණු පිළිබඳ සාකච්ඡා කෙරේ.

6.1 ගනුදෙනුවල ද්විත්ව බලපෑම හැඳින්වීම

6.2 ද්විත්ව සටහන් ක්‍රමය

6.3 ගිණුම

6.4 ගිණුම් වර්ග

6.5 ගනුදෙනු ගිණුම්වල සටහන් කිරීම

## 6.1 ගනුදෙනුවල ද්විත්ව බලපෑම

ව්‍යාපාරයක දෛනික ව ගනුදෙනු රාශියක් සිදු වේ. එම ගනුදෙනුවල ප්‍රතිඵල වශයෙන් ව්‍යාපාරයේ වත්කම්, වගකීම්, හිමිකම්, ආදායම් හා වියදම්වල අගය වෙනස් වේ. එම වෙනස් වීම ගනුදෙනුවක ද්විත්ව බලපෑම ලෙස ගිණුම්කරණයේ දී හඳුනා ගැනේ.

සෑම ගනුදෙනුවකින් ම ගිණුම්කරණ සමීකරණයේ අයිතම දෙකක් වෙනස් වන බව ඉහත දී පැහැදිලි කරන ලදි. ඒ සෑම ගනුදෙනුවක් ම සමීකරණයේ අයිතම දෙකකට බලපායි. එය ගනුදෙනුවක ද්විත්ව බලපෑම ලෙස හඳුනාගත හැකි ය.

නිදසුන් :-

| | | |
|---|---|---|
| ප්‍රාග්ධනය යෙදවීමෙන් | මුදල් වත්කම වැඩි වේ | හිමිකම වැඩි වේ |
| ලී බඩු මිලදී ගැනීමෙන් | ලී බඩු වත්කම වැඩි වේ | මුදල් වත්කම අඩු වේ |
| වැටුප් ගෙවීමෙන් | මුදල් වත්කම අඩු වේ | හිමිකම අඩු වේ |

මෙසේ සෑම ගනුදෙනුවකින් ම සමීකරණයට ද්විත්ව බලපෑමක් සිදුවන නිසා සෑම ගනුදෙනුවක ම අගය ස්ථාන දෙකක ලිවිය යුතු ය. එනම් සෑම ගනුදෙනුවක් සඳහා ම සටහන් දෙකක් තැබිය යුතු ය. ව්‍යාපාරයක් ප්‍රසාරණය වන විට විශාල ගනුදෙනු ප්‍රමාණයක් සිදුවන බැවින් ඒවා ගිණුම්කරණ සමීකරණයක අනුසාරයෙන් ඉදිරිපත් කිරීම ප්‍රායෝගික නොවිය හැකි ය. එසේ සටහන් කළ ද ව්‍යාපාරය පිළිබඳ පැහැදිලි තොරතුරු ලබා ගැනීම අපහසු වේ. මේ නිසා එම ගනුදෙනුවල ද්විත්ව බලපෑම ගිණුම්කරණයේ දී සාමාන්‍යයෙන් සටහන් කරනු ලබන්නේ ද්විත්ව සටහන් ක්‍රමය අනුව ය.

## 6.2 ද්විත්ව සටහන් ක්‍රමය

සෑම ගනුදෙනුවකින් ම ගිණුම්කරණ සමීකරණට ද්විත්ව බලපෑමක් සිදුවන බවත් එම බලපෑම සටහන් කරන්නේ ගිණුම්වල බවත් ඉහත දී සඳහන් කර ඇත. එසේ ගනුදෙනුවක ද්විත්ව බලපෑම සටහන් කරන විට එකම වටිනාකම වෙනම ම ගිණුම් දෙකක සටහන් කිරීමට සිදු වේ. සෑම ගිණුමක ම හර සහ බැර වශයෙන් දෙපැත්තක් ඇත. කිසියම් ගනුදෙනුවක වටිනාකම එක් ගිණුමක හර පැත්තේ සටහන් කළ හොත් තවත් ගිණුමක බැර පැත්තේ සටහන් කළ යුතු ය. මෙසේ ගනුදෙනුවක ද්විත්ව බලපෑම පෙන්නුම් කිරීම සඳහා එක ම වටිනාකම වෙනුවෙන් හර සහ බැර වශයෙන් සටහන් ඇතිවන පරිදි ගිණුම් තැබීමේ ක්‍රමය ද්විත්ව සටහන් ක්‍රමය වේ.

## 6.3 ගිණුම

කාලච්ඡේදයක් තුළ වත්කමක, හිමිකමක, වගකීමක, ආදායමක, හෝ වියදමක සිදුවන වෙනස්වීම (අඩු වීම හෝ වැඩි වීම) වාර්තා කරනු ලබන පොදුවේ පිළිගත් ආකෘතිය ගිණුමක් වේ. ගිණුමක් පහත සඳහන් ආකාරයට පිළියෙල කළ හැකි ය.

හර ............................. ගිණුම බැර

| දිනය | විස්තරය | ස. පි. | වටිනාකම රු. | දිනය | විස්තරය | ස. පි. | වටිනාකම රු. |
|---|---|---|---|---|---|---|---|
| (1) | (2) | (3) | (4) | (5) | (6) | (7) | (8) |

(1) සහ (5) ගනුදෙනුව සිදු වූ දිනය

(2) සහ (6) ද්විත්ව සටහනේ අනෙක් සටහන තැබූ ගිණුමේ නම

ගිණුමක හර පැත්තේ ඇති විස්තරය තීරුවේ සාමාන්‍යයෙන් ලියන්නේ අදාළ වටිනාකම බැර කරන ගිණුමේ නම වන අතර

ගිණුමක බැර පැත්තේ ඇති විස්තරය තීරුවේ සාමාන්‍යයෙන් ලියන්නේ අදාළ වටිනාකම හර කරන ගිණුමේ නම යි.

(3) සහ (7) ගනුදෙනුවේ අනෙක් සටහන දක්වෙන ගිණුම ඇතුළත් වන ලෙජරය නැමැති පොතෙහි ඇති පිටුවේ අංකය. (සඟල පිටු අංකය)

(4) සහ (8) ගනුදෙනුවේ වටිනාකම

## 6.4 ගිණුම් වර්ග

ව්‍යාපාර ගනුදෙනු නිසා වත්කම්, හිමිකම, වගකීම්, ආදායම්, හා වියදම් ජනිත වන බව අප මීට පෙර සාකච්ඡා කරන ලදි. ගනුදෙනු නිසා මෙම අයිතමවල සිදුවන වෙනස්වීම් වාර්තා කිරීමට ගිණුම් යොදා ගනී. මෙම සියලු ම ගිණුම් වර්ග පහක් යටතේ හඳුනා ගත හැකි ය.

01. වත්කම් ගිණුම්

**නිදසුන් ඃ-**

ගොඩනැගිලි ගිණුම, ණයගැති ගිණුම,
මුදල් ගිණුම

02. වගකීම් ගිණුම්

**නිදසුන් ඃ-**

බැංකු ණය ගිණුම, ණයහිමි ගිණුම,
ගෙවිය යුතු විදුලි ගාස්තු ගිණුම

03. හිමිකම් ගිණුම

**නිදසුන් ඃ-**

ප්‍රාග්ධන ගිණුම, ගැනිලි ගිණුම

04. ආදායම් ගිණුම්

**නිදසුන් ඃ-**

විකුණුම් ගිණුම, කොමිස් ආදායම් ගිණුම,
පොලී ආදායම් ගිණුම

05. වියදම් ගිණුම්

**නිදසුන් ඃ-**

වැටුප් ගිණුම, රක්ෂණ ගාස්තු ගිණුම,
විදුලි ගාස්තු ගිණුම




රූපය 6.1

ව්‍යාපාර ගනුදෙනු ගිණුම්වල සටහන් කරන විට ගනුදෙනුවේ වටිනාකම අදාළ ගිණුම්වල හර පැත්තේ හෝ බැර පැත්තේ සටහන් කළ යුතු ය. එසේ සටහන් කරන ආකාරය පිළිබඳ සලකා බලමු.

## 6.5 ගනුදෙනු ගිණුම්වල සටහන් කිරීම

ගිණුම්වල සටහන් කෙරෙන්නේ වත්කමක, හිමිකමක, වගකීමක, ආදායමක, හෝ වියදමක වැඩි වීම හෝ අඩු වීම ය. කෙසේ වුව ද ගිණුමකට හර කරන්නේ වැඩිවීමක් පෙන්නුම් කිරීම සඳහා ම නොවේ. සමහර ගිණුම්වල වැඩි වීමක් පෙන්නුම් කිරීම සඳහා හර කරනු ලබන අතර සමහර ගිණුම්වල අඩු වීමක් පෙන්නුම් කිරීම සඳහා ද හර කරනු ලැබේ. බැර කිරීම සම්බන්ධයෙන් ද තත්ත්වය මෙසේ ම ය. ඒ අනුව වැඩි වීම හෝ අඩු වීම පෙන්නුම් කිරීම සඳහා ගිණුමක හර හෝ බැර කරන්නේ කෙසේ ද යන ගැටලුව පැන නගියි. මෙම ගැටලුවට විසඳුම් ලෙස පොදුවේ පිළිගත් රීති සමූහයක් ඇත. ද්විත්ව සටහන් රීතීන් හෙවත් ද්විත්ව සටහන් මූලධර්ම ලෙස හැඳින්වෙන්නේ මේවා ය. ගිණුම් වර්ග පහක් සඳහා ද්විත්ව සටහන් රීතී පහක් තිබේ. ඒවා පහත වගුවේ දක්වා ඇත.




| ගිණුම් වර්ගය | වැඩි වීම | අඩු වීම |
|---|---|---|
| වත්කම් ගිණුම් | හර | බැර |
| වගකීම් ගිණුම් | බැර | හර |
| හිමිකම් ගිණුම් | බැර | හර |
| ආදායම් ගිණුම් | බැර | හර |
| වියදම් ගිණුම් | හර | බැර |




රූපය 6.2

**නිදසුන් :-** 20XX.01.03 රු. 500 000ක් ගෙවා යන්ත්‍රයක් මිල දී ගැනීම

ද්විත්ව සටහන :- යන්ත්‍ර ගිණුම (වත්කම් වැඩි වීම) හර රු. 500 000

මුදල් ගිණුම (වත්කම් අඩු වීම) බැර රු. 500 000

හර යන්ත්‍ර ගිණුම බැර

| දිනය | විස්තරය | ස. පි. | වටිනාකම රු. | දිනය | විස්තරය | ස. පි. | වටිනාකම රු. |
|---|---|---|---|---|---|---|---|
| 20XX.01.03 | මුදල් ගිණුම | | 500 000 | | | | |

හර මුදල් ගිණුම බැර

| දිනය | විස්තරය | ස. පි. | වටිනාකම රු. | දිනය | විස්තරය | ස. පි. | වටිනාකම රු. |
|---|---|---|---|---|---|---|---|
| | | | | 20XX.01.03 | යන්ත්‍ර ගිණුම | | 500 000 |

**නිදසුන් :-** 20XX.01.04 ව්‍යාපාරයට රු. 200 000ක බැංකු ණයක් ලබා ගැනීම
**ද්විත්ව සටහන :-** මුදල් ගිණුම (වත්කම් වැඩි වීම) හර රු. 200 000
බැංකු ණය (වගකීම් වැඩි වීම) බැර රු. 200 000

හර මුදල් ගිණුම බැර

| දිනය | විස්තරය | ස. පි. | වටිනාකම රු. | දිනය | විස්තරය | ස. පි. | වටිනාකම රු. |
|---|---|---|---|---|---|---|---|
| 20XX.01.03 | බැංකු ණය ගිණුම | | 200 000 | | | | |

හර බැංකු ණය ගිණුම බැර

| දිනය | විස්තරය | ස. පි. | වටිනාකම රු. | දිනය | විස්තරය | ස. පි. | වටිනාකම රු. |
|---|---|---|---|---|---|---|---|
| | | | | 20XX.01.03 | මුදල් ගිණුම | | 200 000 |

**නිදසුන් :-** 20XX.01.05 අයිතිකරු ව්‍යාපාරයට රු. 300 000ක මුදල් යෙදවීම
**ද්විත්ව සටහන :-** මුදල් ගිණුම (වත්කම් වැඩි වීම) හර රු. 300 000
ප්‍රාග්ධන ගිණුම (හිමිකම වැඩිවීම) බැර රු. 300 000

හර මුදල් ගිණුම බැර

| දිනය | විස්තරය | ස. පි. | වටිනාකම රු. | දිනය | විස්තරය | ස. පි. | වටිනාකම රු. |
|---|---|---|---|---|---|---|---|
| 20XX.01.05 | ප්‍රාග්ධන ගිණුම | | 300 000 | | | | |

හර ප්‍රාග්ධන ගිණුම බැර

| දිනය | විස්තරය | ස. පි. | වටිනාකම රු. | දිනය | විස්තරය | ස. පි. | වටිනාකම රු. |
|---|---|---|---|---|---|---|---|
| | | | | 20XX.01.05 | මුදල් ගිණුම | | 300 000 |

**නිදසුන් :-** 20XX.01.05 රු. 200 000ක පොලී ආදයමක් ලැබීම
**ද්විත්ව සටහන :-** මුදල් ගිණුම (වත්කම් වැඩි වීම) හර රු. 200 000
පොලී ආදයම් ගිණුම (ආදායම් වැඩිවීම) බැර රු. 200 000

හර මුදල් ගිණුම බැර

| දිනය | විස්තරය | ස. පි. | වටිනාකම රු. | දිනය | විස්තරය | ස. පි. | වටිනාකම රු. |
|---|---|---|---|---|---|---|---|
| 20XX.01.05 | පොලී ආදයම් ගිණුම | | 200 000 | | | | |

| හර | | | | පොලී ආදායම් ගිණුම | | | බැර |
|---|---|---|---|---|---|---|---|
| දිනය | විස්තරය | ස. පි. | වටිනාකම රු. | දිනය | විස්තරය | ස. පි. | වටිනාකම රු. |
| | | | | 20XX.01.05 | මුදල් ගිණුම | | 200 000 |

**නිදසුන් ඃ-** 20XX.01.06 රු. 20 000ක වැටුප් ගෙවීම

ද්විත්ව සටහන ඃ- වැටුප් ගිණුම (වියදම් වැඩි වීම) හර රු. 20 000

මුදල් ගිණුම (වත්කම් අඩු වීම) බැර රු. 20 000

| හර | | | | වැටුප් ගිණුම | | | බැර |
|---|---|---|---|---|---|---|---|
| දිනය | විස්තරය | ස. පි. | වටිනාකම රු. | දිනය | විස්තරය | ස. පි. | වටිනාකම රු. |
| 20XX.01.06 | මුදල් ගිණුම | | 20 000 | | | | |

| හර | | | | මුදල් ගිණුම | | | බැර |
|---|---|---|---|---|---|---|---|
| දිනය | විස්තරය | ස. පි. | වටිනාකම රු. | දිනය | විස්තරය | ස. පි. | වටිනාකම රු. |
| | | | | 20XX.01.06 | වැටුප් ගිණුම | | 20 000 |

**ලෙජරය**

ව්‍යාපාරයක එක් එක් වත්කම් වර්ගය වෙනුවෙන් වෙන වෙන ම ගිණුම බැගින් පවත්වාගෙන යා යුතුය. ඒ අනුව මෝටර් රථ ගිණුම, ලී බඩු ගිණුම, මුදල් ගිණුම යනාදී වශයෙන් වත්කම් ගිණුම් ගණනාවක් ම තිබිය හැකි ය. මේ ආකාරයට හිමිකම්, වගකීම්, ආදායම් හා වියදම් යනාදිය සඳහා ද ගිණුම් ගණනාවක් තිබිය හැකි ය. මෙම ගිණුම් සියල්ලෙහි ම එකතුව **ලෙජරය** ලෙස හඳුන්වනු ලැබේ. මේ නිසා ව්‍යාපාර ගනුදෙනු ගිණුම්වල සටහන් කිරීම ඒවා ලෙජරයෙහි සටහන් කිරීම ලෙස ද හැඳින්විය හැකි ය.



රූප 6.3

## 10.4 තාක්ෂණික ක්‍රමවේද මගින් සිදු කෙරෙන ක්ෂණික මුදල් ගනුදෙනු

ව්‍යාපාරික කටයුතු සිදු කෙරෙන ආකාරය තාක්ෂණයේ දියුණුවත් සමග වෙනස් වී තිබේ. එනම් වර්තමානයේ දී බොහෝ ව්‍යාපාර සිය ගනුදෙනු තාක්ෂණික ක්‍රම ඔස්සේ සිදු කිරීමේ ප්‍රවණතාවක් දක්නට ලැබේ. මෙසේ තාක්ෂණය භාවිත කරමින් සිදු කෙරෙන ව්‍යාපාර කටයුතු කිහිපයක් පහත දැක්වේ.

ගනුදෙනු පොත්වල සටහන් කිරීම වෙනුවට පරිගණක ආශ්‍රයෙන් සටහන් කිරීම

ගනුදෙනුකරුවන් හා සැපයුම්කරුවන් වෙත ලිපි මගින් පණිවිඩ හුවමාරු කිරීම වෙනුවට දුරකථන භාවිත කිරීම, කෙටි පණිවිඩ සේවා භාවිත කිරීම හා විද්‍යුත් තැපැල භාවිත කිරීම

ව්‍යාපාරයේ ජල බිල්පත්, දුරකථන බිල්පත් ආදිය සඳහා අන්තර්ජාලය හරහා මුදල් ගෙවීම

කාසි හා නෝට්ටු වෙනුවට චෙක්පත්, හරපත්, ණයපත් ආදිය භාවිත කිරීම

බැංකුව වෙත නොගොස් අන්තර්ජාලය ඔස්සේ බැංකුව සමග අවශ්‍ය ගනුදෙනු කිරීම, බැංකු ගිණුම් විස්තර ලබා ගැනීම

Point of sale (Pos) වැනි ඉලෙක්ට්‍රොනික උපකරණ භාවිත කරමින් විකුණුම් කටයුතු සිදු කිරීම

තාක්ෂණය භාවිත කරමින් සිදුවන මෙවැනි ගනුදෙනු ද ව්‍යාපාරයේ මූලික පොත්වල සටහන් කර ලෙජරයට පිටපත් කළ යුතු වේ.

### ජංගම දුරකථන ආශ්‍රිත ගනුදෙනු

ශ්‍රී ලංකාව පුරා සියලු ප්‍රදේශ ආවරණය කරමින් ව්‍යාප්ත ව පවතින ජංගම දුරකථන සේවය අද සෑම දෙනාගේ ම දෛනික කටයුතුවල විශාල පෙරළියක් සිදු කර ඇත. නවීනතම තාක්ෂණයෙන් යුක්ත වන ජංගම දුරකථන ව්‍යාපාර ලෝකයේ ද බොහෝ වෙනස්කම් සිදු කර ඇත.

ශ්‍රී ලංකාව තුළ ඉතා ඉහළ මට්ටමකින් ව්‍යාප්ත ව පවත්නා ජංගම දුරකථන භාවිත කරමින් ගෙවීම් කටයුතු කිරීම අද බොහෝ ව්‍යාපාරවල බහුල ව දක්නට ලැබේ. 2012 වසරේ දී පෞද්ගලික දුරකථන ජාල ක්‍රියාකරුවෙකු විසින් ප්‍රථම වරට ජංගම දුරකථන ආශ්‍රිත ව ගෙවීම් ක්‍රමය ශ්‍රී ලංකාවට හඳුන්වා දෙන ලදි.



රූපය 10.1

ජංගම දුරකථන භාවිත කිරීම ව්‍යාපාරික කටයුතුවලට පහසුවකි. ඉන් කිහිපයක් පහත දැක්වේ.

- ව්‍යාපාරයට සම්බන්ධ ඕනෑ ම පාර්ශ්වයක් සමග ඉතා ඉක්මනින් තොරතුරු සන්නිවේදනය කළ හැකි වීම.
- ජංගම දුරකථන හරහා බැංකු කටයුතු පහසුවෙන් ඉටුකර ගත හැකි වීම.
- ජංගම දුරකථන දත්ත සන්නිවේදන ජාලය මඟින් ව්‍යාපාරිකයෙකුට තීරණ ගැනීමට අවශ්‍ය තොරතුරු අන්තර්ජාලයට පිවිස පහසුවෙන් ලබා ගත හැකි වීම.

වර්තමානයේ බොහෝ වාණිජ බැංකු තම ගනුදෙනුකරුවන් වෙත දුරකථන බැංකු සේවා පහසුකම් ලබා දී ඇත. ටෙලි බැංකු සේවා ලෙස හඳුන්වන්නේ මේවා ය. මේ තුළින් ව්‍යාපාරිකයෙකුට පහත සඳහන් කාර්ය ඉටුකර ගත හැකි වේ.

- බැංකු ගිණුමේ ශේෂය පිරික්සීම
- බැංකු ගිණුම් ප්‍රකාශන ලබා ගත හැකි වීම
- විදුලි බිල්පත්, ජල බිල්පත් ආදිය ගෙවීම
- ගිණුමකින් තවත් ගිණුමකට මුදල් මාරු කිරීම
- චෙක්පොත් සඳහා අයදුම් කිරීම

ජංගම දුරකථන බැංකුකරණයේ වාසි

- ඕනෑ ම අවස්ථාවක, ඕනෑ ම ස්ථානයක සිට වුව ද බැංකුවට නොගොස් ව්‍යාපාරිකයෙකුට තම මුදල් පාලනය කළ හැකි වීම
- ගනුදෙනු කිරීම පහසු වීම
- මූල්‍යමය ගනුදෙනු ඉතා ඉක්මණින් සපුරා ගත හැකි වීම
- කාලය හා ශ්‍රමය ඉතිරි වීම
- මුදල් කාසි හා නෝට්ටු වශයෙන් එහා මෙහා ගෙන යෑමේ දී ආරක්ෂාව සම්බන්ධයෙන් මතුවන ගැටලු ජංගම දුරකථන බැංකුකරණයේ දී ඇති නොවීම

## පරිගණක ආශ්‍රිත ගිණුම්කරණය

වර්තමානයේ බොහෝ ව්‍යාපාර සංවිධාන ඒවායේ ගිණුම්කරණ කටයුතු පරිගණක ගත කර ඇත. මෙහි දී සිදු වන්නේ ව්‍යාපාරයේ ගිණුම්කරණ දත්ත පරිගණක මෘදුකාංගයක් (Software) වෙත ඇතුළත් කිරීම තුළින් අවශ්‍ය ගිණුම්කරණ නිමැවුම් ලබා ගැනීම යි. ව්‍යාපාරයේ දෛනික ව සිදුවන ගනුදෙනු පරිගණක පද්ධතියට ඇතුළත් කරනු ලබන අතර ඒවා වාර්තා කිරීම, ගබඩා කිරීම හා විශ්ලේෂණය තුළින් ව්‍යාපාර කෙරෙහි ඇල්මක් දක්වන පාර්ශ්ව වෙත අවශ්‍ය තොරතුරු ලබාදීම පරිගණකය මගින් සිදු කෙරෙයි.



රූපය 10.2

ගිණුම් කාලච්ඡේදය අවසානයේ දී ව්‍යාපාරයේ මූල්‍ය වාර්තා පරිගණකය මගින් ස්වයංක්‍රීය ව පිළියෙල කෙරෙයි. වර්තමානයේ දි පහත සඳහන් ගිණුම්කරණ මෘදුකාංග පැකේජ භාවිතයේ පවතී.

- Acc pac
- Quickbook
- MYOB
- Sage

පරිගණක ආශ්‍රිත ගිණුම්කරණයේ වාසි සහ අවාසි පහත දක්වා ඇත.

වාසි :-

- ඉක්මනින් ගනුදෙනු ගිණුම්ගත කිරීමට හා අවශ්‍ය ගිණුම් වාර්තා ස්වයංක්‍රිය ව පිළියෙල කරගැනීමට හැකි වීම නිසා කාලය ඉතිරි වීම
- අවශ්‍ය ශ්‍රමය අවම වීම තුළින් මුදල් ඉතිරි වීම
- ස්වයංක්‍රීය ව නිමවන ගිණුම් වාර්තාවල නිරවද්‍යතාව ඉහළ වීම
- කාලීන දත්ත පහසුවෙන් ලබා ගත හැකි වීම

අවාසි :-

- විදුලිය ඇණ හිටීම, පරිගණක වෛරස හා අනෙකුත් තාක්ෂණික දෝෂ නිසා දත්ත නැති වීමේ අවදානම
- පරිගණක දත්ත ලබා ගැනීමේ හා වෙනස් කිරීමේ අවදානමක් තිබීම
- අවශ්‍ය පරිගණක මෘදුකාංගය මිල දී ගැනීම සඳහා විශාල මුදලක් ගෙවිය යුතු වීම



*ක්‍රියාකාරකම 04*

01. ජංගම දුරකථන බැංකුකරණයේ වාසි කිහිපයක් දක්වන්න.

02. ගනුදෙනු පොත්වල සටහන් කිරීමට වඩා පරිගණක ආශ්‍රයෙන් සටහන් කිරීම ව්‍යාපාරයකට හිතකර විය හැකි ය. මෙම ප්‍රකාශය සම්බන්ධ ව තම මිතුරන් සමග විවාදයක යෙදෙන්න.

# 11 ශේෂ පිරික්සුම




මෙම පරිච්ඡේදය මගින් පහත දැක්වෙන කරුණු පිළිබඳ සාකච්ඡා කෙරේ.

11.1 ශේෂ පිරික්සුම හැඳින්වීම

11.2 මූලික පොත්වලින් ගනුදෙනු ලෙජරයට පිටපත් කිරීම

11.3 ලෙජර් ගිණුම් තුලනය කිරීම

11.4 ශේෂ පිරික්සුම පිළියෙල කිරීම

## 11.1 ශේෂ පිරික්සුම හැඳින්වීම

ද්විත්ව සටහන් රීතිවලට අනුව ලෙජර ගිණුම් පිළියෙල කිරීමේ දී ගනුදෙනුවේ ද්විත්ව බලපෑම එක් ගිණුමක හරටත්, ඊට අදාළ අනෙක් ගිණුමේ බැරටත් සටහන් කරනු ලැබේ. ඒ අනුව ලෙජර් ගිණුම් තුලනය කළ පසු හර හා බැර වශයෙන් ශේෂ දක්නට ලැබේ. ද්විත්ව සටහන් රීතිවලට අනුව ගනුදෙනු ගිණුම්වල නිවැරදි ව සටහන් කර ගිණුම් තුලනය කළේ නම් එම ලැබෙන හර ශේෂ එකතුව සහ බැර ශේෂ එකතුව එකිනෙකට සමාන විය යුතු ය.

යම් කාලච්ඡේදයක් අවසානයේ දී ලෙජර ගිණුම්වල හර ශේෂ සහ බැර ශේෂ වෙන වෙන ම තීරු දෙකක ඇතුළත් කර පිළියෙල කරන ලැයිස්තුව ශේෂ පිරික්සුම වේ. මෙය ගිණුමක් නොවේ. එය ශේෂ ඇතුළත් ලේඛනයක් පමණක් වන අතර ලෙජරයේ සාරාංශයක් ලෙස සැලකිය හැකි ය.
සමාන අගයකින් ද්විත්ව සටහන් තබා ගිණුම් නිවැරදි ව තුලනය කළේ නම් එහි හර ශේෂ එකතුව සහ බැර ශේෂ එකතුව සමාන වේ. ඒ අනුව ශේෂ පිරික්සුමක හර ශේෂ එකතුව සහ බැර ශේෂ එකතුව සමාන වුවහොත් ඒ මගින් පහත සඳහන් කරුණු දෙක තහවුරු වේ.

1. ගිණුම්වලට හර කර ඇති අගය සහ බැර කර ඇති අගය සමාන බව
2. ගිණුම් නිවැරදි ව තුලනය කර ඇති බව (ගණිතමය නිවැරදිතාව ඇති බව)

**නිදසුන් ඃ-**

20XX.01.01 දින වෙළෙඳ ව්‍යාපාරයක් ආරම්භ කළ ජනකාන්තගේ ව්‍යාපාරයේ 20XX.06.30 වන දිනට ලෙජර ගිණුම් තුලනය කර ලබාගත් ශේෂ පහත දැක්වෙන පරිදි වේ.

| | රු. |
|---|---|
| මුදල් | 40 000 |
| ගැනුම් | 150 000 |
| විකුණුම් | 365 000 |
| ණයගැතියෝ | 35 000 |
| ණයහිමියෝ | 24 000 |
| රක්ෂණ ගාස්තු | 6 000 |
| ලී බඩු | 20 000 |
| ලද වට්ටම් | 8 000 |
| දුන් වට්ටම් | 4 000 |
| මෝටර් රථ | 400 000 |
| කඩකුලී ගෙවීම් | 30 000 |
| ලිපි ද්‍රව්‍ය වියදම් | 5 000 |
| 12% ආයෝජන | 50 000 |
| ආයෝජන ආදායම් | 3 000 |
| 15% බැංකු ණය | 90 000 |
| 20XX.01.01 දිනට ප්‍රාග්ධනය | 250 000 |

ඉහත ශේෂ ඇතුළත් කර පිළියෙල කරන ලද ශේෂ පිරික්සුම පහත දැක්වේ.

**ජනකාන්තගේ ව්‍යාපාරය**

20XX.06.30 වන දිනට ශේෂ පිරික්සුම

| විස්තරය | හර<br>රු. | බැර<br>රු. |
|---|---|---|
| මුදල් | 40 000 | |
| ගැනුම් | 150 000 | |
| විකුණුම් | | 365 000 |
| ණයගැතියෝ | 35 000 | |
| ණයහිමියෝ | | 24 000 |
| රක්ෂණ ගාස්තු | 6 000 | |
| ලී බඩු | 20 000 | |
| ලද වට්ටම් | | 8 000 |
| දුන් වට්ටම් | 4 000 | |
| කඩ කුලී ගෙවීම් | 30 000 | |
| මෝටර් රථ | 400 000 | |
| ලිපි ද්‍රව්‍ය වියදම් | 5 000 | |
| 12% ආයෝජන | 50 000 | |
| ආයෝජන ආදායම් | | 3 000 |
| 15% බැංකු ණය | | 90 000 |
| ප්‍රාග්ධනය | | 250 000 |
| | 740 000 | 740 000 |

## 11.2 මූලික පොත්වලින් ගනුදෙනු ලෙජරයට පිටපත් කිරීම

ගිණුම් කාල සීමාවක් තුළ දී ව්‍යාපාරයක සිදු වූ ගනුදෙනු මූලික සටහන් පොත්වල වාර්තා කර ලෙජර ගිණුම්වලට පිටපත් කිරීම සිදු කෙරේ. ගනුදෙනු මූලික පොත්වල සටහන් කර ඒවා ලෙජරයට පිටපත් කරන ආකාරයත් එම ලෙජර ගිණුම් තුලනය කර ලබා ගන්නා ශේෂ ඇතුළත් කර ශේෂ පිරික්සුම පිළියෙල කරන ආකාරයත් පහත දැක්වෙන නිදසුන මගින් අධ්‍යයනය කරමු.

**නිදසුන ඃ-**

සමනල ව්‍යාපාරයේ 20XX ජනවාරි මාසයේ සිදු වූ ගනුදෙනු පහත දැක්වේ.

**මුදල් ලැබීම් හා මුදල් ගෙවීම් ගනුදෙනු**

20XX.01.01 රු. 200 000කින් ව්‍යාපාරය ආරම්භ කරන ලදි.

01.02 අත්පිට ගැනුම් රු. 85 000ක් වේ.

01.03 රු. 20 000කින් බැංකු ජංගම ගිණුමක් ආරම්භ කරන ලදි.

01.04 බැංකු ණයක් මුදලින් ලැබුණා රු. 50 000.
01.05 අත්පිට විකුණුම් රු. 150 000කි.
01.08 කඩකුලී ගෙවීම් රු. 2 000කි.
01.10 ප්‍රියානිගෙන් (ණයගැතියෙකු) මුදල් ලැබුණා රු. 11 600කි. අඩුකළ වට්ටම රු. 400කි.
01.12 බැංකු ණය ගෙවීම් රු. 3 000කි.
01.20 ඉමාෂාගෙන් (ණයගැතියෙකු) රු. 9 000ක චෙක්පතක් ලැබිණ.
01.25 සුරංගිට (ණයහිමි) මුදල් ගෙවීම් රු. 7 600ක් වූ අතර අඩුකළ වට්ටම රු. 400කි.
01.26 විජිතට (ණයහිමි) රු. 12 000ක ණය ගෙවීමේදී 5% ක වට්ටමක් ලැබිණ.

**බැංකු ජංගම ගිණුම සමග සිදුකරන ලද ගනුදෙනු**

01.08 රු. 15 000ක චෙක්පතක් නිකුත්කර විකිණීමට භාණ්ඩ මිල දී ගත්තේ ය.
01.11 ප්‍රියානිගෙන් රු. 6 200ක චෙක්පතක් ලැබුණු අතර අඩුකරගෙන තිබූ වට්ටම රු. 300කි. මෙම චෙක්පත එදින ම බැංකුවේ තැන්පත් කරනු ලැබී ය.
01.18 කඩ කුලී සඳහා රු. 2000ක චෙක්පතක් නිකුත් කළේ ය.
01.27 ඉමාෂාගෙන් ජනවාරි මස 20 වන දින ලැබුණු චෙක්පත බැංකුවේ තැන්පත් කළේ ය.

**වෙළෙඳ භාණ්ඩ ණයට ගැනීම සම්බන්ධ ගනුදෙනු**

01.06 ඉන්වොයිස් අංක 45 යටතේ සුරංගිගෙන් රු. 24 000
01.08 ඉන්වොයිස් අංක 116 යටතේ විජිතගෙන් රු. 20 000

**වෙළෙඳ භාණ්ඩ ණයට විකිණීම සම්බන්ධ ගනුදෙනු**

01.05 ඉන්වොයිස් අංක 01 යටතේ ප්‍රියානිට රු. 19 000
01.09 ඉන්වොයිස් අංක 02 යටතේ ඉමාෂාට රු. 25 000

**අවශ්‍ය වන්නේ**

20XX.01.31 න් අවසන් වූ මාසය සඳහා

01. වට්ටම් තීරු සහිත මුදල් පොත
02. වට්ටම් තීරු සහිත බැංකු ගිණුම
03. ගැනුම් ජ'නලය
04. විකුණුම් ජ'නලය
05. අදාළ ලෙජර් ගිණුම් සහ
06. 20XX.01.31 දිනට ශේෂ පිරික්සුම පිළියෙල කිරීම

හර මුදල් පොත බැර

| දිනය | විස්තරය | වට්ටම් | මුදල් | දිනය | විස්තරය | වට්ටම් | මුදල් |
|---|---|---|---|---|---|---|---|
| 20XX.01.01 | ප්‍රාග්ධනය | | 200 000 | 20XX.01.02 | ගැනුම් | | 85 000 |
| 01.04 | බැංකු ණය | | 50 000 | 01.03 | බැංකු | | 20 000 |
| 01.05 | විකුණුම් | | 150 000 | 01.08 | කඩකුලී | | 2 000 |
| 01.10 | ප්‍රියානි (ණයගැති) | 400 | 11 600 | 01.12 | බැංකු ණය | | 3 000 |
| 01.20 | ඉමාෂා (චෙක්) | | 9 000 | 01.25 | සුරංගි (ණයහිමි) | 400 | 7 600 |
| | | | | 01.26 | විජිත (ණයහිමි) | 600 | 11 400 |
| | | | | 01.27 | බැංකු (ඉමාෂා) | | 9 000 |
| | | | | 01.31 | ශේෂය ප/ගෙ | | 282 600 |
| | | 400 | 420 600 | | | 1000 | 420 600 |
| 02.01 | ශේෂය ඉ/ගෙ | | 282 600 | | | | |

හර බැංකු ගිණුම බැර

| දිනය | විස්තරය | වට්ටම් රු. | මුදල් රු. | දිනය | විස්තරය | වට්ටම් රු. | මුදල් රු. |
|---|---|---|---|---|---|---|---|
| 20XX.01.03 | මුදල් | | 20 000 | 20XX.01.08 | ගැනුම් | | 15 000 |
| 01.11 | ප්‍රියානි (ණයගැති) | 300 | 6 200 | 01.18 | කඩකුලී | | 2 000 |
| 01.27 | මුදල් (ඉමාෂා) | | 9 000 | 01.31 | ශේෂය ප/ගෙ | | 18 200 |
| | | | 35 200 | | | | 35 200 |
| 02.01 | ශේෂය ඉ/ගෙ | | 18 200 | | | | |

ගැනුම් ජ'නලය

| දිනය | ඉ. අංකය | විස්තරය | වටිනාකම රු. |
|---|---|---|---|
| 20XX.01.06 | 45 | සුරංගි | 24 000 |
| 01.08 | 116 | විජිත | 20 000 |
| 01.31 | | ගැනුම් ගිණුමට හර කළා | 44 000 |

විකුණුම් ජ'නලය

| දිනය | ඉ. අංකය | විස්තරය | වටිනාකම රු. |
|---|---|---|---|
| 20XX.01.05 | 01 | ප්‍රියානි | 19 000 |
| 01.09 | 02 | ඉමාෂා | 25 000 |
| 01.31 | | විකුණුම් ගිණුමට බැර කළා | 44 000 |

හර බැංකු ණය ගිණුම බැර

| දිනය | විස්තරය | වටිනාකම රු. | දිනය | විස්තරය | වටිනාකම රු. |
|---|---|---|---|---|---|
| 20XX.01.12 | මුදල් | 3 000 | 20XX.01.04 | මුදල් | 50 000 |
| 01.31 | ශේෂය ප/ගෙ | 47 000 | | | |
| | | 50 000 | | | 50 000 |
| | | | 02.01 | ශේෂය ඉ/ගෙ | 47 000 |

හර **ප්‍රියානි (ණයගැති)** බැර

| දිනය | විස්තරය | වටිනාකම රු. | දිනය | විස්තරය | වටිනාකම රු. |
|---|---|---|---|---|---|
| 20XX.01.05 | විකුණුම් | 19 000 | 20XX.01.10 | මුදල් | 11 600 |
| | | | 01.10 | වට්ටම් | 400 |
| | | | 01.11 | බැංකු | 6 200 |
| | | | 01.11 | වට්ටම් | 300 |
| | | | 01.31 | ශේෂය ප/ගෙ | 500 |
| | | 19 000 | | | 19 000 |
| 02.01 | ශේෂය ඉ/ගෙ ශේෂය | 500 | | | |

හර **ඉමාෂා (ණයගැති)** බැර

| දිනය | විස්තරය | වටිනාකම රු. | දිනය | විස්තරය | වටිනාකම රු. |
|---|---|---|---|---|---|
| 20XX.01.09 | විකුණුම් | 25 000 | 20XX.01.20 | මුදල් | 9 000 |
| | | | 01.31 | ශේෂය ප/ගෙ | 16 000 |
| | | 25 000 | | | 25 000 |
| 02.01 | ශේෂය ඉ/ගෙ | 16 000 | | | |

හර **සුරංගි (ණයහිමි)** බැර

| දිනය | විස්තරය | වටිනාකම රු. | දිනය | විස්තරය | වටිනාකම රු. |
|---|---|---|---|---|---|
| 20XX.01.25 | මුදල් | 7 600 | 20XX.01.06 | ගැනුම් | 24000 |
| 01.25 | වට්ටම් | 400 | | | |
| 01.31 | ශේෂය ප/ගෙ | 16 000 | | | |
| | | 24 000 | | | 24 000 |
| | | | 02.01 | ශේෂය ඉ/ගෙ | 16 000 |

හර **විජිත (ණයහිමි)** බැර

| දිනය | විස්තරය | වටිනාකම රු. | දිනය | විස්තරය | වටිනාකම රු. |
|---|---|---|---|---|---|
| 20XX.01.26 | මුදල් | 11 400 | 20XX.01.08 | ගැනුම් | 20 000 |
| 01.26 | වට්ටම් | 600 | | | |
| 01.31 | ශේෂය ප/ගෙ | 8 000 | | | |
| | | 20 000 | | | 20 000 |
| | | | 02.01 | ශේෂය ඉ/ගෙ | 8 000 |

හර **ප්‍රාග්ධන ගිණුම** බැර

| දිනය | විස්තරය | වටිනාකම රු. | දිනය | විස්තරය | වටිනාකම රු. |
|---|---|---|---|---|---|
| 20XX.01.31 | ශේෂය ප/ගෙ | 200 000 | 20XX.01.01 | මුදල් | 200 000 |
| | | 200 000 | | | 200 000 |
| | | | 02.01 | ශේෂය ඉ/ගෙ | 200 000 |

හර **දුන් වට්ටම් ගිණුම** බැර

| දිනය | විස්තරය | වටිනාකම රු. | දිනය | විස්තරය | වටිනාකම රු. |
|---|---|---|---|---|---|
| 20XX.01.31 | ණයගැති | 400 | 20XX.01.31 | ශේෂය ප/ගෙ | 700 |
| 01.31 | ණයගැති | 300 | | | |
| | | 700 | | | 700 |
| 02.01 | ශේෂය ඉ/ගෙ | 700 | | | |

හර **ලැබූ වට්ටම් ගිණුම** බැර

| දිනය | විස්තරය | වටිනාකම රු. | දිනය | විස්තරය | වටිනාකම රු. |
|---|---|---|---|---|---|
| 20XX.01.31 | ශේෂය ප/ගෙ | 1 000 | 20XX.01.31 | ණයහිමි | 1 000 |
| | | 1 000 | | | 1 000 |
| | | | 02.01 | ශේෂය ඉ/ගෙ | 1 000 |

හර **ගැනුම් ගිණුම** බැර

| දිනය | විස්තරය | වටිනාකම රු. | දිනය | විස්තරය | වටිනාකම රු. |
|---|---|---|---|---|---|
| 20XX.01.31 | මුදල් | 85 000 | 20XX.01.31 | ශේෂය ප/ගෙ | 144 000 |
| 01.31 | බැංකු | 15 000 | | | |
| 01.31 | ණයහිමි | 44 000 | | | |
| | | 144 000 | | | 144 000 |
| 02.01 | ශේෂය ඉ/ගෙ | 144 000 | | | |

හර **විකුණුම් ගිණුම** බැර

| දිනය | විස්තරය | වටිනාකම රු. | දිනය | විස්තරය | වටිනාකම රු. |
|---|---|---|---|---|---|
| 20XX.01.31 | ශේෂය ප/ගෙ | 194 000 | 20XX.01.05 | මුදල් | 150 000 |
| | | | 01.31 | ණයගැති | 44 000 |
| | | 194 000 | | | 194 000 |
| | | | 02.01 | ශේෂය ඉ/ගෙ | 194 000 |

හර **කඩ කුලී ගිණුම** බැර

| දිනය | විස්තරය | වටිනාකම රු. | දිනය | විස්තරය | වටිනාකම රු. |
|---|---|---|---|---|---|
| 20XX.01.08 | මුදල් | 2 000 | 01.31 | ශේෂය ප/ගෙ | 4 000 |
| 01.18 | බැංකු | 2 000 | | | |
| | | 4 000 | | | 4 000 |
| 02.01 | ශේෂය ඉ/ගෙ | 4 000 | | | |

සමනල ව්‍යාපාරය

20XX.01.31 දිනට ශේෂ පිරික්සුම

| විස්තරය | හර (රු.) | බැර (රු.) |
|---|---|---|
| මුදල් | 282 600 | |
| බැංකු ශේෂය | 18 200 | |
| ප්‍රාග්ධනය | | 200 000 |
| දුන්වට්ටම් | 700 | |
| ලැබූ වට්ටම් | | 1 000 |
| ගැනුම් | 144 000 | |
| විකුණුම් | | 194 000 |
| කඩ කුලී | 4 000 | |
| ණයගැති - ප්‍රියානි | 500 | |
| ඉමාෂා | 16 000 | |
| ණයහිමි - සුරංගි | | 16 000 |
| විජිත | | 8 000 |
| බැංකු ණය | | 47 000 |
| | 466 000 | 466 000 |



## ක්‍රියාකාරකම 01

පහත දැක්වෙන ශේෂයන් ඇතුළත් කර කෝසලගේ ව්‍යාපාරයේ 20XX.09.30 දිනට ශේෂ පිරික්සුම පිළියෙල කරන්න.

| | රු. |
|---|---|
| ණයගැතියෝ | 80 000 |
| ස්ථාවර තැන්පතු | 158 000 |
| ණයහිමියෝ | 60 000 |
| දුන් වට්ටම් | 4 000 |
| ගැනුම් | 250 000 |
| යන්ත්‍ර උපකරණ | 120 000 |
| ලද වට්ටම් | 9 000 |
| බැංකු අයිරාව | 15 000 |
| වේතන | 20 000 |
| 20XX.01.01 දිනට ප්‍රාග්ධනය | 200 000 |
| පොලී ආදායම් | 8 000 |
| මුදල් | 40 000 |
| විකුණුම් | 380 000 |

## ක්‍රියාකාරකම 02

නිමි ඇඳුම් මිලට ගෙන නැවත විකිණීම සිදුකරන තිසාරාගේ ව්‍යාපාරයේ 20XX.03.31 දිනට පහත දක්වෙන ශේෂයන් පැවතුණි.

| | | රු. |
|---|---|---|
| අත මුදල් | | 80 000 |
| බැංකු මුදල් | | 60 000 |
| ණයගැතියෝ | - පුබුදු | 50 000 |
| | කුමුදු | 40 000 |
| ප්‍රාග්ධනය | | 150 000 |
| ණයහිමියෝ | - අනුෂ්කා | 45 000 |
| | කණිෂ්කා | 35 000 |

20XX මාර්තු මාසයේ සිදු වූ ගනුදෙනු පහත දක්වේ.

**ණයට ගැනුම්**

| දිනය | ඉන්වොයිසි අංකය | මුළු වටිනාකම රු. | වෙනත් තොරතුරු |
|---|---|---|---|
| 20XX.03.05 | 45 (අනුෂ්කා) | 38 000 | අඩු කළ වෙළෙඳ වට්ටම 10 % |
| 20XX.03.08 | 56 (කණිෂ්කා) | 42 000 | |
| 20XX.03.12 | 48 (අනුෂ්කා) | 34 000 | අඩු කළ වෙළෙඳ වට්ටම 5 % |
| 20XX.03.18 | 59 (කණිෂ්කා) | 25 000 | අඩු කළ වෙළෙඳ වට්ටම 4 % |

**ණයට විකුණුම්**

| දිනය | ඉන්වොයිසි අංකය | වෙනත් තොරතුරු |
|---|---|---|
| 20XX.03.07 | 62 (පුබුදු) | එකක් රු. 1 500 බැගින් කමිස 20කි. |
| 20XX.03.10 | 63 (කුමුදු) | එකක් රු. 2 000 බැගින් කලිසම් 25කි. |
| 20XX.03.15 | 64 (පුබුදු) | එකක් රු. 600 බැගින් ළමා ඇඳුම් 40කි. |
| 20XX.03.20 | 65 (කුමුදු) | එකක් රු. 1 800 බැගින් සාරි 20කි. |

ණයට විකුණුම් සිදුකිරීමේ දී 10 % ක වෙළෙඳ වට්ටම් ලබා දීම ව්‍යාපාරයේ විකුණුම් ප්‍රතිපත්තිය වේ.

ලැබීම්වලට අදාළ තොරතුරු

| දිනය | මුදල් රු. | චෙක්පත් රු. | වෙනත් තොරතුරු |
|---|---|---|---|
| 20XX.03.02 විකුණුම් | 20 000 | 5 000 | චෙක්පත එදින ම බැංකුවේ තැන්පත් කළා. |
| 03.03 පුබුදුගෙන් | 8 500 | ——— | |
| 03.06 කුමුදුගෙන් | ——— | 12 400 | මෙම චෙක්පත 20XX.03.07 වන දින බැංකුවේ තැන්පත් කරන ලදි. |
| 03.07 පුබුදුගෙන් | 16 000 | 12 000 | මෙම චෙක්පත 20XX.03.10 වන දින බැංකුවේ තැන්පත් කරන ලදි. |
| 03.13 කුමුදුගෙන් | 8 000 | ——— | |

ගෙවීම්වලට අදාළ තොරතුරු

| දිනය | මුදල් රු. | චෙක්පත් රු. |
|---|---|---|
| 20XX.03.09 අනුෂ්කාට | | 13 000 |
| 03.10 කණිෂ්කාට | 15 400 | ——— |
| 03.11 ගැනුම් | 16 000 | 14 000 |
| 03.20 වැටුප් | 8 000 | 12 000 |
| 03.22 කණිෂ්කාට | ——— | 15 200 |

අවශ්‍ය වන්නේ,

01. මුදල් පොත
02. බැංකු ගිණුම
03. ගැනුම් ජ'නලය
04. විකුණුම් ජ'නලය
05. අදාළ ලෙජර් ගිණුම්
06. 20XX.03.31 දිනට ශේෂ පිරික්සුම පිළියෙල කිරීම

# 12 ගිණුම්කරණ වැරදි නිවැරදි කිරීම



මෙම පරිච්ඡේදය මගින් පහත දැක්වෙන කරුණු පිළිබඳ සාකච්ඡා කෙරේ.

12.1 ගිණුම්කරණ වැරදි නිවැරදි කිරීමේ අවශ්‍යතාව

12.2 ගිණුම්කරණ වැරදි සිදුවිය හැකි අවස්ථා

12.3 ගිණුම්කරණ වැරදි හඳුනා ගැනීම

12.4 ශේෂ පිරික්සුමේ සමානත්වයට බලනොපාන වැරදි

12.5 ශේෂ පිරික්සුමේ සමානත්වයට බලපෑමක් ඇති කරන වැරදි

## 12.1 ගිණුම්කරණ වැරදි නිවැරදි කිරීමේ අවශ්‍යතාව

ගිණුම්කරණය තුළින් ව්‍යාපාරයක් කෙරෙහි ඇල්මක් දක්වන පාර්ශ්වයන්ට තීරණ ගැනීමට නිවැරදි තොරතුරු ලබා දීම අපේක්ෂා කෙරේ. ව්‍යාපාරික ගනුදෙනු මූලික පොත්වල සටහන් කිරීමේ දී, ඒවා ලෙජරයට පිටපත් කිරීමේ දී හා ලෙජර ගිණුම් තුලනය කිරීමේ දී මෙන් ම ගිණුම්වල ශේෂයන් ශේෂ පිරික්සුමට උපුටා ගැනීමේ දී විවිධ වූ වැරදි සිදුවිය හැකි ය. මෙසේ ගිණුම්කරණ ක්‍රියාවලිය තුළ වැරදි සිදු වී ඇත්නම් ව්‍යාපාර කෙරෙහි ඇල්මක් දක්වන පාර්ශ්වයන්ට තීරණ ගැනීම සඳහා නිවැරදි තොරතුරු සැපයීමට නොහැකි වේ. ඒ නිසා මූල්‍ය වාර්තා පිළියෙල කිරීමට පෙර සිදු වී ඇති වැරදි නිවැරදි කළ යුතු ය.

## 12.2 ගිණුම්කරණ වැරදි සිදුවිය හැකි අවස්ථා

ව්‍යාපාරයක ගිණුම්කරණ ක්‍රියාවලියේ දී වැරදි සිදුවිය හැකි අවස්ථා පහත සඳහන් පරිදි වේ.

### 01. මූලික සටහන් පොත්වල ගනුදෙනු සටහන් කිරීමේ දී

ව්‍යාපාරයක ගනුදෙනු සටහන් කිරීමේ ආරම්භක අවස්ථාව වන මූලික සටහන් පොත්වල ගනුදෙනු ඇතුළත් කිරීමේ දී වැරදි සිදුවිය හැකි ය.

**නිදසුන් ඃ-**

රු. 20 000ක ණයට විකුණුම් ඉන්වොයිසියක් විකුණුම් ජ'නලයේ සටහන් නොවීම

රු. 50 000ක ණයට ගැනුම් ඉන්වොයිසියක් ගැනුම් ජ'නලයේ රු. 5 000ක් ලෙස සටහන් වීම

### 02. මූලික සටහන් පොත්වලින් ගනුදෙනු ලෙජරයට පිටපත් කිරීමේ දී

මූලික පොත්වල සටහන් කරනු ලබන ගනුදෙනු ලෙජර ගිණුම්වලට පිටපත් කිරීමේදී වැරදි සිදුවිය හැකි ය.

**නිදසුන් ඃ-**

රු. 50 000ක් වූ ගැනුම් ජ'නලයේ එකතුව ගැනුම් ගිණුමට පිටපත් නොවීම

රු. 155 000ක් වූ විකුණුම් ජ'නලයේ එකතුව විකුණුම් ගිණුමේ රු. 150 000ක් ලෙස සටහන් වීම

### 03. ලෙජර ගිණුම් තුලනය කිරීමේදී

යම් කාල සීමාවක් අවසානයේදී ගිණුම් තුලනය කිරීමේ දී වැරදි සිදු විය හැකි ය.

**නිදසුන් ඃ-**

විකුණුම් ගිණුමේ එකතුව රු. 10 000ක් අඩුවෙන් එකතු කොට තිබීම

කුලී වියදම් ගිණුමේ එකතුව රු. 5 000ක් වැඩියෙන් සටහන් වීම

### 04. ශේෂ පිරික්සුම පිළියෙල කිරීමේදී

ලෙජරයේ ඇති ගිණුම්වල ශේෂ පදනම් කර ගනිමින් ශේෂ පිරික්සුම පිළියෙල කිරීමේදී ද ගිණුම්කරණ වැරදි සිදුවිය හැකි ය.

**නිදසුන් ඃ-**

විදුලි ගාස්තු ගිණුමේ ශේෂය වූ රු. 15 000 ශේෂ පිරික්සුමට උපුටා නොගැනීම

රක්ෂණ ගාස්තු ගිණුමේ ශේෂය වූ රු. 10 000 ශේෂ පිරික්සුමේ රු. 1 000ක් ලෙස ඇතුළත් වීම

මෙසේ ගිණුම්කරණ ක්‍රියාවලියේ විවිධ අදියරයන් තුළ ගිණුම්කරණ වැරදි සිදු වේ. එබැවින් ව්‍යාපාරයක් විසින් මුලින් ම කළ යුතු වන්නේ අදාළ වැරදි හඳුනා ගැනීමයි.

## 12.3 ගිණුම්කරණ වැරදි හඳුනා ගැනීම

ව්‍යාපාරයක ගනුදෙනු සටහන් කරනු ලබන්නේ ද්විත්ව සටහන් මූලධර්මය පදනම් කරගෙන ය. ඒ අනුව සෑම හර සටහනකට ම බැර සටහනක් තැබිය යුතු ය. එබැවින් ව්‍යාපාරයක් විසින් පිළියෙල කරනු ලබන ශේෂ පිරික්සුමක හර සහ බැර තීරු එකතු සමාන විය යුතු ය. එසේ සමාන නොවන විට ගිණුම්කරණ ක්‍රියාවලියේ වැරදි සිදු වී ඇති බව පැහැදිළි ව ම හඳුනාගත හැකි ය. නමුත් ශේෂ පිරික්සුමක හර හා බැර තීරුවල එකතු සමාන වුව ද ගිණුම්කරණ ක්‍රියාවලියේ දෝෂ තිබීමට පුලුවන. මන්ද යත් ශේෂ පිරික්සුමේ හර ශේෂ එකතුව සහ බැර ශේෂ එකතුව සමාන වීමෙන් තහවුරු වන්නේ හර සටහන්වල වටිනාකමට සමාන ව බැර සටහන් තබා ගිණුම් තුලනය කර ඇති බව පමණි. ඒ අනුව ගිණුම්කරණ වැරදි කොටස් දෙකකට බෙදා දැක්විය හැකි ය.

- ශේෂ පිරික්සුමේ සමානත්වයට බලනොපාන වැරදි
- ශේෂ පිරික්සුමේ සමානත්වයට බලපෑමක් ඇති කරන වැරදි

ගිණුම්කරණ වැරදි හඳුනාගත් පසු ඒවා නිවැරදි කරනු ලබන්නේ පොදු ජ'නලයේ සටහන් යෙදීමෙනි. ඉන්පසු අදාළ ගිණුම් නිවැරදි කළ යුතු ය.

දැන් ඉහතින් දක්වන ලද එක් එක් වැරදි නිවැරදි කරන ආකාරය අධ්‍යයනය කරමු.

## 12.4 ශේෂ පිරික්සුමේ සමානත්වයට බලනොපාන වැරදි

ගිණුම්කරණ ක්‍රියාවලියේ දී සිදුවන සමහර වැරදි ශේෂ පිරික්සුමේ සමානත්වයට බලපෑමක් ඇති නොකරයි. ඒ අනුව එවැනි වැරදි සිදු වී තිබිය දී වුව ද ශේෂ පිරික්සුමේ හර ශේෂ එකතුව සහ බැර ශේෂ එකතුව සමාන වේ. මේවා ශේෂ පිරික්සුම තුළින් හෙළිදරව් නොවන වැරදි ලෙස ද හඳුනා ගැනේ. ඒ සඳහා නිදසුන් කිහිපයක් පහත දක්වා ඇත.

### 01. ගනුදෙනුවක් සම්පූර්ණයෙන් ම පොත්වලින් මගහැරීම

කිසියම් ගනුදෙනුවක් මූලික පොතක සටහන් නොවූ විට ඒ පිළිබඳ ව ගිණුම්වල ද සටහන් ඇතුළත් නොවේ. මෙම දෝෂ අත්හැරීමේ දෝෂ ලෙස ද හැඳින්වේ. නිවැරදි කිරීම සඳහා ගනුදෙනුවට අදළ ද්විත්ව සටහන නිසි පරිදි වාර්තා කළ යුතු ය.

**නිදසුන් ඃ-**

රු. 50 000ක ණයට ගැනුම් ඉන්වොයිසියක් ගිණුම් පොත්වලින් සම්පූර්ණයෙන් ම මගහැරී යාම

**ඉහත ගිණුම්කරණ දෝෂය නිවැරදි කරනුයේ,**

පොදු ජ'නලය

| දිනය | වවුචර අංකය | විස්තරය | ලෙ.පි | හර රු. | බැර රු. |
|---|---|---|---|---|---|
| | | ගැනුම් ගිණුම හර<br>ණයහිමි ගිණුම<br>(රු. 50 000ක ගැනුම් ඉන්වොයිසියක් ගිණුම් පොත්වල සටහන් නොවීමේ වරද නිවැරදි කිරීම) | | 50 000 | 50 000 |

### 02. ගනුදෙනුවක වටිනාකම මූලික පොත්වල වැරදියට සටහන් වීම

මෙහි දී ගනුදෙනුවේ සත්‍ය වටිනාකමට වඩා අඩු හෝ වැඩි අගයක් මූලික පොතෙහි සටහන් වේ. එවිට හර සහ බැර යන සටහන් දෙක ම තුළ ඇතුළත් වන්නේ එම වැරදි අගය යි. නමුත් හර සහ බැර වටිනාකම් සමාන ව යොදා ඇති නිසා ශේෂ පිරික්සුම සමාන වේ. එබැවින් එය නිවැරදි කිරීමේ දී ගනුදෙනුවේ සත්‍ය වටිනාකමත් සටහන් වී ඇති වටිනාකමත් අතර වෙනස සටහන් කිරීම ප්‍රමාණවත් වේ.

**නිදසුන ඃ-**

රු. 20 000ක් වූ ණයට විකුණුම් ඉන්වොයිසියක් රු. 2 000ක් ලෙස විකුණුම් ජ'නලයේ සටහන් වීම.

මෙහි දී ණයගැති ගිණුම මෙන් ම විකුණුම් ගිණුම ද රු. 18 000කින් (රු. 20 000 - රු. 2 000) අඩු වී ඇති බැවින් අදළ ගිණුම් දෙකෙහි ම රු. 18 000 බැගින් සටහන් කිරීමෙන් සිදු වී ඇති ගිණුම්කරණ දෝෂය නිවැරදි කළ හැකි ය.

පොදු ජ'නලය

| දිනය | වවුචර අංකය | විස්තරය | ලෙ.පි | හර රු. | බැර රු. |
|---|---|---|---|---|---|
| | | ණයගැති ගිණුම හර<br>විකුණුම් ගිණුම<br>(රු. 18 000ක් අඩුවෙන් සටහන් වූ ණයට විකුණුම් නිවැරදි කිරීම) | | 18 000 | 18 000 |

**නිදසුන් ඃ-**

ණයහිමියකුගෙන් ලද වට්ටම් රු. 1 500ක් මුදල් පොතේ ලද වට්ටම් තීරුවේ රු. 1 300ක් ලෙස සටහන් ව තිබීම

මෙහි දී ණයහිමි ගිණුමේ මෙන් ම ලද වට්ටම් ගිණුමේ ද වටිනාකම් රු. 200 (රු. 1 500 - රු. 1 300) ක් අඩුවෙන් සටහන් වී ඇති බැවින් එම රු. 200 අලුතින් ගිණුම්වලට ඇතුළත් කළ යුතුය.

පොදු ජ'නලය

| දිනය | වවුචර අංකය | විස්තරය | ලෙ.පි | හර රු. | බැර රු. |
|---|---|---|---|---|---|
| | | ණයහිමි ගිණුම හර<br>ලද වට්ටම් ගිණුම<br>(රු. 1 500ක වට්ටම් ලැබීම මුදල් පොතේ ලද වට්ටම් තීරුවේ රු. 1 300ක් ලෙස සටහන් වීමේ වරද නිවැරදි කිරීම) | | 200 | 200 |

## 03. එකම ගනුදෙනුව ගිණුම් පොත්වල දෙවරක් සටහන් වීම

ඇතැම් අවස්ථාවල දී එක ම ගනුදෙනුව අදාළ මූලික පොතෙහි දෙවරක් සටහන් විය හැකි අතර ඒ නිසා ම එය ගිණුම්වල ද දෙවරක් සටහන් වී තිබිය හැකි ය. එවිට අදාළ ගනුදෙනුවේ වටිනාකම එම ගිණුම්වල විරුද්ධ පැතිවල සටහන් කිරීම තුළින් එම වරද නිවැරදි කළ හැකි ය.

**නිදසුන් ඃ-**

රු. 10 000ක ගැනුම් ඉන්වොයිසියක් ගිණුම් පොත්වල දෙවරක් සටහන් වීම.

පොදු ජ'නලය

| දිනය | වවුචර අංකය | විස්තරය | ලෙ.පි | හර රු. | බැර රු. |
|---|---|---|---|---|---|
| | | ණයහිමි ගිණුම හර<br>ගැනුම් ගිණුම<br>(රු. 10 000ක ගැනුම් ඉන්වොයිසියක් ගිණුම් පොත්වල දෙවරක් සටහන් වීමේ වරද නිවැරදි කිරීම) | | 10 000 | 10 000 |

## 04. කිසියම් ගනුදෙනුවක වටිනාකම නියමිත ගිණුමේ සටහන් නොකර වෙනත් ගිණුමක සටහන් වීම

ව්‍යාපාරයක් විසින් සමහර ගනුදෙනු සටහන් කරන විට අදාළ අගය නියමිත ගිණුමේ සටහන් නොකර වෙනත් ගිණුමක සටහන් වන අවස්ථා තිබිය හැකි ය. නමුත් මෙහි දී හර හා බැර සටහන්වල වටිනාකම් සමාන ව සටහන් වී ඇති හෙයින් ශේෂ පිරික්සුමේ සමානත්වයට බලපෑමක් ඇති නොකරයි.

**නිදසුන් ෑ-**

ව්‍යාපාරයේ පරිහරණය සඳහා මිලදී ගත් රු. 200 000ක් වූ කාර්යාල උපකරණවල පිරිවැය ගැනුම් ගිණුමට හර කර තිබීම

ගැනුම් ගිණුමෙන් පෙන්නුම් කරන්නේ ව්‍යාපාරයේ නැවත විකිණීමේ පරමාර්ථයෙන් මිල දී ගත් භාණ්ඩ තොගයේ වටිනාකමයි. මෙහි දී කාර්යාල උපකරණ මිල දී ගෙන ඇත්තේ ව්‍යාපාරයේ පරිහරණය සඳහා බැවින් එය හර කළ යුත්තේ කාර්යාල උපකරණ නමැති වත්කම් ගිණුමටයි. මෙය පහත පරිදි නිවැරදි කළ යුතු ය.

පොදු ජ'නලය

| දිනය | චවුචර අංකය | විස්තරය | ලෙ.පි | හර රු. | බැර රු. |
|---|---|---|---|---|---|
| | | කාර්යාල උපකරණ ගිණුම හර<br>ගැනුම් ගිණුම<br>(ව්‍යාපාරයේ පරිහරණය සඳහා මිලදී ගෙන තිබූ කාර්යාල උපකරණ ගැනුම් ගිණුමේ සටහන් වීමේ වරද නිවැරදි කිරීම) | | 200 000 | 200 000 |

***ක්‍රියාකාරකම 01***

ආධුනික ගිණුම් ලිපිකරුවෙකු විසින් 20XX.12.31 දිනට පිළියෙල කරන ලද ශේෂ පිරික්සුමේ හර ශේෂයන්ගේ එකතුව බැර ශේෂයන්ගේ එකතුවට සමාන වූ බැවින් නැවත ගිණුම් පරීක්ෂා කිරීම අනවශ්‍ය බවත් නිවැරදි ව අවසාන ගිණුම් පිළියෙල කළ හැකි බවත් ප්‍රකාශ කරන ලදි.

මෙම ප්‍රකාශය පිළිබඳ ව ඔබගේ අදහස් ඉදිරිපත් කරන්න.

***ක්‍රියාකාරකම 02***

ව්‍යාපාරයක් විසින් 20XX.12.31 දිනට පිළියෙල කරන ලද ශේෂ පිරික්සුමේ හර සහ බැර ඓක්‍යය සමාන වුව ද පහත සඳහන් වැරදි පසුව හඳුනාගෙන ඇත.

i. රු. 20 000ක ගැනුම් ඉන්වොයිසියක් සටහන් කිරීම ගිණුම් පොත්වලින් මගහැරි ඇත.
ii. රු. 40 000කට කාර්යාලයේ ප්‍රයෝජනය සඳහා මිලදී ගත් පරිගණක යන්ත්‍රයක පිරිවැය ගැනුම් ගිණුමට හර කර ඇත.
iii. රු. 5 000 ක විදුලි ගාස්තු ගෙවීම වැරදීමකින් රක්ෂණ ගාස්තු ගිණුමට හර කර ඇත.
iv. අයිතිකරු විසින් ඔහුගේ පෞද්ගලික ප්‍රයෝජනයට ලබාගත් රු. 12 000ක භාණ්ඩ පිළිබඳ ව සටහන් කිරීම මගහැරී ඇත.

අවශ්‍ය වන්නේ ෑ-

1. ඉහත සඳහන් වැරදි නිවැරදි කිරීමේ ජ'නල් සටහන් පිළියෙල කිරීම

## 12.5 ශේෂ පිරික්සුමේ සමානත්වයට බලපෑමක් ඇති කරන ගිණුම්කරණ වැරදි

ගිණුම්කරණ ක්‍රියාවලියේදී සිදුවන සමහර වැරදි නිසා පිළියෙල කරන ශේෂ පිරික්සුමේ හර ශේෂ එකතුව සහ බැර ශේෂ එකතුව අතර වෙනසක් ඇති වේ. එවැනි වැරදි ශේෂ පිරික්සුමේ සමානත්වයට බලපාන වැරදි ලෙස හැඳින්වේ. ශේෂ පිරික්සුම තුළින් හෙළිදරව් වන වැරදි ලෙස හඳුන්වන්නේ ද මේවා ය. වැරදි මොනවා ද යන්න හඳුනා ගැනීමට ගිණුම් පරීක්ෂණයක් කළ යුතු ය. කෙසේ වුව ද ඒ සඳහා සැලකිය යුතු කාලයක් ගතවිය හැකි ය. එබැවින් වැරදි අනාවරණය කරගෙන නිවැරදි කරන තෙක් ශේෂ පිරික්සුමේ වෙනස අවිනිශ්චිත ගිණුමකට පිටපත් කළ යුතු ය.

### අවිනිශ්චිත ගිණුම

ශේෂ පිරික්සුමේ හර ශේෂ එකතුව සහ බැර ශේෂ එකතුව අතර වෙනසක් ඇති විටෙක ඊට හේතු වූ ගිණුම්කරණ වැරදි සොයා ඒවා නිවැරදි කරන තෙක් ශේෂ පිරික්සුමේ වෙනස තාවකාලිකව සටහන් කරන ගිණුම අවිනිශ්චිත ගිණුම වශයෙන් හඳුන්වනු ලැබේ.

අවිනිශ්චිත ගිණුමක් විවෘත කරන්නේ පහත සඳහන් පරිදි ය.

i. ශේෂ පිරික්සුමේ හර ශේෂ එකතුව සහ බැර ශේෂ එකතුව අතර වෙනස හඳුනා ගන්න.

ii. එම වෙනස ශේෂ පිරික්සුමේ අගය අඩුවෙන් පවතින තීරුවට ඇතුළත් කර තාවකාලික ව ශේෂ පිරික්සුමේ එකතු සමාන කරන්න.

iii. එම වෙනස කුමක්ද යන්න නිශ්චිතවම නොදන්නා නිසා ඇතුළත් කළ අගය ඉදිරියෙන් අවිනිශ්චිත ගිණුම ලෙස ලියා අදාළ අගය අවිනිශ්චිත ගිණුමට පිටපත් කරන්න.

ඒ අනුව ශේෂ පිරික්සුමේ හර ශේෂ එකතුවට වඩා බැර ශේෂ එකතුව අඩුනම් එම වෙනස අවිනිශ්චිත ගිණුමේ බැර පැත්තට පිටපත් කරන අතර බැර එකතුවට වඩා හර එකතුව අඩුනම් එම වෙනස අවිනිශ්චිත ගිණුමේ හර පැත්තට පිටපත් කරයි.

**නිදසුන් :-**

ජානකගේ ව්‍යාපාරය විසින් 20XX.12.31 දිනට පිළියෙල කරන ලද ශේෂ පිරික්සුමේ හර හා බැර තීරුවල ඓක්‍යය සමාන නොවී ය. එම ශේෂ පිරික්සුම පහත දැක්වේ.

ජානකගේ ව්‍යාපාරය
20XX.12.31 දිනට ශේෂ පිරික්සුම

| ගිණුමේ නම | හර රු. | බැර රු. |
|---|---|---|
| මුදල් ගිණුම | 50 000 | |
| ප්‍රවාහන වියදම් ගිණුම | 11 000 | |
| විකුණුම් ගිණුම | | 350 000 |
| ගැනුම් ගිණුම | 130 000 | |
| ප්‍රාග්ධන ගිණුම | | 360 000 |
| රථ වාහන ගිණුම | 520 000 | |
| බැංකු ණය ගිණුම | | 190 000 |
| ගැනිලි ගිණුම | 24 000 | |
| උපකරණ ගිණුම | 140 000 | |
| විදුලි වියදම් ගිණුම | 20 000 | |
| අවිනිශ්චිත ගිණුම | 5 000 | |
| | 900 000 | 900 000 |

ඉහත ශේෂ පිරික්සුමේ වෙනස අවිනිශ්චිත ගිණුමේ පහත දැක්වෙන අයුරින් සටහන් කරනු ලැබේ.

හර අවිනිශ්චිත ගිණුම බැර

| දිනය | විස්තරය | ලෙ. පි. | වටිනාකම රු. | දිනය | විස්තරය | ලෙ. පි. | වටිනාකම රු. |
|---|---|---|---|---|---|---|---|
| | ශේෂ පිරික්සුමේ වෙනස | | 5 000 | | | | |



### ක්‍රියාකාරකම 03

පහත දැක්වෙනුයේ නවීන්ගේ ව්‍යාපාරයේ 20XX.03.31 දිනට පිළියෙල කරන ලද ශේෂ පිරික්සුමේ හර හා බැර තීරුවල එකතුවයි.

හර තීරුවේ එකතුව රු. 545 000
බැර තීරුවේ එකතුව රු. 520 000

අවිනිශ්චිත ගිණුමට මාරු කළ යුතු අගය සොයා එය එම ගිණුමෙහි සටහන් කළ යුත්තේ කුමන පැත්තේ දැයි දක්වන්න.

## ශේෂ පිරික්සුම තුළින් අනාවරණය වන වැරදි නිවැරදි කිරීම

ශේෂ පිරික්සුමේ වෙනස අවිනිශ්චිත ගිණුමේ සටහන් කිරීමෙන් පසු එම වෙනසට හේතු හඳුනාගත යුතු ය. ගිණුම්කරණ ක්‍රියාවලිය තුළ සිදුවී ඇති සියලු වැරදි නිවැරදි කළ පසු අවිනිශ්චිත ගිණුම පොත්වලින් ඉවත් විය යුතු ය. මේ නිසා ඇතැම් ගිණුම්කරණ වැරදි නිවැරදි කරන විට අවිනිශ්චිත ගිණුමේ ද සටහන් තැබිය යුතු ය. අවිනිශ්චිත ගිණුමේ ශේෂය ඇතිවීමට බලපා ඇත්තේ ශේෂ පිරික්සුමේ අසමානත්වයට බලපාන වැරදි පමණි. මේ නිසා එම වැරදි නිවැරදි කිරීමේ දී ද්විත්ව සටහනෙන් එක් සටහනක් අවිනිශ්චිත ගිණුමේ සටහන් කිරීමට සිදු වේ. මෙසේ ශේෂ පිරික්සුමක් තුළින් අනාවරණය වන වැරදි කිහිපයක් සහ ඒවා නිවැරදි කරන ආකාරය පහතින් විස්තර කොට ඇත.

**01. ගනුදෙනුවක ද්විත්ව සටහනෙන් එක් සටහනක් පමණක් ඇතුළත් වීම**

**නිදසුන් :-**

රු. 15 000 දුරකථන ගාස්තු ගෙවීම මුදල් පොතේ පමණක් සටහන් කර තිබීම

මෙහි දී අදාළ වටිනාකම දුරකථන ගාස්තු ගිණුමට හර කර නැත. ඒ නිසා එය නිවැරදි කිරීමට දුරකථන ගාස්තු ගිණුමට හර කළ යුතු ය. මුදල් පොත දැනටමත් බැර කර ඇති නිසා මුදල් පොත නිවැරදි ය. එහෙත් හර සටහන නොතිබුණු නිසා ශේෂ පිරික්සුමේ හර පැත්තේ එකතුව රු. 15 000ක් අඩු වී අවිනිශ්චිත ගිණුමේ රු. 15 000ක් හර ශේෂයක් ඇති වී තිබේ. එය නිවැරදි කිරීමට අවිනිශ්චිත ගිණුමට බැර කළ යුතු ය.



රූපය 12.1

පොදු ජ'නලය

| දිනය | වවුචර අංකය | විස්තරය | ලෙ.පි | හර රු. | බැර රු. |
|---|---|---|---|---|---|
| | | දුරකථන ගාස්තු ගිණුම හර<br>අවිනිශ්චිත ගිණුම<br>(දුරකථන ගාස්තු ගිණුමට රු. 15 000ක් හර නොවීමේ වරද නිවැරදි කිරීම) | | 15 000 | 15 000 |

**02. ගනුදෙනුවක ද්විත්ව සටහනෙන් එක් සටහනක් පමණක් නිවැරදි ව සටහන් කර අනෙක් සටහන සඳහා වැරදි සංඛ්‍යාවක් සටහන් කිරීම**

**නිදසුන් :-**

රු. 54 000ක අත්පිට විකුණුම් මුදල් පොතේ නිවැරදි ව සටන් කර විකුණුම් ගිණුමට රු. 45 000ක් ලෙස බැර කිරීම.

මෙහි දී විකුණුම් ගිණුමට රු. 9 000ක් අඩුවෙන් බැර කර ඇත. එය නිවැරදි කිරීමට විකුණුම් ගිණුමට රු. 9 000ක් බැරකර අවිනිශ්චිත ගිණුමට හර කළ යුතු ය. රු. 9 000ක් අඩුවෙන් බැර කර තිබීම නිසා ශේෂ පිරික්සුමේ බැර එකතුව රු. 9 000ක් අඩුවන අතර අවිනිශ්චිත ගිණුමේ රු. 9 000ක බැර ශේෂයක් ඇති වේ. රු. 9 000ක් අවිනිශ්චිත ගිණුමට හර කිරීම තුළින් අවිනිශ්චිත ගිණුම අහෝසි කළ හැකි ය.



රූපය 12.2

පොදු ජ'නලය

| දිනය | වවුචර අංකය | විස්තරය | ලෙ.පි | හර රු. | බැර රු. |
|---|---|---|---|---|---|
| | | අවිනිශ්චිත ගිණුම හර<br>විකුණුම් ගිණුම<br>(විකුණුම් ගිණුම රු 9 000ක් අඩුවෙන් සටහන් වීමේ වරද නිවැරදි කිරීම) | | 9 000 | 9 000 |

**03. ගනුදෙනුවේ ද්විත්ව සටහන් අදළ ගිණුම්වල එක ම පැත්තේ සටහන් කිරීම**

ගනුදෙනුවක වටිනාකම අදළ ගිණුම් දෙකේ ම එක ම පැත්තේ සටහන් වී තිබිය හැකි ය.

**නිදසුන් ඃ-**

ණයගැතියෙකුගෙන් ලැබුණු රු. 5 000ක් මුදල් පොතට හර කර ණයගැති ගිණුමට ද හර කර තිබීම

මෙහි දී එක් ගිණුමකට රු. 5 000 බැගින් ගිණුම් දෙකට ම හර කර ඇත. කිසිදු අගයක් බැර කර නැත. මේ නිසා ශේෂ පිරික්සුමේ බැර එකතුව රු. 10 000ක් අඩු වේ. එම නිසා අවිනිශ්චිත ගිණුමේ රු. 10 000ක බැර ශේෂයක් ඇති වේ. එය අහෝසි කිරීමට අවිනිශ්චිත ගිණුමට රු. 10 000ක් හර කළ යුතු ය. ණයගැති ගිණුමට බැර කළ යුතුව තිබූ අගය හර කර ඇති නිසා වැරදියට තැබූ හර සටහන ඉවත් කිරීමට රු. 5 000ක් බැර කළ යුතු ය. ඊට අමතරව බැර විය යුතු අගය ණයගැති ගිණුමට බැර කළ යුතු ය. ඒ අනුව ණයගැති ගිණුම නිවැරදි කිරීමට එම ගිණුමට රු. 10 000ක් බැර කළ යුතු ය.



රූපය 12.3

පොදු ජ'නලය

| දිනය | වවුචර අංකය | විස්තරය | ලෙ.පි | හර රු. | බැර රු. |
|---|---|---|---|---|---|
| | | අවිනිශ්චිත ගිණුම හර<br>ණයගැති ගිණුම<br>(ණයගැතියෙකුගෙන් ලැබුණු රු. 5 000ක් මුදල් පොතට හර කර ණයගැති ගිණුමට ද හර කර තිබීමේ වරද නිවැරදි කිරීම) | | 10 000 | 10 000 |

## 04. ලෙජර් ගිණුම් තුලනය කිරීමේ දී සිදුවන වැරදි

**නිදසුන් :-**

ගැනුම් ගිණුමේ නිවැරදි එකතුව වූ රු. 25 000, රු. 5 000ක් ලෙස ගැනුම් ගිණුමේ සටහන් කිරීම



රූපය 12.4

මෙහි දී ගැනුම් ගිණුමේ ශේෂය රු. 20 000ක් අඩු වීම හේතුවෙන් ශේෂ පිරික්සුමේ හර එකතුව රු. 20 000කින් අඩු වේ. එම වෙනස නිසා අවිනිශ්චිත ගිණුමේ රු. 20 000ක හර ශේෂයක් ඇති වේ. එය අහෝසි කිරීමට එම අගය අවිනිශ්චිත ගිණුමට බැර කළ යුතු ය. එසේ ම ගැනුම් ගිණුමේ ශේෂය රු. 20 000ක් අඩු ය. එම නිසා එය නිවැරදි කිරීමට ගැනුම් ගිණුම රු. 20 000ක් හර කළ යුතු ය.

පොදු ජ'නලය

| දිනය | වවුචර අංකය | විස්තරය | ලෙ.පි | හර රු. | බැර රු. |
|---|---|---|---|---|---|
| | | ගැනුම් ගිණුම හර<br>අවිනිශ්චිත ගිණුම<br>(ගැනුම් ගිණුමේ නිවැරදි එකතුව වූ රු. 25 000 රු. 5 000ක් ලෙස සටහන් වීම නිවැරදි කිරීම) | | 20 000 | 20 000 |

## 05. ශේෂ පිරික්සුම පිළියෙල කිරීමේදී සිදුවන වැරදි

ව්‍යාපාරයක ලෙජරයේ ඇති සියලු ගිණුම් තුලනය කිරීමෙන් අනතුරු ව ශේෂ පිරික්සුම පිළියෙල කිරීමේදී ද වැරදි සිදුවීමට අවකාශ ඇත.

මෙහිදී

- ඇතැම් ගිණුම්වල ශේෂ ශේෂ පිරික්සුමට උපුටා නොගැනීම
- ඇතැම් ගිණුම්වල නිවැරදි ශේෂ වෙනුවට වැරදි ශේෂ ශේෂ පිරික්සුමේ සටහන් කිරීම
- ගිණුම්වල ශේෂ ශේෂ පිරික්සුමේ වැරදි තීරුවේ සටහන් කිරීම වැනි වැරදි සිදුවේ.

අනෙකුත් වැරදි සමග සැසඳීමේ දී ශේෂ පිරික්සුම පිළියෙල කිරීමේ දී සිදුවන වැරදිවල සුවිශේෂී භාවයක් ඇත. මෙහි දී අදාළ ලෙජර ගිණුම් තුළ කිසිදු වරදක් සිදු වී නැත. වැරදි සිදු වී ඇත්තේ ශේෂ පිරික්සුමේ පමණි. එබැවින් ලෙජර් ගිණුම් නිවැරදි කිරීමක් අවශ්‍ය නොවේ. කෙසේ වුව ද ශේෂ පිරික්සුමේ වෙනසක් ඇති බැවින් එම වෙනස අවිනිශ්චිත ගිණුමකට සටහන් කර ඇත. ඒ අනුව අවිනිශ්චිත ගිණුම ඉවත් කිරීම පමණක් ප්‍රමාණවත් වේ.

**නිදසුන් :-**

රු. 10 000ක් වූ ගොඩනැගිලි කුලී වියදම් ගිණුමේ ශේෂය ශේෂ පිරික්සුමේ සටහන් වී නැත.

මෙහි දී ගොඩනැගිලි කුලී වියදම් ගිණුමට බලපෑමක් සිදු වී නොමැති බැවින් එය නිවැරදි කිරීමක් අවශ්‍ය නොවේ. එහෙත් ශේෂ පිරික්සුමේ හර පැත්තේ රු. 10 000ක් අඩු බැවින් අවිනිශ්චිත ගිණුමේ රු. 10 000ක හර ශේෂ යක් ඇති වේ. ඒ අනුව අවිනිශ්චිත ගිණුම ඉවත් කිරීමට රු. 10 000ක් අවිනිශ්චිත ගිණුමට බැර කිරීමෙන් ද අත්හැරුණු අගය ශේෂ පිරික්සුමේ සටහන් කිරීමෙන් ද සිදුවී ඇති වරද නිවැරදි කළ හැකි ය.



රූපය 12.5

පොදු ජ'නලය

| දිනය | වවුචර අංකය | විස්තරය | ලෙ.පි | හර රු. | බැර රු. |
|---|---|---|---|---|---|
| | | අවිනිශ්චිත ගිණුම (ගොඩනැගිලි කුලී වියදම් ගිණුමේ ශේෂය ශේෂ පිරික්සුමට උපුටා නොගැනීමේ වරද නිවැරදි කිරීම) | | | 10 000 |



රූපය 12.6

ශේෂ පිරික්සුමේ සමානත්වයට බලපාන වරදක් නිවැරදි කිරීමේ දී එක් සටහනක් අවිනිශ්චිත ගිණුමේත් අනෙක් සටහන වැරදි සිදු වී ඇති අනෙක් ගිණුමේත් සටහන් විය යුතු ය.

ශේෂ පිරික්සුමේ සමානත්වයට බල නොපාන වැරදි නිවැරදි කිරීමේදී අවිනිශ්චිත ගිණුමට කිසිදු නිවැරදි කිරීමේ සටහනක් තැබීම අවශ්‍ය නොවන අතර වැරදි සිදු වී ඇති ගිණුම් දෙක හඳුනාගෙන නිවැරදි කිරීම සිදු කළ යුතු ය.

**නිදසුන් ඃ-**

කසුනිගේ ව්‍යාපාරය විසින් 20XX.12.31 දිනට පිළියෙල කරන ලද ශේෂ පිරික්සුමේ හර හා බැර තීරුවල එකතුයන් සමාන නොවී ය. එම ශේෂ පිරික්සුම පහත දැක්වේ.

කසුනිගේ ව්‍යාපාරය,
20XX.12.31 දිනට ශේෂ පිරික්සුම

| ගිණුමේ නම | හර රු. | බැර රු. |
|---|---|---|
| මුදල් ගිණුම | 56 000 | |
| දුරකථන ගාස්තු ගිණුම | 5 000 | |
| විකුණුම් ගිණුම | | 300 000 |
| ගැනුම් ගිණුම | 150 000 | |
| ප්‍රාග්ධන ගිණුම | | 400 000 |
| ඉඩම් හා ගොඩනැගිලි ගිණුම | 500 000 | |
| බැංකු ණය ගිණුම | | 200 000 |
| ගැනිලි ගිණුම | 34 000 | |
| ලී බඩු උපකරණ ගිණුම | 130 000 | |
| ලද පොලී ගිණුම | 10 000 | |
| අවිනිශ්චිත ගිණුම | 15 000 | |
| | 900 000 | 900 000 |

පහත සඳහන් ගිණුම්කරණ වැරදි හඳුනාගෙන ඇත.

01. විදුලි ගාස්තු ගිණුමේ ශේෂය වූ රු. 16 000 ශේෂ පිරික්සුමට උපුටාගෙන නැත.
02. ලැබූ පොලී ගිණුමේ ශේෂය වූ රු. 10 000 ශේෂ පිරික්සුමේ හර තීරුවේ සටහන් කොට ඇත.
03. රු. 30 000ක බැංකු ණය පියවීම සටහන් කොට ඇත්තේ මුදල් පොතේ පමණි.
04. ගැනුම් ගිණුමේ ශේෂය වූ රු. 130 000 ශේෂ පිරික්සුමේ සටහන් කර ඇත්තේ රු. 150 000ක් ලෙස ය.
05. ගැනිලි ගිණුම තුලනය කිරීමේ දී එහි එකතුව වූ රු. 43 000 සටහන් කොට ඇත්තේ රු. 34 000ක් ලෙස ය.

**ඉහත සඳහන් කසුනිගේ ව්‍යාපාරයේ ගිණුම්කරණ දෝෂ නිවැරදි කරන ආකාරය පහත දැක්වෙන පරිදි විස්තර කළ හැකි ය.**

01. විදුලි ගාස්තු ගිණුමේ ශේෂය වූ රු. 16 000 ශේෂ පිරික්සුමට උපුටා නොගැනීමේ හේතුවෙන් ශේෂ පිරික්සුමේ හර තීරුවේ රු. 16 000ක ඌනතාවක් පවතී. එබැවින් රු. 16 000ක් ශේෂ පිරික්සුමට හර තීරුවේ ලිවිය යුතු අතර එම අගය අවිනිශ්චිත ගිණුමට බැර විය යුතු ය.

02. ලැබූ පොලී ගිණුම ආදායම් ගිණුමක් බැවින් එය ශේෂ පිරික්සුමේ දැක්විය යුත්තේ බැර පැත්තේ ය. රු. 10 000ක් වූ එම ගිණුම හර පැත්තේ සටහන් කිරීම තුළින් බැරට රු. 20 000ක ඌනතාවක් පවතී. එබැවින් රු. 20 000ක් ශේෂ පිරික්සුමේ බැර තීරුවේ ලිවිය යුතු අතර අවිනිශ්චිත ගිණුම හර විය යුතු ය.

03. බැංකු ණය පියවීමේ දී මුදල් පොත බැර කොට බැංකු ණය ගිණුම හර කළ යුතු නමුදු එය බැංකු ණය ගිණුමේ සටහන් නොකිරීම හේතුවෙන් එම ගිණුම රු. 30 000කින් වැඩි වී ඇත. එහි ප්‍රතිඵලය වන්නේ ශේෂ පිරික්සුමේ බැර තීරුවේ එකතුව රු. 30 000කින් වැඩි වීමයි. එබැවින් රු. 30 000ක් බැංකු ණය ගිණුමට හර කොට අවිනිශ්චිත ගිණුමට බැර කරනු ලැබේ.

04. ගැනුම් ගිණුමේ නිවැරදි ශේෂය වූ රු. 130 000 රු. 150 000ක් ලෙස ශේෂ පිරික්සුමේ සටහන් කිරීම හේතුවෙන් එහි හර තීරුවේ රු. 20 000ක් වැඩි වී ඇත. එය නිවැරදි කර ලිවිය යුතු ය.

05. ගැනිලි ගිණුමේ එකතුව රු. 9 000කින් අඩු වීම නිසා ශේෂ පිරික්සුමේ හර තීරුව රු. 9 000කින් අඩු වී ඇත. එබැවින් රු. 9 000ක් අවිනිශ්චිත ගිණුම බැර කර ගැනිලි ගිණුම හර කළ යුතු ය.

ඉහත සිදු වූ ගිණුම්කරණ වැරදි නිවැරදි කරන ආකාරය පහත සඳහන් පොදු ජ'නලයේ දක්වා ඇත.

පොදු ජ'නලය

| දිනය | ව. අ. | විස්තරය | ලෙ.පි. | හර රු. | බැර රු. |
|---|---|---|---|---|---|
| | | අවිනිශ්චිත ගිණුම<br>(විදුලි ගාස්තු ගිණුමේ ශේෂය ශේෂ පිරික්සුමට උපුටා නොගැනීමේ වරද නිවැරදි කිරීම) | | | 16 000 |
| | | අවිනිශ්චිත ගිණුම හර<br>(ලද පොලී ගිණුමේ ශේෂය ශේෂ පිරික්සුමේ හර තීරුවේ සටහන් කිරීමේ වරද නිවැරදි කිරීම) | | 20 000 | |
| | | බැංකු ණය ගිණුම හර<br>අවිනිශ්චිත ගිණුම<br>(රු. 30 000ක බැංකු ණය පියවීම බැංකුණය ගිණුමට හර නොවීමේ වරද නිවැරදි කිරීම) | | 30 000 | 30 000 |
| | | අවිනිශ්චිත ගිණුම හර<br>(ගැනුම් ගිණුමේ ශේෂය වූ රු. 130 000 රු. 150 000ක් ලෙස ශේෂ පිරික්සුමේ සටහන් වීමේ වරද නිවැරදි කිරීම) | | 20 000 | |
| | | ගැනිලි ගිණුම හර<br>අවිනිශ්චිත ගිණුම<br>(ගැනිලි ගිණුම තුලනය කිරීමේදී රු. 9 000ක් අඩුවෙන් සටහන් වීමේ වරද නිවැරදි කිරීම) | | 9 000 | 9 000 |

ඉහත ගිණුම්කරණ වැරදි නිවැරදි කිරීමේදී පිළියෙළ කරනු ලබන අවිනිශ්චිත ගිණුම පහත දැක්වේ.

හර අවිනිශ්චිත ගිණුම බැර

| දිනය | විස්තරය | ලෙ. පි. | වටිනාකම රු. | දිනය | විස්තරය | ලෙ. පි. | වටිනාකම රු. |
|---|---|---|---|---|---|---|---|
| | ශේෂ පිරික්සුමේ වෙනස | | 15 000 | | ........................................ | | 16 000 |
| | ........................................ | | 20 000 | | බැංකු ණය ගිණුම | | 30 000 |
| | ........................................ | | 20 000 | | ගැනිලි ගිණුම | | 9 000 |
| | | | 55 000 | | | | 55 000 |



*ක්‍රියාකාරකම 04*

සමිතගේ ව්‍යාපාරය විසින් 20xx.12.31 දින පිළියෙළ කරනු ලැබූ ශේෂ පිරික්සුමේ හර සහ බැර තීරුවල එකතුව එකිනෙකට සමාන නොවූ හෙයින් එම වෙනස වූ රු. 5 500 අවිනිශ්චිත ගිණුමේ බැර කරන ලදී. පසු ව සිදු කළ පරීක්ෂාවේ දී පහත දැක්වෙන වැරදි සොයා ගනු ලැබී ය.

01. දුරකථන ගාස්තු ගිණුමේ හර පැත්තෙහි එකතුව රු. 5 000ක් අඩුවෙන් සටහන් කර ඇත.
02. ගොඩනැගිලි අලුත්වැඩියාව සඳහා ගෙවූ රු. 30 000ක් මුදල් පොතේ නිවැරදි ව සටහන් කොට ගොඩනැගිලි ගිණුමට හර කොට ඇත.
03. ගැනුම් සඳහා නිකුත් කළ රු. 45 000ක චෙක්පත මුදල් පොතේ නිවැරදි ව සටහන් කර ඇති නමුත් ගැනුම් ගිණුමට හර කොට ඇත්තේ රු. 54 000ක් ලෙසිනි.
04. රු. 5 000ක් වූ වැටුප් ගිණුමේ ශේෂය ශේෂ පිරික්සුමේ දක්වා ඇත්තේ රු. 500ක් ලෙසිනි.
05. විකුණුම් ගිණුමේ බැර පැත්ත රු. 6 000ක් අඩුවෙන් එකතු කර ඇත.

අවශ්‍ය වන්නේ :-

1. ඉහත සඳහන් වැරදි නිවැරදි කිරීමේ ජ'නල් සටහන්
2. ආරම්භක ශේෂය දක්වමින් අවිනිශ්චිත ගිණුම පිළියෙල කිරීම

## ක්‍රියාකාරකම 05

ව්‍යාපාරයක් විසින් පිළියෙළ කරන ලද ශේෂ පිරික්සුමක බැර තීරුවේ එකතුව හර තීරුවට වඩා රු. 6 200කින් වැඩි වූ අතර ඒ සඳහා පහත දැක්වෙන ගිණුම්කරණ වැරදි බලපා ඇත.

01. රු. 5 600ක් වූ රක්ෂණ ගාස්තු ගෙවීම රක්ෂණ ගාස්තු ගිණුමට හර කොට ඇත්තේ රු. 6 500ක් ලෙසයි.

02. රු. 9 000ක් වූ ලැබූ ගෙවල් කුලී මුදල් පොතට හර කිරීම හැර වෙනත් සටහනක් තබා නොමැත.

03. රු. 1 500ක් වූ මුදල් ගැනිලි සටහන් කොට ඇත්තේ මුදල් පොතේ පමණි.

04. රු. 7 500ක් වූ බැංකු ණය වාරිකය ගෙවීම පිළිබඳ හර සටහනක් තබා නොමැත.

05. වැටුප් ගිණුම් ශේෂය වූ රු. 7 100 ශේෂ පිරික්සුමෙන් මගහැරී ඇත.

අවශ්‍ය වන්නේ :-

1. ඉහත වැරදි කිරීමේ ජ'නල් සටහන්
2. අවිනිශ්චිත ගිණුම

## ක්‍රියාකාරකම 06

දිනිතිගේ ව්‍යාපාරයේ 20xx.12.31 දිනට පිළියෙල කරන ලද ශේෂ පිරික්සුම සමාන නොවූයෙන් එහි වෙනස අවිනිශ්චිත ගිණුමකට මාරු කරන ලදී. පසු ව වෙනසට හේතු වූ කරුණු සොයා එම වැරදි පොදු ජ'නලයක් මගින් නිවැරදි කොට ශේෂ පිරික්සුම නිවැරදි කරන ලදි.

පහත දක්වා ඇත්තේ දිනිතිගේ ව්‍යාපාරයේ ගිණුම් ලිපිකරු ගිණුම්කරණ වැරදි නිවැරදි කිරීමේ දී පිළියෙල කර ඇති අවිනිශ්චිත ගිණුමයි.

හර　　　　　　　　අවිනිශ්චිත ගිණුම　　　　　　　　බැර

| දිනය | විස්තරය | ලෙ. පි. | වටිනාකම රු. | දිනය | විස්තරය | ලෙ. පි. | වටිනාකම රු. |
|---|---|---|---|---|---|---|---|
| | විකුණුම් ගිණුම | | 11 000 | | උපකරණ ගිණුම | | 10 000 |
| | රක්ෂණ ගාස්තු ගිණුම | | 2 000 | | වේතන ගිණුම | | 5 000 |
| | | | | | ගැනුම් | | 4 000 |

පහත දැක්වෙන ප්‍රශ්න සඳහා පිළිතුරු සපයන්න.

1. වැරදි නිවැරදි කිරීමට පෙර ශේෂ පිරික්සුමේ තිබූ වෙනස කොපමණ ද?
2. අගය අඩුවෙන් දැක්වෙනුයේ ශේෂ පිරික්සුමේ කුමන තීරුවේ ද?
3. අවිනිශ්චිත ගිණුමේ ශේෂය ඇතුළත් කිරීමට පෙර ලෙජරයේ හර ශේෂවල එකතුව රු. 25 455ක් වූයේ නම් එහි සඳහන් ව තිබූ බැර ශේෂවල එකතුව කොපමණද?
4. ඉහත ව්‍යාපාරයේ ලෙජර් ගිණුම්වල සිදු වූයේ යැයි අපේක්ෂා කළ හැකි වැරදි හැකි තරම් පෙළගස්වන්න. මේ සඳහා ඔබේ මිතුරා ද සහභාගි කරවා ගන්න.



### ක්‍රියාකාරකම 07

සඳුනිගේ ව්‍යාපාරයේ 20XX දෙසැම්බර් 31 දිනට පිළියෙල කරනු ලැබූ ශේෂ පිරික්සුමේ හර සහ බැර තීරුවල එකතු සමාන නොවී ය. ඒවායේ වෙනස අවිනිශ්චිත ගිණුමකට මාරු කළ අතර පහත සඳහන් වැරදි පසු ව සොයා ගන්නා ලදී.

01. ව්‍යාපාරයේ යන්ත්‍ර අලුත්වැඩියා කිරීමට වැය කරන ලද රු. 20 000ක් යන්ත්‍ර ගිණුමට හර කර ඇත.

02. ගැනුම් ගිණුමේ එකතුව රු. 5 000ක් වැඩියෙන් දක්වා ඇත.

03. රු. 7 000ක විදුලි ගාස්තු ගෙවීම විදුලි ගාස්තු ගිණුමට හර කර ඇත්තේ රු. 700ක් ලෙස ය.

04. රු. 8 000ක් වූ දුරකථන ගාස්තු ගෙවීම දුරකථන ගාස්තු ගිණුමට රු. 10 000ක් ලෙස හර කර ඇති අතර රු. 16 000ක් වූ පොලී ලැබීම පොලී ගිණුමට රු. 18 000ක් ලෙස බැර කර ඇත.

05. අයිතිකරු තම පෞද්ගලික ප්‍රයෝජනය සඳහා ව්‍යාපාරයෙන් ලබාගත් රු. 8 000ක භාණ්ඩ ගැනිලි ගිණුමට දෙවරක් හර කර ඇත.

06. රු. 25 000ක ණයට විකුණුම් ගිණුම් පොත්වලින් මගහැරී ඇත.
08. සුළු මුදල් පොතේ ගමන් ගාස්තු තීරුවේ එකතුව වූ රු. 250 ගමන් ගාස්තු ගිණුමේ සටහන් කර නැත.

අවශ්‍ය වන්නේ,

01. ඉහත සඳහන් තොරතුරුවලින් අවිනිශ්චිත ගිණුමට බලපෑමක් ඇති නොවූ වැරදි දක්වා ඒවා නිවැරදි කිරීමට අවශ්‍ය ජ'නල් සටහන්

02. අවිනිශ්චිත ගිණුම පිළියෙල කර ශේෂ පිරික්සුමේ එකතුයන් අතර තිබූ වෙනස දක්වීම

(මෙම පොතෙහි දැක්වෙන සියලු ම පින්තූර අන්තර්ජාලය තුළිනි.)

## පාරිභාෂික වචන මාලාව

| | |
|---|---|
| Acceleration | වේගවත් කිරීම |
| Accepted | පිළිගත් |
| Accomplish | අත්කර ගන්නවා |
| Accordingly | ඒ අනුසාරයෙන්, එ පරිදි |
| Account | ගිණුම |
| Accounting errors | ගිණුම්කරණ වැරදි |
| Adopt | යොදා ගන්නවා |
| Advantage | වාසිය |
| Agreement | ගිවිසුම |
| Asset | වත්කම |
| Assigned | පවරන ලද |
| Assume | උපකල්පනය කරනවා |
| Balance | ශේෂය |
| Bank loan | බැංකු ණය |
| Bankrupt | බුන්වත් වීම |
| Business | ව්‍යාපාරය |
| Capital | ප්‍රාග්ධනය |
| Cash book | මුදල් පොත |
| Cash discount | මුදල් වට්ටම |
| Cashier | මුදල් අයකැමි |
| Categorize | වර්ග කරනවා |
| Characteristic | ලක්ෂණය |
| Collectively | සාමූහිකව |
| Commodity | පාරිභෝගික භාණ්ඩ |
| Communication | සන්නිවේදනය |
| Community | ප්‍රජාව |
| Compare | සසඳනවා |
| Competency | නිපුණත්වය |
| Competitor | තරගකරුවා |
| Concept | සංකල්පය |
| Consolidate | ඒකාබද්ධ කරනවා |
| Consumer | පාරිභෝගිකයා |
| Consumption | පරිභෝජනය |
| Continuously | අඛණ්ඩව |

| | |
|---|---|
| Convenient | පහසු |
| Co-operative Society | සමූපකාර සමිතිය |
| Correction | නිවැරදි කිරීම |
| Credit | බැර |
| Creditor | ණයහිමියා |
| Currency | මුදල් |
| Customer | ගනුදෙනුකරු |
| Debit | හර |
| Debtor | ණයගැතියා |
| Decrease | අඩු වීම |
| Dedication | කැපවීම |
| Department | දෙපාර්තමේන්තුව |
| Description | විස්තරය |
| Difficult | දුෂ්කර |
| Discount allowed | දුන් වට්ටම |
| Discount received | ලද වට්ටම |
| Distinct | වෙනස් |
| Distribute | බෙදාහරිනවා |
| Diversification | විවිධාංගීකරණය |
| Double entry theory | ද්විත්ව සටහන් න්‍යාය |
| Dual function | ද්විත්ව ක්‍රියාකාරීත්වය |
| Dual impact | ද්විත්ව බලපෑම |
| Earning | ඉපැයුම |
| Embargo | සම්බාධක |
| Emphasize | අවධාරණය කරනවා |
| Employee | සේවකයා |
| Entrepreneurship | ව්‍යවසායකත්වය |
| Environment | පරිසරය |
| Equation | සමීකරණය |
| Equipment | උපකරණ |
| Equity | හිමිකම |
| Especially | විශේෂයෙන් ම |
| Essential | අත්‍යවශ්‍ය |
| Established | පිහිටුවන ලද |
| Evidence | සාක්ෂි |
| Excess | අතිරික්ත |

| | |
|---|---|
| Excess | වැඩිපුර |
| Existence | පැවැත්ම |
| Expense | වියදම |
| Factor | සාධකය |
| Factors of production | නිෂ්පාදන සාධක |
| Favourable | වාසිදායක |
| Financial institution | මූල්‍ය ආයතන |
| For profit business | ලාභ අරමුණු කරගත් ව්‍යාපාරය |
| Foreign exchange | විදේශ විනිමය |
| Format | ආකෘතිය |
| General journal | පොදු ජර්නලය |
| Globalization | ගෝලීයකරණය |
| Gradually | අනුක්‍රමයෙන් |
| Identification | හඳුනාගැනීම |
| Immense | අති විශාල |
| Impact | බලපෑම |
| Implementation | ක්‍රියාත්මක කිරීම |
| Importance | වැදගත්කම |
| Incentives | දිරිගැන්වීම් |
| Incorporated companies | සංස්ථාපිත සමාගම් |
| Individual | කේවල |
| Inflation | උද්ධමනය |
| Inflow | ගලා ඒම |
| Influence | බලපෑම |
| Infrastructure | යටිතල පහසුකම් |
| Innovations | නවයතා |
| Instance | මොහොත |
| Interconnection | අන්තර් සම්බන්ධතාව |
| Invoice | ඉන්වොයිසිය |
| Ledger | ලෙජරය |
| Legal personality | නීතිමය පුද්ගලභාවය |
| Liability | වගකීම |
| Limited | සීමාසහිත |
| Maintain | නඩත්තු කරනවා |
| Manager | කළමණාකරු |
| Mandatory | අනිවාර්ය |

| | |
|---|---|
| Manufacturing | නිෂ්පාදනය |
| Medium scale | මධ්‍ය පරිමාණ |
| Mentioned | සඳහන් කරන ලද |
| Motive | චේතනාව |
| Narration | සංලක්ෂය |
| Necessity | අවශ්‍යතාව |
| Needs and wants | අවශ්‍යතා හා වුවමනා |
| Not for profit business | ලාභ අරමුණු කර නොගත් ව්‍යාපාරය |
| Objective | අරමුණ |
| Obligations | වගකීම් |
| Obtain | ලබා ගන්නවා |
| Occur | සිදු වෙනවා |
| Organization | සංවිධානය |
| Oriented | දිශානත |
| Outflow | ගලා යාම |
| Owner | අයිතිකරු |
| Partnership | හවුල් ව්‍යාපාරය |
| Payment | ගෙවීම |
| Petty cash book | සුළු මුදල් පොත |
| Petty cash imprest | සුළු මුදල් අග්‍රිමය |
| Positively | ධනාත්මකව |
| Posting | සටහන් කිරීම |
| Prevention | වැළැක්වීම |
| Private sector | පුද්ගලික අංශය |
| Procedure | ක්‍රියා පටිපාටිය |
| Produce | නිෂ්පාදනය කරනවා |
| Production | නිෂ්පාදනය |
| Professional | වෘත්තීය |
| Profit | ලාභය |
| Proportion | කොටස |
| Public sector | රාජ්‍ය අංශය |
| Purchases | ගැනුම් |
| Purchases journal | ගැනුම් ජර්නලය |
| Quantity | ප්‍රමාණය |
| Receipt | ලැබීම් පත |
| Recognized | හඳුනාගත් |

| | |
|---|---|
| Record | වාර්තා කිරීම/ වාර්තාව |
| Registration | ලියාපදිංචිය |
| Reimbursement | ප්‍රතිපූරණය |
| Relevant | අදාළ |
| Reliably | විශ්වාසවන්ත වූ |
| Remedy | පිළියම |
| Require | අවශ්‍ය වෙනවා |
| Resource | සම්පත් |
| Respective | අදාළ |
| Sacrifice | කැප කරනවා |
| Sales | විකුණුම් |
| Sales journal | විකුණුම් ජර්නලය |
| Scale | පරිමාණය |
| Service | සේවාව |
| Share | කොටස |
| Similarly | එසේම |
| Skills | දක්ෂතා |
| Social | සමාජයීය |
| Society | සමිතිය/සමාජය |
| Sole proprietorship | තනි අයිතිය |
| Specialized | විශේෂිත |
| Stakeholders | ඇල්මැති පාර්ශ්ව |
| State corporation | රාජ්‍ය සංස්ථාව |
| Stationary | ලිපි ද්‍රව්‍ය |
| Subscription | දයක මුදල |
| Sufficient | ප්‍රමාණවත් |
| Supplier | සැපයුම්කරු |
| Suspense account | අවිනිශ්චිත ගිණුම |
| Systematical | ක්‍රමානුකූල |
| Technology | තාක්ෂණය |
| Trade discount | වෙළෙඳ වට්ටම් |
| Trail balance | ශේෂ පිරික්සුම |
| Transaction | ගනුදෙනුව |
| Transmit | සම්ප්‍රේෂණය කරනවා |
| Ultimately | අවසානයේ දී |
| Unlimited | අසීමිත |
| Various | විවිධ |